සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

55 වෙනි කලාපය

ශ්‍රී බු. ව. 2559ක් වූ බක් මස (ව්‍යවහාරික වර්ෂ 2016 අප්‍රේල්)



## හිස මුල් කරගත් රෝගාබාධවලට හා නුවණ වැඩීමට පහන් පූජාවෙන් ප්‍රතිකර්මයක්

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-



# දහමට පළමු තැන දෙනු ලොව දෙවෙනි කොට.....







සැප යැයි මුලා වී මුල් තැන දෙන    දේට
විපතක් පැමිණි කල ඉවසුම් නැත    ඊට
අපමණ සසර සැරිසැරුවද ලොව    කාට
උපදින තැන පිහිට දහමය හැම    දාට

පළවෙනි කළත් සත ලොව කටයුතු    නේක
කෙළවර දුකක් මිස නැත සුව කිසි    දාක
එල දෙන දහම මුල නම් යහපති    ඒක
මළ ගිය විටද නොකරයි ඒ ගැන    සෝක



සත හට වටින දේ මළ විට පිහිට    නැති
සිතකට නොසැහෙයි අපමණ ලොවෙහි    පැති
අත හිත දුනොත් දහමට ගෙන සිතෙහි    බැති
ඇත මතු පිහිට ලොව්තුරු අම සුවය    දෙති



නොපිරෙන ආස්වාදය ලොව සත    රවටා
හැපි හැපි හඹයි ඒ පසු පස නැත    පිහිටා
තැපි තැපි වුවද උරදුන හොත් දම්    මගටා
සපිරෙත නිවන යළි නොවැටෙයි භව    දුකටා

ඉඳ හිට ලැබෙන දම් කටයුතු මග    නොහැරා
මඳකට වුවද කර ලොව කටයුතු    බැහැරා
රැඳවෙනු දහම් මග කටයුතු ලද    අතරා
බිඳලනු සහය දී බියකරු භව    සසරා



සහනය පතා අද අම්බලමකට    බට
මහ ලෙසා නොසිත ලොව කම් කෙටි    දිවියකට
අහනට දුලබ දම් කටයුතු ලැබුණ    විට
දහමට පළමු තැන දෙනු ලොව දෙවෙනි කොට



පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# ධම්ම පදය තුළින් නිවන් මග

22 වන කොටස



ලොවිතුරා ගෞතම බුදුන් වහන්සේ වැඩ වසන කාලයේ විසාලා මහ නුවර කියල රාජධානියක් තිබුනා. මේ රාජධානියේ රජකම් කරපු රාජ පරම්පරාව හැඳින්වුයේ ලිච්ඡවීන් කියල. ඔවුන් ඉතාම ධාර්මිකව රාජ්‍ය පාලනය කරපු රජවරුන් පිරිසක්. මේ ධාර්මික බව නිසාම විසාලා මහනුවර ඉතාම සාරවත් සශ්‍රීක රාජධානියක් වුනා. රජවරුන්ම පමණක් 7777 වරක් වරින් වර පාලනය කළා. ඒ පාලකයන් හැමෝටම ප්‍රාසාද, උයන් වතු, කුල ගෙවල්, පොකුණු ආදිය වෙන වෙනම තිබුනා. ලොවිතුරා බුදුන් වහන්සේ ලිච්ඡවීන්ව සම කළේ චාතුර් මහාරාජික දෙවිවරුන්ට. උන්වහන්සේ භික්ෂූන් වහන්සේලාට ලිච්ඡවී රජ දරුවන් පෙන්වල චාතුර් මහාරාජික දෙවිවරුන්ට සම කළ අවස්ථාවක් ධර්මයේම සඳහන් වෙනවා. ඒ තරම්ම රූප ස්වභාවයෙන් ඉහල, බලන්නන් ප්‍රිය උපදවන පිරිසක් තමයි ලිච්ඡවීන් කියන්නෙ. නමුත් යම් කිසි පෙර කර්ම විපාකයකට හෝ හේතුවකට ඒ නුවර දුර්භික්ෂයක් හටගත්තා. මේ දුර්භික්ෂය නිසා ඒ නුවර හිටපු දුගී අය මුලින්ම මියගියා. තැන තැන තිබුන මළ මිනී නිසා ඊළඟට පැතිරුනේ වසංගත ලෙඩ රෝග. මේ වසංගතයෙන් තවත් බොහෝ අය මියගියා. මළ මිනී, වසංගත රෝග එක්ක ඊළඟට ඇදුනෙ අමනුස්සයින්. මේ අමනුස්ස බයත් ඒත් එක්කම නුවර පුරා පැතිරුණා. මේ නිසා විසාලා මහනුවර හිටපු මිනිස්සු නිතරම බය තුනකින් වෙලාගෙන හිටියෙ. ඒ තමයි දුර්භික්ෂ බය, රෝග බය, අමනුස්ස බය.

ඉතින් නුවර වැසියන් මේ බය ගැන රජතුමාට පැමිණිලි කළා. කලින් ධර්මිෂ්ට රජවරු හිටපු කාලයේ මෙහෙම දෙයක් අපි අහලවත් තිබුනෙ නෑ, දැන් එකපාරටම මොකද වුනේ කියල ලිච්ඡවීන් කල්පනා කළා. කල්පනා කළේ රජතුමා අතින් කිසියම් අධාර්මික දෙයක් සිද්ධ වුනාද කියල. ඒත් එහෙම දෙයක් හොයා ගන්නවත් බැරි වුනා. ඊට පස්සෙ එහෙම වැරැද්දක් නැති නිසා පිලියමක් යොදන්න සියල්ලෝම එක් රැස් වෙලා කතා කර ගත්තා. මෙතනදි වැදගත් කාරණයක් දැන ගන්න තියෙනවා. රට වැසියන්ට, රටට යම් කිසි අපල උපද්‍රවයක් එනව නම්, රජතුමා ධාර්මිකද කියල මුලින්ම බලන සිරිතක් තිබුණා. රජතුමාගෙන් වරදක් වුනාද කියල තමයි ඉස්සෙල්ලම බැලුවෙ. **බුද්ධ දේශනාවට අනුවත් රටේ රජු අධාර්මික වුනොත් සිද්ධ වෙන විනාසය පෙන්වා දීල තියෙනවා.**

මහණෙනි, යම් කාලයක රජවරු අධාර්මික වෙනවද, ඒ කාලයේ රාජකාරියේ නියුක්ත පුරුෂයොත් අධාර්මික වෙනවා. ඒ රාජකාරියේ නියුක්ත පුරුෂයන් අධාර්මික වෙනකොට බමුණු ගැහැවියොත් අධාර්මික වෙනවා. බමුණු ගැහැවියන් අධාර්මික වෙනකොට නියම්ගම් දනව් වාසිහුත් අධාර්මික වෙනවා. නියම්ගම් දනව් වැසියන් අධාර්මික වෙනකොට චන්ද්‍ර සූර්යයෝ විෂමව ගමන් කරනවා. චන්ද්‍ර සූර්යයන් විෂමව ගමන් කරන කොට නැකැත් හා තරු විෂම වෙනවා. නැකැත් හා තරු විෂමව යන කොට රෑ දහවල් විෂම වෙනවා. රෑ දහවල් විෂම වෙන කොට මාස අර්ධ මාසයෝ විෂම වෙනවා. මාස අර්ධ මාස විෂම වෙන කොට ඍතු සංවත්සර විෂම වෙනවා. ඍතු සංවත්සර විෂම වෙන කොට වාතයෝ විෂමව හමනවා, මාර්ගයේ හමන්නෙ නැතිව යනවා. විෂම මාර්ගයන්හි විෂම වාතයන් හමන කොට දෙවියෝ කිපෙනවා. දෙවියන් කුපිත වෙනකොට වළාකුළු මනාව ධාරා හෙළන්නෙ නැතිව යනවා. වළාකුළු මනාව ධාරා නොහෙළන කොට විෂමව පැසෙන ශස්‍යයෝ වෙනවා. විෂමව පැසෙන ශස්‍ය අනුභව කරන මනුස්සයින් අල්පායුෂ වෙනවා, දුර්වර්ණ වෙනවා, දුර්වල වෙනවා, බොහෝ ලෙඩ ඇත්තෝ වෙනවා. (අධම්මික රාජ සූත්‍රය - පත්ත කම්ම වර්ගය - චතුක්ක නිපාත පාළි - අංගුත්තර නිකාය.)

ඉතින් බුද්ධ දේශනාව කවදාවත් බොරු වෙන්නෙ නෑ. ලෝකය දිහා බැලුවොත් ඇස් පනාපිට අදටත් පේන්න තියෙන දෙයක්. නමුත් විසාලා මහනුවර එහෙම ප්‍රශ්නයක් තිබුනෙ නෑ. රජු ධාර්මිකයි. ඒකෙ සැකයක් නෑ. නමුත් වෙන මොකක් හෝ හේතුවකින් ඒ නුවර මේ තුන් බිය හටගත්තා. කර්ම විෂය අචින්ත්‍යයි, ලොවිතුරා බුදුන් වහන්සේ නමකට පමණයි 100% ක්ම තේරුම් ගන්න පුළුවන් වෙන්නෙ. ඒක සියල්ලෝම එකතු වෙලා කරපු කර්මයක විපාකයක් නිසා ඒ රටවැසියන් මුහුණ දුන්න ප්‍රශ්නයක් වෙන්නත් පුළුවන්. දැන් සියල්ලෝම එකට රැස්වෙලා මේකට පිළියමක් කල්පනා කළා. පුද පූජා තියන්න, ෂඩ් සාස්තෘවරු ගෙන්වන්න... ආදී නොයෙක් අදහස් ආවා. අවසානයේ සියලු දෙනාම එකඟ වෙලා ලොවිතුරා බුදුන් වහන්සේ වඩම්මවන්න තීරණය කළා. නමුත් ඒ වෙනකොට උන්වහන්සේ ☞

බිම්බිසාර රජතුමාගෙ වස් ආරාධනාවක් පිළිගෙන ඒකට ලෑස්ති වෙමින් හිටියෙ. ලිච්ඡවීන් බිම්බිසාර රජතුමා හමුවෙලා ප්‍රශ්නය කියල බුදුන් වහන්සේට ආරාධනා කළා. සියල්ලෙන් සියල්ල දකින ලොව්තුරා බුදුන් වහන්සේ තැනකට නිකං වඩින්නෙ නෑ. එහෙම වඩිනව නම්, ඒ යන ගමනෙන් කෙනෙකුට අර්ථයක් වෙන්න ඕන. ඉතින් උන්වහන්සේගෙ මහා කරුණා ඥානයෙන් බැලුවා, මේ යන ගමනෙ තේරුමක් තියෙනවද කියල. ඒ අවස්ථාවෙදි දේශනා කරන රතන සූත්‍රය නිසා කෙල දහසක් සක්වලට ඒ පිහිට ආරක්ෂාව පැතිරෙනවා, ඒත් එක්කම 84,000 ක් සත්වයන්ට ධර්මාවබෝධය ලැබිල සියලු බිය දුරු වෙනව කියල දැක්කා. ඒ නිසා ඒ ආරාධනාව පිළිගත්තා.

ඉතින් මේ ආරාධනාව පිළිගත්ත බව බිම්බිසාර රජතුමා දැනගෙන, විසාලා මහනුවරට යන ගං තෙර වෙනකල් මාර්ගය පිලිසකර කළා, මල් ඇතිරුවා. පන්සියක් භික්ෂූන් වහන්සේලා සමග වඩින ලොව්තුරා බුදුන් වහන්සේට මහ මග මල් විසුරුවල කොඩි පතාක අදියෙන් සැරසුවා. හැම භික්ෂූන් වහන්සේ නමකටම සේසත් ඔසවල මහා ගෞරවයෙන් ගං තෙරට එනකල් පෙරහැරෙන් වඩම්මගෙන ආවා. එතනදි නැවක් සරසල උන්වහන්සේලා ඒ නැවට නංවල විසාලා මහනුවර වැසියන්ට දැන්වුවා, දැන් බුදුන් වහන්සේ වඩිනව කියල. මේ ආරංචිය අහපු ලිච්ඡවීන්, අපි බිම්බිසාර රජතුමා කළා වගේ දෙගුණයක් පූජා පවත්වමුයි කියල හිතල පූජා පවත්වමින් විසාලා මහනුවරට එනකල් වැඩම්මෙව්වා. ඉතින් ලොව්තුරා බුදුන් වහන්සේ විසාලා මහ නුවර ගං තෙරට පා තබනවත් එක්කම මහා පොකුරු වැස්සක් වැස්සා. මුළු නගරයම පිරිසිදු වුනා. එතනදි උන්වහන්සේ රතන සූත්‍රය දේශනා කළා. සියලු බිය දුරු වෙලා විසාලා මහනුවර පෙර තිබුන තත්වයටම ආවා.

දැන් කෙනෙකුට හිතෙන්න පුළුවන්, එහෙම රතන සූත්‍රය දේශනා කරපු පමණින් සියලු බිය දුරු වෙන්න පුළුවන්ද කියල. නිකං ආවට ගියාට දේශනා කරල හරි යන්නෙ නෑ. **ආනන්ද හාමුදුරුවො රතන සූත්‍රය සජ්ජායනා කරපු ක්‍රමයක් තිබුනා. මුලින්ම මහා අධිෂ්ඨානයක් කළා.** කොටින්ම ඒක සත්‍ය ක්‍රියාවක්. ලොව්තුරා බුදුන් වහන්සේ ලෝක සත්වයා වෙනුවෙන් කරපු කැප කිරීම බොරුවක් නෙවෙයි. උන්වහන්සේ බුද්ධත්වය පැතීම ආරම්බ කරපු තැන ඉඳන් දස පාරමී, උප පාරමී, පරමත්ථ පාරමී, පංච මහා පරිත්‍යාග, ලෝකාර්ථ චරියාව, ඤාතත්ථ චරියාව (ඥාතීන්ගෙ හිතසුව පිණිස කෙරෙන කටයුතු), බුද්ධි චරියාව... ආදී මේ තුන් චරියාවයි, අන්තිම අත්බැවේ ඉපදීම, මහාභිනිෂ්ක්‍රමණය, ධ්‍යාන වැඩීම, බෝධි පර්යංකයේ මාර පරාජය කිරීම, සර්වඥතා ඥානය ලබා ගැනීම, නවලෝකෝත්තර ශ්‍රී සද්ධර්මය දේශනා කිරීම... ආදි සියලු බුදු ගුණ ආවර්ජනා කරමින් තමයි පිරිත් කළේ. ඉතින් මහා ගුණයක් දැකල, ඒ ගුණ අනුව පිහිටල මැණිකක් බඳු සූත්‍රයක් පිරිත් කළා. ඒ අනුවයි ශක්තිය ගොඩ නැගුනෙ. සියලු බිය දුරු වුනේ ඒ නිසයි.

නැවතත් ලොව්තුරා බුදුන් වහන්සේ විසාලා මහනුවරින් නික්ම යන මොහොත ආවා. ලිච්ඡවීන් ඇතුලු සියලු නගර වැසියන් උන් වහන්සේට මහත් ගෞරවයෙන්, කලින් වගේම පුද පූජා පවත්වමින් ගං තෙරට එනකල් ආවා. මේ පුද පූජා දැකපු නාග ලෝකයේ නාගයින්, මනුස්සයින් මේ කරන පූජා වගේ අපටත් කරන්න ඕනයි කියල බුදුන් වහන්සේගෙන් අවසර ඉල්ලා හිටියා. ඒත් එක්කම භූමාටු දෙවියනුත්, අපටත් නාගයින් වගේ පූජා පවත්වන්න අවසර දෙන්නයි කියල ඉල්ලා හිටියා. ඊළඟට චාතුර් මහාරාජික දෙවියන්, තාවතිංස දෙවියන්, ඒ ආකාරයෙන් අකනිටා බඹ ලොවට යනකල් දෙවියන්, බ්‍රහ්මයින් අවස්ථාවක් ඉල්ලා හිටියා. ඉතින් මේ කාරණය දැනගත් ලොව්තුරා බුදුන් වහන්සේ, ඒ ඒ අයට බුද්ධ කයක් මවල පන්සියක් භික්ෂූන් මවල ඒත් එක්කම රනින් කරපු නැවක් මවල පුද පූජා කරන්න අවස්ථාව ලබා දුන්නා. මුළු සක්වලම මහා සැණකෙලියක් වගේ ඒ ඒ අය පුද පූජා කළා. ඊළඟට ලොව්තුරා බුදුන් වහන්සේ කලින් වැඩ හිටපු විහාරයට වැඩියා. භික්ෂූන් වහන්සේලා අතර කතාවක් ඇති වුනා, ලොව්තුරා බුදුන් වහන්සේ ලබපු පුද සත්කාර ගැන. ඉතින් උන් වහන්සේට මේ කාරණය දැනගන්න ලැබුනා. ඊට හේතු පැහැදිලි කරල දුන්නා.

එක්තරා අත්බැවක සුසීම නම් පසේ බුදු රජාණන් වහන්සේගෙ පිරිනිවීමෙන් පසුව ධාතූන් වහන්සේලා නිදන් කරපු චෛත්‍යයක් තිබුනා. ඒ කාලයේ බෝසතාණන් වහන්සේ ඒ චෛත්‍යයට මහා ගරු සරු ඇතිව ඒ වටා තිබ්බ්ච තණකොළ ඉවත් කළා. ඒ තණ කොල ඉවත් කරපු පින නිසා තමයි උන්වහන්සේ විසාලා මහනුවරට එනකල් වැඩම කරපු ගමන් මග සමතලා කරල මල් අතුරල, කිසිම අපහසුතාවයක් නැතිව ගමන් කරන්න ලැබුනෙ. ඒ චෛත්‍යය අවට පිරිසිදු කරල වැලි අතුරපු පිනෙන්, යොදුන් අටක් යන කල් මහ මග වැලි අතුරල සුමටව තිබුනා. ඒත් එක්කම චෛත්‍යයට මලින් පූජා කළ නිසා, උන් වහන්සේ විසාලා මහ නුවරට වඩින කල් මග දෙපස මල්වලින් සරසල තිබුනා. චෛත්‍යයේ මළුව පැන් කෙන්ඩියකින් වතුර ගෙනවිත් තෙමුව නිසා, විසාලා මහනුවර අඩිය තියන කොටම මහා පොකුරු වැස්සක් ඇද වැටිල නගරයම පිරිසිදු වුනා. මේ විදිහට හේතු කියල අවසානයේ මේ ගාථාව දේශනා කළා.

මත්තා සුඛපරිච්චාගා
පස්සේ චේ විපුලං සුඛං
චජේ මත්තා සුඛං ධීරෝ
සම්පස්සං විපුලං සුඛං

සරල සිංහල තේරුම

**මඳ සැපයක් හැර දැමීමෙන් මහත් සැපයක් ලැබෙන බව දක්නේ නම්, නුවණැත්තා ඒ මහත් සැපය ලබනු කැමැත්තෙන් මඳ සැපය අත් හරින්නේය.**

මේ අවස්ථාවෙ හැටියට නම් උන්වහන්සේ දේශනා කළේ, කලින් අත්බැවක සුසීම පසේ බුදුවරයන් වහන්සේගෙ ධාතූන් වහන්සේලා නිදන් කරපු චෛත්‍යයට කරපු පුද පූජා ගැන, උන්වහන්සේ සතුව තිබුන උතුරු සළුව, කුඩය... ආදිය පූජා කිරීම ගැන. උතුරු සළුව කියන්නෙ අව්, වැසි, මැසි මදුරු කරදරවලින් බේරෙන්න පුළුවන් ආවරණයක්. ඒ ජාතියේ පීඩාවලින් මිදෙන්න පාවිච්චි කරන්න පුළුවන් දෙයක්. පීඩාවෙන් මිදෙනවා කියන්නෙ සැපයක්. ඇයි ඒ තමන්ගෙ සැපය

නැති කරගෙන ඒක පූජා කළේ කියල කෙනෙකුට හිතෙන්න පුළුවන්. ඒ සිතිවිල්ල බාහිරින් දැක්ක දෙයක් නිසා ගත්ත තීරණයක්. නමුත් නුවණැත්තෙක් දන්නවා, කවුද පසේ බුදුවරයෙක් කියන්නෙ කියල. උන්වහන්සේ ජීවමානව නැති වුනත් උන්වහන්සේගෙ ගුණය ජීවමානයි. ඒ වගේම ධාතූන් වහන්සේලා කියන්නෙ, ඒ ජීවමාන ස්වභාවයට ඇති භෞතික වස්තුව. හරියට ධාතූන් වහන්සේලා තැන්පත් කරපු චෛත්‍යයක් කියන්නෙ, මහා ගුණ ඇති උත්තමයෙක් ජීවමානව වැඩ ඉන්න ගෙයක් වගේ. ඒ අනුව හිතලයි පූජාව කළේ. **අප්‍රමාණ ගුණයක් දැකල තමන් සතුව තියෙන සුළු දේ වුනත් පූජා කළාම ලැබෙන දේ අප්‍රමාණයි.** පූජා කළේ සුළු දෙයක් වෙන්න පුළුවන්. නමුත් බලන්න ඕන, දුන්නෙ කවුරුන් උදෙසාද කියල. හරියට ඉදුනු අඹ පිරුණු අත්තක් හෙලෙව්ව වගේ. හොලවන්න යෙදුව ශක්තිය කුඩා වෙන්න පුළුවන්. නමුත් ලැබෙන ප්‍රතිඵලය විසාලයි. මේ එක පැත්තක්.

අනෙක් පැත්ත තමයි, මඳ සැපයයි මහත් සැපයයි වෙනත් විදිහකට බලන්නත් පුළුවන්. කෙනෙක් මේ ලෝකයේ විඳින උපරිම සැපයක් තියෙන්න පුළුවන්. දුක්පතෙක් හිතන්න පුළුවන් මහා කෝටිපතියෙක් විඳින සැපයක් ගැන. අනේ ඒක මහත් සැපක්, මගේ ඇඳ පොඩි සැපක් තමයි ඒත් අර කෝටිපතියගෙ ඇඳ කොහොම සැපක් ඇත්ද කියල හිතෙන්න පුළුවන්. ඔය එක පැත්තක්. ඒ වගේම තමයි තිරිසන් අපාගත සත්වයෙක් විඳින දුකක් තියෙනවා. ඒ වගේම සැපකුත් තියෙනවා. බඩගිනි එනවා, කෑම ටිකක් තියෙන තැනක් හොයාගෙන ගිහින් හරි කන්න පුළුවන්. බඩගිනි නිවෙනවා. ඒත් එක්කම සුළු සැපයක් දැනෙනවා. නමුත් ඌට ඉල්ලගෙන කන්න, උයාගෙන කන්න හෝ උපයගෙන කන්න බෑ. හැබැයි ඌට වඩා සැපයක් මනුස්සයෙක් විඳිනවා. අර සතා මඳ සැපයක් විඳින කොට ඒ සතාට අනුව මනුස්සයා මහත් සැපක් විඳිනවා. නමුත් මනුස්සයගෙන් ඇහුවොත් දෙව් සැප ලබන්න කැමතිද කියල, එපා කියයිද? ඒ අනුව මනුස්සයට වඩා ඊට උඩ ඉන්න දෙවියො සැප විඳිනවා. මනුස්සයා මඳ සැප විඳින කොට දෙවියො මහත් සැපක් විඳිනවා. දෙවියන්ට අනුව ඊට උඩ ඉන්න බ්‍රහ්මයො සැපක් විඳිනවා. ඒ අනුව බැලුවම දෙවියො මඳ සැපක් විඳින කොට බ්‍රහ්මයො මහත් සැපක් විඳිනවා.

දැන් මේ විඳින සැප හැම තිස්සෙම තියෙන එකක්ද? බඩගින්න නිවුනා, නැවතත් බඩගින්න එනව වගේ, අර විඳින සැපේ ඉවරයක් තියෙනවා. සැප විඳින්න පටන්ගත් මොහොතේ පටන් ඒ සැප ක්ෂය වෙලා වැනසිලා යනවා, ටික ටික අඩු වෙනවා. හොඳට නාල පිරිසිදුව ආපු මනුස්සය ටික වෙලාවක් යනකොට දාඩිය දාල ආපහු අපිරිසිදු පැත්තට යනවා. ඒ ස්වභාවය දිගටම තියාගන්න නම් නැවතත් උත්සාහයෙන් වීර්යෙන් පිරිසිදු වෙන්න ඕන. කොච්චර උත්සාහ කළත් යන්නෙම විනාස වෙන පැත්තට. මොන තරම් උත්සාහ කළත් නවත්වන්න බෑ. සැප ලබාගන්න දුක් විඳිනවා. ඒක ලැබුනට පස්සෙ දිගටම තියා ගන්න දුක් විඳිනවා. සැප මුවාවෙන් හැම තිස්සෙම නොදැනීම දුකම කරගහගෙන ඉන්නවා. ඒ අනුව බැලුවම එක එක්කෙනාට මඳ සැප, අනෙක් කෙනාට මහත් සැප. ඒ කෙනාගෙ මහත් සැප ඊට උඩ ඉන්න කෙනාට මඳ සැප. එතකොට උඩින්ම ඉන්න බ්‍රහ්මයා පවා මහත් සැපක් විඳිනවා කියල කියන්න පුළුවන්ද? එහෙම කියන්න බෑ. මොකද ඒකත් කවද හරි ගෙවිල වැනසිලා යන නිසා. එතකොට ඔය විඳින හැම සැපයක්ම මඳ සැප හැටියටයි ගන්න වෙන්නෙ. එහෙනම් මොකක්ද මේ ලොව්තුරා බුදුන් වහන්සේ කිව්ව මහත් සැප?

ලෝක සත්වයාට බොජ්ජංග ධර්ම හැර, තපෝ ගුණය හැර, නිවන හැර වෙනත් සුවයක් මා නොදකිමියි කියන්නෙ බුද්ධ දේශනාව. බොජ්ජංග ධර්ම මහත් සැපයි, තපෝ ගුණය මහත් සැපයි, එහෙම නැත්නම් නිවන මහත් සැපයි. ඔය හැර අනෙක්වා සේරම මඳ සැප හෝ ඊට කරන උත්සාහයන් නිසා විඳින අප්‍රමාණ දුක. ඉතින් ඉහත ගාථාව අනුව මේ මහත් සැප ලබා ගන්න නම් ඔය කියන මඳ සැප, එහෙම නැත්නම් මනුස්සයෙක් වීම, දෙවියෙක් වීම, බ්‍රහ්මයෙක් වීම අත්හරින්න ඕන. කොහොමද අත්හරින්නෙ? ඒකට තමයි නුවණ යොදවන්න ඕන. කොහොමද නුවණ යොදවන්නෙ? මනුස්සයෙක් වෙලා ඉපදුනා, සතර අපායෙ නොගිහින් අනූනවයෙන් බේරිලා මනුස්සයෙක් වුනා. ඒක දිගටම තියාගන්න පුළුවන්ද? කොච්චර උත්සාහ වීර්ය කළත් බෑ. ලෙඩ වෙනවා, වයසට යනවා, මැරෙනවා. නුවණින් බලන කොට, කරන්න බැරි වැඩක් තමයි කරන්න උත්සාහ කරල තියෙන්නෙ. අනුමානයෙන් හිතන්න පුළුවන්, දෙවියෙක් වුනත් ඔච්චරයි, බ්‍රහ්මයෙක් වුනත් ඔච්චරයි කියල. හරයක් නැති දෙයක් පස්සෙ හති වැටෙනකල් දුවනවා. සුළු හෝ අතපසු වීමක් වුනොත් කල්ප කාලාන්තරයක් සතර අපායෙ. මොන තරම් දුකක්ද? නුවණින් හිතල ටික ටික අත් හැරෙන පැත්තට යනවා. අතහරිනව නෙවෙයි, නුවණින් දැක්ක කෙනාට අතහැරෙනවා. මඳ සැපය අතහැරල මහත් විපුල සැප වන නිවන කරා ගමන් කරනවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණු දහම් කරුණු සමග ධම්ම පද පාළිය - ප්‍රකීර්ණක වර්ගය ඇසුරින් සකස් කළේ :*

**ෆික්රි ඉස්මයිල්**
පරිගණක ඉංජිනේරු - ගොතටුව
072-7536839

## කාරුණික දැනුම් දීමයි

හෙළ බොදු පියුම දහම් සඟරාව දැනට දිවයිනේ ලබාගත නොහැකි පළාත් ගණනාවකම පින්වතුන් සඟරාව ලබාගැනීමට සලස්වන ලෙසට ඉල්ලීම් කර ඇත. මෙම සඟරාව දැනට බෙදාහරිනු ලබන ස්ථාන භාර පින්වතුන් මෙන් කිසිදු මූල්‍යමය ලාභ අපේක්ෂාවකින් තොරව උතුම් සාසනික කටයුත්තක් ලෙස සලකා එකී සත්කාර්යට දායක විය හැකි තවත් ස්ථාන භාර පින්වතුන් ඇත්නම් ඒ සඳහා ඉදිරිපත් වන ලෙස කාරුණිකව දැනුම් දෙනු ලැබේ. විමසීම්: 071-3046895

# බුදුන් වහන්සේ පෙන්වා දුන් ආරෝග්‍යය හා පරම ලාභය



ව්‍යවහාර භාෂාවෙන් ගෙනාපු මාගධී බුදු බස් වහර ලිඛිත භාෂාවකින් ග්‍රන්ථාරූඪ ගත කරන්න ඒ කාලයේ අවසර නොතිබිච්ච නිසා, අද වගේ දියුණු ලිඛිත භාෂා ක්‍රමවේදයක් නොතිබිච්ච නිසා, මුඛ පරම්පරාවෙන් ගෙනාපු මාගධී ව්‍යවහාරය පසුකාලීන භාෂා විශාරදයන් විසින් පුළුවන් තරම් දුරට පෙළ ගස්වල, ලිඛිත භාෂාවක් කියල වට අකුරු ක්‍රමවේදයෙන් ගොඩනගල තියෙන බව දැනට පෙනී යන කාරණයක්. ඒ භාෂා විශාරදයන්ගෙ පෘථජ්ජන මානසික-ත්වයෙන් සකස් වෙච්ච නිරුක්ති සහිත අක්ෂර ප්‍රභේද ව්‍යාකරණ විධි රාමුවට කොටු කරල තැබීමෙන් සිද්ධ වුණේ, ධර්මාවබෝධයට ඉවහල් වන බුද්ධ දේශනාවේ නියම මාගධී ප්‍රාකෘතය යටපත් වීම. නියම මාගධී ප්‍රාකෘතයෙන් ලබන යථාවබෝධය කෘතීමව හදාගත් නිරුක්ති සහිත ප්‍රාකෘතයකින් ලබන්න බෑ. නියම දහම් අර්ථය ලබන්න බෑ. හැබැයි මේ කියන්නෙ පාලි ත්‍රිපිටක පෙළ දහම ගැන නෙවෙයි, ඒ අනුසාරයෙන් ලියපු භාෂා පරිවර්තන සහ පසුකාලීන ආචාර්යවරුන්ගෙ අටුවා කතා ගැන. මේ කාරණය ත්‍රිපිටක ධර්මය තුළින්ම පැහැදිලි කරගන්න පුළුවන්.

**ලෝකයා සැපයි කියන යමක් ඇත්නම්, ඒක දුකයි කියල දකින ක්‍රමයක් ධර්මයේ තියෙනවා.** ඒ කියන්නෙ, මේ දුක්ඛ කියන වචනයේ අදහස් දෙකක් තියෙනවා. එකක් ආර්ය විනයේ පෙන්වන ලෝකෝත්තර අදහස. අනෙක ලෝකයා විසින් භාවිතා කරන ලෞකික අදහස. මෙතැනදී ලෝකෝත්තර අදහසයි සොයා ගන්න ඕන. **අනිච්ඡං ඛයට්ඨේන - දුක්ඛං භයට්ඨේන - අනත්ථං අසාර-කට්ඨේනන්ති** කියල පටිසම්භිදා මග්ගප්‍රකරණයේ මේ කාරණය තෝරල තියෙනවා. නමුත් අද ලෝකයා, ක්ෂය (ඛය) කියන කොට ගන්න අදහස එකක්, භය කියන කොට ගන්න අදහස තව එකක්. භය කියල ගන්නෙ ජරාවට පත්වීම, භය කියල ගන්නෙ තමන්ට පුද්ගලිකව දැනෙන මතුපිටින් පේන ලෝකයේ විවිධාකාර දේවල්වලට තියෙන භය. අද මේවායේ නියම අර්ථයන් යටපත් වෙලා තිබුණත් එදා හෙළ අටුවාවල මේවා විග්‍රහ කරල තිබුණා. ඉතින් හෙළ අටුවා නැති වුණාට පස්සෙ අපිට දහම් අර්ථය හරියට තෝර ගන්න ක්‍රමයක් නැතුව ගියා. මේ නිසා කියපු දේ තේරුම් ගන්නත් බැරිව ගියා. ඊට පස්සෙ මේ ධර්මයේ පෙන්වා තියෙන අනිච්ච, දුක්ඛ, අනත්ත කියන වචනවල අර්ථය ලෝක සම්මත ලෞකික අර්ථයන්ගෙන් පිළිගන්න පටන් ගත්තා. නමුත් ලෝක සම්මතයේ අවිද්‍යා සහගත නිගමනවලින් නිවන් අවබෝධ කරන්න බෑ. ඒකෙන් හිත මිදෙන්නෙත් නෑ. නමුත් ආර්ය විනයේ අර්ථය මීට හාත්පසින්ම වෙනස්. හැබැයි අද බොහෝකොටම පෙන්වන්නෙ මේ දහම් වචනවලට තියෙන ලෞකික අර්ථය.

උදාහරණ විදිහට සදිසා නමස්කාරය කිව්වම, අනාර්යයෝ දිසා හයට නමස්කාර කරන්න ගත්තා. උතුරට වැන්දා, දකුණට වැන්දා, නැගෙනහිරට වැන්දා, බටහිරට වැන්දා, උඩට වැන්දා, යටට වැන්දා කියල දිසා හයට වඳින එක තමයි ඒ අය කරන්නෙ. නමුත් බුද්ධ දේශනාවෙ තියෙන වැඳීම මීට හාත්පසින්ම වෙනස්. උඩ දිසාවෙන් මහණ බමුණන් වඳිනවා කියන්නෙ, අත් දෙක එකතු කරගෙන උඩට හරවගෙන ඉන්න එක නෙවෙයි. ඒ මහණ බමුණන් උදෙසා කළ යුතු වත් පිළිවෙතක්, ගරු සත්කාරයක් තියේද ඒක ඉටු කරන එකයි මේකෙන් කියන්නෙ. ඒ වගේම යට දිසාවෙන් දැසිදස් කම්කරුවන්ට බත්, වැටුප් දීම, අසනීප ලෙඩ රෝග ආදී කටයුතු ගැන සොයා බැලීම යනාදිය තමයි වන්දනාව හැටියට සැලකුවෙ. හැබැයි මේ කියන ආර්ය අදහස කවදාවත් අනාර්යයෙකුට මතුවෙන්න විදිහක් නෑ. ඒක සාසනයෙන් පිට ගෝචර වෙන්නෙ නෑ. මේකට තවත් හොඳ උදාහරණයක් තමයි මජ්ඣිම නිකාය (2) - 288 පිටුවේ එන මාගන්දි සූත්‍රය. ඒ සූත්‍රයේ මෙහෙම පෙන්වා තියෙනවා.

☞

**ආරෝග්‍යා පරමා ලාභා**
**නිබ්බානං පරමං සුඛං**
**අට්ඨංගිකෝච මග්ගානං**
**ඛේමං අමතගාමණංති**

අද ආරෝග්‍යා පරමා ලාභා කිව්වම, නිරෝගිකම පරම ලාභයයි කියල සිංහලෙන් අර්ථ දෙනවා. නමුත් මෙතන ලෝකෝත්තර සහ ලෞකික කියන අර්ථ දෙකක් තියෙනවා. හැබැයි ලෝකෝත්තර අර්ථය කවදාවත් ලෞකික මානසිකත්වයකින් හෝ ලෞකිකව දැනගත් කෙනාගෙ අදහස් තුළින් (සම්මතයෙන්) ගන්න බෑ. ඒක බුදුන් වහන්සේ හෝ උන්වහන්සේගෙන් අහල දැනගත්තු කෙනෙක්ගෙන් හැර වෙනත් කෙනෙක්ගෙන් දැනගන්න බෑ. මේ ගාථාව එක් අවස්ථාවකදි බුදුන් වහන්සේ උදාන වාක්‍යයක් විදිහට භාවිතා කළේ මාගන්දි කියන බමුණා මුල් කරගෙන. ඒක අහපු මාගන්දි බමුණා බුදුන් වහන්සේට ප්‍රසංසා කළා. ''ස්වාමීනි මම ඔබ වහන්සේට බොහෝ ප්‍රසංසා කරනවා. අපේ වේදයෙත් ඔය ගාථාවම තියෙනවා. අපේ වේදයේ තියෙන ධර්මයමයි ඔබ වහන්සේ දේශනා කළේ. අපි කියන ධර්මයට ඔබ වහන්සේගෙ ධර්මය සමානයි. මම ඔබ වහන්සේ කෙරේ බොහොම පැහැදෙනවා.'' මේ විදිහට කියල මාගන්දි බමුණා බොහොම සතුටු වුණා.

ඒ වෙලාවෙ බුදුන් වහන්සේ අහනවා, ආරෝග්‍යා පරමා ලාභා - නිබ්බානං පරමං සුඛං කියන මේකට නුඹලා දෙන අර්ථය මොකක්ද කියල. දැන් ත්‍රිවේදය දැනගත්, භාෂා නිරුක්ති සහිත අක්ෂර ප්‍රභේද සහ පද පාඨ හා ව්‍යාකරණ විධිවලින් දැනීම් තියෙන මාගන්දි බමුණාට මේ ගාථාවෙ නියම සාසනික අර්ථය ලබන්න පිටිවහලක් ලැබිල තිබුණෙ නෑ කියන කාරණය, ඔහු බුදුන් වහන්සේ අහපු ප්‍රශ්නයට දුන්න පිළිතුරෙන් පැහැදිලි වෙනවා. ''ලාභයෝ ආරෝග්‍ය පරම කොට ඇත්තාහ, සුවය නිවන පරම කොට ඇත්තාහ'' මේ තමයි මාගන්දියගෙ පිළිතුර. ඔහු දැනගත් භාෂා නිරුක්ති සහිත පද පාඨ හා ව්‍යාකරණවලින් තේරුම් ගත්තෙ එච්චරයි. ඊළඟට බුදුන් වහන්සේ මාගන්දියගෙන් අහනවා, ඔබ කියන ආරෝග්‍යය හා නිවන මොකක්ද කියල. ඇයි ස්වාමීනි නිරෝගී බව පරම ලාභයක්නේ, දැන් මම හරිම නිරෝගියි, මගේ මේ අතපය හරිම පෘෂ්ටිමත් කියල තමන්ගෙ ශරීර අවයව අත්ලෙන් පිරිමදිමින් භවත් ගෞතමයනි, මේ ආරෝග්‍යයයි, මේ නිවනයි, මම ආරෝග්‍ය වෙමි, සුවපත් වෙමි කියල තමන්ගෙ ලෙඩ නැති බව කියාපාමින්, අනේ මේක මට කොච්චර ලාභයක්ද කියල මාගන්දියා සතුටු වුණා. මෙතැනදි ඔහුගෙ භාෂා දැනුමෙන් ඒ සම්මතය ඉක්මවල ඊට වැඩි යමක් දැනගන්න බැරි වුණා.

මේ කාරණය ලෞකික වශයෙන් නම් ඇත්ත. අදත් ආරෝග්‍ය ශාලාවල, ලේ දන් දෙන ස්ථානවල "ආරෝග්‍යා පරමා ලාභා - නිරෝගිකම පරම ලාභයයි" කියල අර බමුණා කියපු කතාවම ප්‍රදර්ශනය කර ගෙන ඉන්නවා. එහෙනම් අද වෙනකොට ආර්ය අර්ථය යටපත් වෙලා, බමුණාගෙ ලෞකික අර්ථය මතු වෙලා තියෙන බව පැහැදිලි කාරණයක්. දැන් බුදුන් වහන්සේ දීපු ඊළඟ පිළිතුර දැන ගන්න පෙර මේ ගැන විශ්ලේෂණය කරල බලන්න ඕන.

**පදය දැනගත්තට, ලෞකික අර්ථයෙන් ගළපන්න පුළුවන් වුණාට, අක්ෂර ප්‍රභේද භාෂා නිරුක්තිවලට අනුව ලියාගෙන විමසුවට, අවසානයේ එන අදහස වැරදි නම් ඒක බුද්ධ දේශනාවට අනුකූල නැති බව ධර්මානුකූලව තේරුම් ගන්න ඕන.** බුද්ධ දේශනාවට අනුව ගැළපීම බලන්න නම්, ඉහත වේද ක්‍රමවල පිළිසරණ සොයාගෙන බෑ. සතර මහා උපදේශ ක්‍රමය අනුව ධර්මයට බහා බලන්න ඕන, විනයට සසඳා බලන්න ඕන, සූත්‍රයට බහා බලන්න ඕන. මෙතැනදි සමහර සූත්‍ර, ත්‍රිපිටක ග්‍රන්ථවල ඇතුළත් වෙලා නැති බවත්, ඒ ඒ කාණ්ඩවල ගැබ් වෙලා තියෙන සූත්‍ර ගණන මෙච්චරයි කියල තිබුණත්, ඒ සියල්ලම නැති බවත් ත්‍රිපිටක සංස්කාරක මණ්ඩලයේ භික්ෂූන් වහන්සේලා ත්‍රිපිටක පොත්වල සංඥාපනයේම පෙන්වා තියෙනවා. දැන් මේ කියන සූත්‍ර කොටසත් ඒ විදිහට ප්‍රමාද දෝෂයකින් හෝ සටහන් කරන්න බැරි වෙලා, පාරම්පරිකව ගෙනාපු කොටසක තිබිල හමුවුණා නම් ඒක විනිශ්චය කරන්නෙ කොහොමද? ඒ ක්‍රමය නෙත්ති ප්‍රකරණයේ යුක්තිහාර විභංගයේ 39 පිටුවේ පැහැදිලිව දක්වා තියෙනවා. ඒ අනුව බහා බැලිය යුතු සූත්‍රය තමයි චතුරාර්ය සත්‍යය, ධර්මය තමයි පටිච්ච සමුප්පාදය, විනය තමයි රාග විනය - ද්වේශ විනය - මෝහ විනය. නමුත් අද බොහෝකොට හිතාගෙන ඉන්නෙ සූත්‍ර පිටකයේ තියෙනවද, විනය පිටකයේ තියෙනවද, ඊට සමාන දේශනාවක් ද කියල සසඳා බැලීම කියන කාරණා. නමුත් මේ කියන්නෙ පොතේ තියෙන එකක් ගැන නෙවෙයි.

**කයේ ලෙඩ නැතිකම සිහි කරල යම් කිසි කෙනෙක් තමන්ට ලාභයක් ලැබිල තියෙනව කියල සතුටු වෙනව නම්, ඒ සතුට ලෙඩ උරුමයක් වෙච්ච කයට ලොකු අසනීපයක් හැදෙනකල් විතරයි තියෙන්නෙ.** නොයෙක් දුක් දාහයන්ට නිරන්තරයෙන්ම ගොදුරු වෙමින් ගිහින් අවසානයේ වැහැරිලා මැරිල යන කුණු ගොඩක් තමයි කය කියන්නෙ. එබඳු කයක පංචකාම ආස්වාද මාත්‍රයන්ට වහල් වෙලා ලබන මුළා සහගත සතුටක් තමයි මේ කියන්නෙ. ඉතින් මේ වගේ දුක් කඳක් මහා ලාභයක් ලැබුණ කියල ගන්නෙ, අවිද්‍යා සහගත මුළා දෘෂ්ටියකින්. ඒ මුළාවෙන් නැගෙන ඡන්ද රාගය නිසා උපාදාන කරගන්නවා. උපාදානයෙන් භවය වෙනවා. භව ඇති තැන ජාති වෙනවා. එතකොට ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස උදා වෙනවා. ඡන්ද රාගයෙන් හිතන කොට, කියන කොට, කරන කොට රාග වර්ධනය වෙනවා. එතකොට රාග විනය වෙන්නෙ නෑ. ඇලුම් කරපු තරමටම විරුද්ධ දේවල් එන කොට ගැටීම් වෙනවා. එතකොට ද්වේශ විනය වෙන්නෙ නෑ. මුළා අදහසක් නිසා මෝහ වෙනව මිසක් මෝහ විනය වෙන්නෙ නෑ. මේ නිසා කයේ නිරෝගී බව කෙරෙහි ඇති මුළා ආස්වාදය චතුරාර්ය සත්‍යාවබෝධයට හේතු වෙන්නෙ නෑ, පටිච්ච සමුප්පාද නිරෝධ ධර්මයට හේතු වෙන්නෙත් නෑ. රාග - ද්වේශ - මෝහ විනයට සැසඳෙන්නෙත් නෑ. එහෙනම් මේ කියන අදහස බුද්ධ භාෂිතයට අනුකූල නෑ. කරුණු මෙහෙම නම් මේ කියන ගාථා පද පේළියම බුද්ධ භාෂිතයක් වෙන හැටි හොයල බලන්න ඕන. මෙතනදි බුදුන් වහන්සේ එක්තරා උපමාවකින් මේ කාරණයේ අර්ථය මාගන්දියට පැහැදිලි කරල දෙනවා.

යම් ඇස් අන්ධ මනුස්සයෙකුට ඔහුගෙ

හිතවතෙක් කළු ගොමස්කඩ රෙද්දක් ගෙනත් දීල කියනවා, මේක හොඳ සුදු රෙද්දක්, ඇන්දම හරි ලස්සනයි ඇඳල බලන්න කියල. ඒක විස්වාස කරන අන්ධ මනුස්සයා ඒ රෙද්ද ඇඳල බලල හරිම ලස්සනයි... හරිම හොඳ රෙද්දක්... කියමින් වර්ණනා කරනවා. දැන් මෙහෙම වර්ණනාවක් කරන ඒ අන්ධයා ගැන ඔබට මොකක්ද හිතෙන්නෙ කියල බුදුන් වහන්සේ මාගන්ධියගෙන් අහනවා. ස්වාමීනි, අන්ධකම මිසක්, මුළාව මිසක් වෙන මොකක්ද, ඒකනේ එහෙම නිගමනය කළේ කියල බමුණා උත්තර දෙනවා. ආරෝග්‍යා පරමා ලාභා කියන එකේ අදහස අනුව, මේ කයට තියෙන නිරෝගිකම පරම ලාභයක් කියල ඔබ කිව්ව අදහසත් අන්ධයාගෙ කතාවට දෙවැනි නෑ, ඒ අන්ධයා කිව්ව අදහසට සමානයි කියල බුදුන් වහන්සේ ප්‍රකාශ කරනවා.

දැන් බමුණාට මේ කියපු දේ තේරුම් ගන්න බෑ. ආරෝග්‍යා පරමා ලාභා කියන්නෙ මේ කයේ තියෙන නිරෝගිභාවය නෙවෙයි නම් වෙන මොකක්ද කියන ප්‍රශ්නය මතු වුණා. උන්වහන්සේ නැවතත් උපමාවක් දේශනා කරනවා. ඇස් අන්ධ මනුස්සයෙකුට තමන්ගෙ නෑදෑ හිතවතුන් විසින් ශල්‍ය වෛද්‍යවරයෙක් ගෙන්වල බෙහෙත් කරත්දීත් ඒ ඇස් පෙනීම එන්නෙ නැත්නම්, ඒ වෛද්‍යවරයා ඒ තාක් පීඩාවට වෙහෙසට පත් වෙනව වගෙයි, දහම් ඇස් නැති මාගන්ධියට ආරෝග්‍යයත් නිවනත් දේශනා කරන කොට වැටහෙන්නෙ නැත්නම්, උන්වහන්සේට පීඩාවක්ම වෙහෙසක්ම වන බවත් දේශනා කරනවා. මේ වගේ අදත් දහම් අර්ථයන් දකින හැටි, දහම් ඇස ලබපු අය පෙන්වා දුන්නත්, තේරුම් ගන්න බැරි පිරිස් ඒවා හාස්‍යයට ලක් කරන්න පුළුවන්.

දැන් බුදුන් වහන්සේ මේ ගාථාවෙ මුල මාගන්ධියට දේශනා කරනවා. බමුණ මට පෙර හිටපු බුදුවරයන් වහන්සේලා ඔය ගාථාවෙන් ලෝකයාට ධර්ම දේශනා කළා. ඒ ධර්ම දේශනාවෙදි පෙන්වපු සාසනික අර්ථය අද වෙන කොට යටපත් වෙලා ලෞකික අර්ථය ඉස්මතු වෙලා ඒ අර්ථය තමයි නුඹලගෙ වේදයට ඇවිත් තියෙන්නෙ. ඔබ දන්නෙ නෑ ඔය ගාථාව වේදයට කොහෙන් ආවද කියල. නමුත් මේ ගාථාවෙන් ගළපගත් ලෞකික අර්ථය තමයි දැන් ඔය ලෙඩ නැතුව ඉන්න තියෙනව නම් ලොකු ලාභයක් කියල අර්ථ දක්වන්නෙ. නමුත් මේ ගාථාවෙ සාසනික අර්ථය මීට වඩා බොහෝ ගැඹුරුයි. පෙර බුදුන් වහන්සේ තමයි කාශ්‍යප බුදුන් වහන්සේ. උන්වහන්සේත් මේ ගාථාවෙන් දේශනා කරපු ධර්මයේ අර්ථය කල් යනකොට වැහිල ගිහින් ලෞකික අර්ථයක් වශයෙන් තමයි මේ කයට තියෙන නිරෝගි බව පරම ලාභයක් කියල අර්ථ ගත්තෙ.

බුදුන් වහන්සේ පෙන්වපු උපමාවෙදි ඇස් අන්ධ මනුස්සයට උපමා කළේ, තේරුම් ගන්න බැරි මානසිකත්වය හෙවත් පෘථජ්ජන මානසිකත්වය. මේකට ලෝකයෙන් ප්‍රිය මනාප යාළුවො ලැබිල තියෙනවා. ඒ තමයි පංච උපාදානස්කන්ධය. මේ පංච උපාදානස්කන්ධය නම් යාළුවා මන වඩන රූප, මන වඩන ශබ්ද, මන වඩන ගන්ධ, මන වඩන රස, මන වඩන ස්පර්ශ කියන මේවා හරි වැදගත්, හරි ප්‍රිය මනාපයි... ආදී වශයෙන් මේ ලෞකිකත්වය තුළ තියෙන දහම් යාළුවන් විදිහට පෙනී ඉන්නවා. මේ අන්ධකම නිසාම, මෝඩකම නිසාම, අර පංච උපාදානස්කන්ධය කියන ඒවා හරිම හොඳයි, ප්‍රියයි මනාපයි කියල බාර ගන්නවා. අර දුන්නු උපමාවෙන් පෙන්නුවෙ මේකයි.

දැන් අර අන්ධ මනුස්සයට ඥාතීන් එකතු වෙලා දක්ෂ වෛද්‍යවරයෙක් ලවා බේත් කරන කොට ඇස් පේන්න පටන් ගත්තොත් මොකද වෙන්නෙ? දැන් ඔහු බලනවා අර යාළුවා කියපු දේ ඇත්තද කියල. මේ සුදු හොඳ මටසිළුටු රෙද්දක් කියල කළු ගොමස්කඩ රෙද්දකට මාව රැවැට්ටුවනෙ, මෙච්චර කල් මාව රවට්ටලනෙ තිබුණෙ, මට ඇස් පෙනිච්ච නැති නිසානෙ මේක වුණේ, දැන් මගේ යාළුවා විදිහට පෙනී හිටපු කෙනා ඇත්ත වශයෙන්ම මගේ හතුරෙක් මිසක් ප්‍රිය මනාප කෙනෙක් නෙවෙයි කියන මේ කාරණා දැන් ඔහුටම පේනවා. දැන් අර වස්ත්‍රය අප්‍රිය අමනාප දෙයක් විදිහටත්, ඒක දීපු යහළුවා හතුරෙක් විදිහටත් ඔහුට පේන්න පටන් ගන්නවා. මේ උපමාව අනුව පෘථජ්ජන ගති ස්වභාව තියෙන පුද්ගලයට මේ ආර්ය ධර්මය අහන්න ලැබුණම, නැණ නුවණ තියේනම්, හේතු වාසනා තියේනම් පංච උපාදානස්කන්ධය අනිච්චයි, දුක්ඛයි, අනත්තයි කියල ලෝකයේ අසාරත්වය දකින්න අවස්ථාවක් එනවා. ඒ දහම් ඇස පහල වුණාට පස්සෙ, වටිනවයි කියල හිතාගෙන හිටපු පංච උපාදානස්කන්ධය අර ගොමස්කඩ කළු රෙද්දක් වගේ දකිනවා. මෙබඳු පංච උපාදානස්කන්ධය හොඳයි කියන දහමක් ලෝකෙ තිබුණ නම් ඒක මිතුරු දහමක් නෙවෙයි, රවටන හතුරු දහමක්, හතුරො, මිතුරො වගෙයි මා කරා ඇවිදින් තියෙන්නෙ කියල දැන් වැටහෙනවා.

එහෙනම් තමන් මෙච්චර කල් රැවටිලා ඉඳල තියෙන්නෙ කියල අර ගොමස්කඩ රෙද්ද ගැනයි, ඒක දුන්නු පුද්ගලය ගැනයි තිබිච්ච ඇල්ම අත හැරෙනව වගේ, පංච උපාදානස්කන්ධය ගැන තිබිච්ච යහපතයි කියන දෘෂ්ටිය අත්හැරෙනවා, ඒකෙන් මිදෙනවා. මේ විදිහට පංච උපාදානස්කන්ධය ලෙඩක්, ගඩක්, උලක් විදිහට, දුකක් විදිහට යථා නුවණට වැටහිච්ච දාට පංච උපාදානස්කන්ධයේ ඡන්ද රාගය පහ වෙනවා. ඒ කියන්නෙ රූපයේ, වේදනාවේ, සංඥාවේ, සංඛාරයේ, විඤ්ඤාණයේ යම් ඡන්ද රාගයක් තිබුණ නම් ඒවා පහවෙනවා. ඒ පංච උපාදානස්කන්ධයේ ඡන්ද රාගයෙන් මිදුනම ඔහුට උපාදාන නිරෝධ වෙනවා. එතකොට භව නිරෝධයත්, භව නිරෝධයෙන් ජාති නිරෝධයත්, ජාති නිරෝධයෙන් ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස කියන මේවත් නිරෝධ වෙනවා. ඒ තමයි ආරෝග්‍යය, නිවන කියල තමන්ටම දැකගන්න පුළුවන්.

දැන් හිතල බලන්න ඕන, ආරෝග්‍යා පරමා ලාභා කියන මේ පදවලට සියලු භාෂා රීති ව්‍යාකරණ භාෂා නිරුක්ති යොදල අර්ථ විග්‍රහ කළත්, බුද්ධ දේශනාවේ හරවත් අරුත ගන්න පුළුවන්ද කියල. සියලු භාෂා රීති, භාෂා නිරුක්ති ව්‍යාකරණ ඉක්මවා වටහා ගත යුතු ධර්මාවබෝධයටයි බුදු මග කියන්නෙ කියල මේ කතාවෙන් ඔප්පු වෙනවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ලොව සැමට එක සේ පොදු අනිච්චතාව 5

ලෝකයේ අනිච්ච ස්වභාවය, එහෙමත් නැත්නම් ලෝකය අපේ කැමැත්තට පවත්වන්න බැරි බව, තවත් විදිහකට කිව්වොත් ආස්වාදය අපේ කැමැත්ත ඉෂ්ට නොකරන බව කියන මේ ධර්මතාවය තවත් පැති කඩකින් විග්‍රහ කිරීම තමයි මේ ලිපියෙන් කරන්නෙ.

අද බොහොමයක් අය කියන කතාවක් තමයි මේ. "අපි හොඳ බෞද්ධයො. අපි පව් කරන්නෙ නෑ. අපි උම්බලකඩ කෑල්ලක්වත් කන්නෙ නෑ. එළවළු විතරයි කන්නෙ. අපි ගොඩක් පින් කරනවා. දඹදිව වන්දනා කරල තියෙනවා. මරණයට කැප වෙච්ච කිරි හරක් මෙච්චර ප්‍රමාණයක් නිදහස් කරල තියෙනවා. අපි කිසිම සතෙකුට හිංසාවක් කරන්නෙ නෑ. හැබැයි අපිටම තමයි ඔක්කොම කරදර, කිසිම සහනයක් නැත්තෙ. අන්‍යාගමිකයන්ට නම් කිසි ප්‍රශ්නයක් නෑ. ඒ මිනිස්සු සත්තු මරා ගෙනත් කනවා. හැබැයි ඒ රටවල් හොඳට දියුණු වෙලත් තියෙනවා. ආර්ථික ප්‍රශ්නත් අඩුයි." එහෙනම් අපි බලන්න ඕන, බෞද්ධ ඉතිහාසයක් තියෙන අපේ රටට, ඒ වගේම උපතින්ම බෞද්ධ කියල කියන අපිට ඇයි මෙහෙම වෙලා තියෙන්නෙ කියල.

තමන් අදහන ආගම මොකක් වුනත්, මොන රටේ හිටියත්, හැමෝටම පොදු ලෝක ධර්මතාවයක් තියෙනවා. ඒකට ජාති ආගම් කුල භේද බලපාන්නෙ නෑ. හම සුදු වුනත් එකයි, කළු වුනත් එකයි. ඇමෙරිකාව, එංගලන්තය, ජපානය වගේ ආර්ථික දියුණුවක් ඇති රටක් වුනත් එකයි, ඒ තරම් ආර්ථික දියුණුවක් නැති අප්‍රිකා මහද්වීපයේ රටක් වුනත් එකයි. අද බෙදල තියෙන විදිහට තුන් වෙනි ලෝකෙ රටක් වුනත් එකයි. දුක්පත් වුනත් එකයි, පොහොසත් වුනත් එකයි. ලෝක පැවැත්ම තියෙන්නෙ හේතු ඵල රටාවකට අනුව. සත්වයාගෙ කැමැත්ත අකමැත්ත ඒකට බලපාන්නෙ නෑ. හේතුවට අනුකූල ඵලයක් විද්‍යමාන වෙනවා. හේතු ඵල ධර්මය බලපාන්නෙ බෞද්ධයන්ට විතරක් නෙවෙයි. එහෙනම් ඉහතින් විස්තර කරපු කරුණු එකින් එක විග්‍රහ කරල බලන්න ඕන.

**උපතින්ම බෞද්ධ වුන නිසා අපි හැබෑ බෞද්ධයො වෙනවද? මව් කුසකින් බෞද්ධයො බිහි වෙනවද? සිදුහත් කුමාරය ඉපදෙන කොට බෞද්ධයෙක්ද? බුදු පියාණන් වහන්සේ බුදු වෙලා බණ කිව්වෙ බෞද්ධයන්ටද?** ඇත්තටම බෞද්ධයෙක් වෙන්නෙ කොහොමද? බෞද්ධයා කියන වචනෙ



නිරුක්තිය තෝර ගත්තනම් මේක ලේසියෙන්ම විසඳගන්න පුළුවන්. බව+උද්ධ = බෞද්ධ. බවය උදුරා දමන වැඩපිළිවෙලට පිළිපන් තැනැත්තා තමයි හැබෑ බෞද්ධයෙක් වෙන්නෙ. අනෙක් සියල්ලෝම නාමික බෞද්ධයො ගණයට වැටෙන්නෙ.

එතකොට බුදු පියාණන් වහන්සේ බණ කිව්වෙ අබෞද්ධයන්ට. ඔවුන් බණ අහල ධර්මය වටහගෙන බෞද්ධ වුනා මිසක් උපතින් බෞද්ධ නෙවෙයි. අද නම් බණ කියන්නෙ තිසරණය සහිත පංච සික්ෂා සමාදන් කරවල. හැබැයි ඒ කාලෙ එහෙම කරපු බවක් ත්‍රිපිටකයේ කොහේවත් සඳහන් වෙන්නෙ නෑ. අඩුම ගානෙ සිල් වතක පිහිටල බණ අහපු බවක්වත් පේන්න නෑ. භද්ද වග්ගිය කුමාරවරු බණ අහන්න වාඩි වෙන්න කලින් මොනවද කළේ කියල අපි අහල තියෙනවා. අංගුලිමාල බණ අහන්න කලින් බුදු පියාණන් වහන්සේගෙ ඇඟිලි කපාගන්න පස්සෙන් පැන්නුවා. හැබැයි අන්තිමට රහත් වුනා. ආලවක යක්ෂයා බණ අහන්න කලින් බුදු පියාණන් වහන්සේට කතා කරපු හැටි අපි අහල තියෙනවා. අද අපි අන්‍යාගමික පූජකතුමෙකුටවත් එහෙම කතා කරන්නෙ නෑ. හැබැයි ඒ සියළු දෙනාම බණ අහල ධර්මාවබෝධය ලැබුවට පස්සෙ නිත්‍ය සීලයක පිහිටියා. ඒක ධර්මාවබෝධය නිසා ලැබිච්ච හික්මීමක්. ඒ කියන්නෙ ධර්මය තුලින් ලබපු විනයක්. එහෙම නැතුව සමාදන් වෙච්ච සිල් වතක් නෙවෙයි. ඒක නොකැඩෙන සීලයක්. ළය සිසිල් වීමක්. මෙතෙක් කල් විඳපු ගිනි අඩු වීමක්. ධර්මාවබෝධය පූර්ණ වෙච්ච දවසට ඒ ගින්න සදහටම නිවෙනවා.

ඒ නිසා අපි බෞද්ධ කියන ආගමික ලේබලය ගහගෙන සුද්ධ වෙන්න හැදුවට හරියන්නෙ නෑ. ලෝකයේ තියෙන්නෙ හේතු ඵල ධර්ම. ලෝකයේ කිසිම දෙයක් අපේ කැමැත්තට පවත්වන්න බෑ. අලෝභයේ හේතු ඵලය තමයි ලැබීම පහළ වීම. අද්වේශයේ හේතු ඵලය තමයි සමගිය. අමෝහය තමයි නුවණට හේතු වෙන්නෙ. අද බෞද්ධ කියන අපිද අලෝභයෙන්, අද්වේශයෙන්, අමෝහයෙන් ඉන්නෙ, එහෙම නැත්නම් අබෞද්ධයොද කියල විමසල බලන්න ඕන.

අද වෙන තුරුත් ඇමරිකාවෙ බොහෝ පළාත්වල ගෙවල් දෙකක් අතර මායිම වෙන් කරන වැටක් හෝ තාප්පයක් නෑ. ඔවුන් අන්‍යෝන්‍ය අවබෝධයෙන් තමන්ගෙ සීමාව දන්නවා. ඒක වෙනස් කරන්න යන්නෙත් නෑ. එහෙම අවශ්‍යතාවයක් ඇත්තෙත් නෑ. අනිත් එක තමයි අවශ්‍යතාවයට උදව් කරනව මිසක්, අනුන්ගෙ ඒවා හොයන්න යන්නෙත් නෑ. එංගලන්තෙ වාහන දෙකක් හැපුනොත් දෙන්නට දෙන්න හිනා වෙලා අතට අත දීල තමන්ගෙ වාහන, රක්ෂණ සමාගම හරහා හදා ගන්නව මිසක් එතැනට වෙලා ගහ මරා ☞

ගන්න යන්නෙ නෑ. ඔවුන් වාහනය අදාල සමාගමට හදන්න පවරල තමන්ගෙ වැඩක් කරගන්නව මිසක් එතැනට වෙලා එක් එක්කෙනාට වරද පටවමින් ද්වේශයෙන් රත් වෙලා දුක් වෙවී ඉන්නෙ නෑ. අනිත් කෙනාගෙන් වැඩි වන්දියක් ගන්න දඟලන්නෙ නෑ. උසාවියකට ගියත් ඇත්ත කියල ඇත්තෙන් කරුණු පෙන්වල තමන් බේරෙන්න හදනව මිසක් බොරු කියල බේරෙන්න හදන්නෙ නෑ.

අනෙක් කරුණ තමයි ඔවුන්ගෙ ගේ දොර, ඉඩකඩම්, යාන වාහනවලට වගේම දරු මල්ලන්ට තියෙන ඇලීම් බැඳීම් හරිම අඩුයි. ගොඩක් අය ජීවත් වෙන්නෙ කුලී නිවාසවල. අපේ අය වගේ ගෙවල් දොරවල් තමන්ටම කියල හදාගෙන වැට කඩොලු ගහගෙන ඒවායේ ඇලිල ගැලිල ඉන්නෙ නෑ. දරු මල්ලන් වුනත් පොඩි කාලෙදි අවශ්‍ය ඉගෙනීම් කටයුතු ආදියට උදව් උපකාර කරල, ලොකු මහත් වෙන කොට ඔවුන්ට තනියම තමන්ගෙ වැඩ පළ කරගන්න දෙනවා. ළමයින්ට ඇලෙන්නෙත් නෑ. ඔවුන්ව අල්ලගෙන තමන්ට ඕන විදිහට හසුරුවන්න යන්නෙත් නෑ. ඒ කියන්නෙ, පන්තියේ පළවෙනිය වෙයන්, අහවලාට වැඩිය ලකුණු ගනින්, වෛද්‍යවරයෙක් වෙයන්, ඉංජිනේරුවෙක් වෙයන්, අහවල් ජාතියේ එකෙක් වෙයන්... මේ ආදී වශයෙන් එකෙක් පරයා නැගී සිටින අනවශ්‍ය තරඟයකට ඇදල දාන්නෙ නෑ. අපේ රටේ නම් ශිෂ්‍යත්ව විභාගෙටත් කලින් ඉඳන්ම දෙමව්පියන්ට තියෙන තරඟකාරී දාහය ගැන අමුතුවෙන් කියන්න ඕන නෑ. ළමයින්ට වැඩිය දෙමව්පියො තමයි බය වෙලා ඉන්නෙ. බෞද්ධ කියන අපේ රටේ එහෙම වුනත්, අබෞද්ධ කියන පිටරටවල තත්වය වෙනස්. හැබැයි ඒ වෙනස බුදු දහමට එකඟයි. ඉතිං සමාජයේ වැඩි පිරිසක් මේ විදිහට අලෝභ, අද්වේශ වෙනකොට ඒකෙ හේතු ඵලයක් විදිහට ඔවුන්ට ලැබීම පහල වීමත්, ඒ රටවල සමගිය සමාදානය ඇති වීමත් අරුමයක් නෙවෙයි. දැන් අපේ රටේ බෞද්ධ කියන බොහෝ අයට මේ ලක්ෂණ තියෙනවද කියල හිතල බලන්න.

අපේ රටේ වැඩි කොටසක් තදින්ම ඇලිල බැඳිල ඉන්නෙ ළමයින්ටයි, ගේ දොර ඉඩකඩම්වලටයි. ඒ නිසා මැරුණත් ඒව දාල යන්නෙ නැතුව විවිධ අමනුස්සයො විදිහට, බොහෝ කොටම ඥාති ප්‍රේතයො විදිහට ඒවටම ඇලිල ගැලිල දුක් විඳිනවා. යම් තැනක ලෝභයයි ද්වේශයයි තියෙනව නම් බෞද්ධ කියන නම ගහගෙන හිටියට වැඩක් නෑ. ලෝභයේ හේතු ඵලය විදිහට සම්පත්තියෙන් පිරිහීමත්, ද්වේශයේ හේතු ඵලය විදිහට ගැටීමත් ඒ සමාජයෙන් ඉවත් කරන්න බෑ. අනෙක් දියුණුයි කියන රටවල බෞද්ධ කියන නම නැති වුනාට හේතු ඵලය ක්‍රියාත්මක වෙනවා. නිවන් දකින දහම නොතිබුනත්, කිසිම ආගමක් අදහන්නෙ නැති වුනත්, මොකක් හරි ආගමක් ඇදහුවත්, අලෝභ අද්වේශ හේතුවෙන් ලෞකික සැප සම්පත් පහල වෙනවා. ඒ සැප සම්පත් ඔවුන්ගෙ කැමැත්තට, එහෙම නැත්නම් ඔවුන් ආගමක් අදහපු නිසා හෝ ආගමක් අදහපු නැති නිසා හෝ පහල වුනා නෙවෙයි. හේතු ඵලයක් විදිහටමයි පහල වෙන්නෙ.

ලෝක සත්ත්වයා නිවන් දකින ධර්මය, එහෙම නැත්නම් ලෝකයේ අනිච්ච, දුක්ඛ, අසාර ස්වභාවය තේරුම් නොගත්තට, කවුරුහරි ආගමික සාස්තෘවරයෙක් හෝ කිසියම් කෙනෙක් ලෞකික සැප සම්පත් ලබා දෙන විදිහක් කියල දෙනව නම් ඒකට හරි කැමතියි. මොකද මේ ආපු අනන්ත සසර ගමනෙදි ඔවුන්ට තියෙන අත්දැකීම තමයි ලෞකික සැප සම්පත් විඳීම. බලාපොරොත්තුවත් ඒකයි. අනන්ත දුක් විඳින අතරෙ ඔවුන් ඒ විඳපු ලෞකික ආස්වාදය තමයි අග්‍ර කරන්නෙ. අනෙක් බොහෝ ආගම්වල ප්‍රතිඵලය විදිහට පෙන්වන්නෙ පැවැත්මක තියෙන ලෞකික සම්පත්. ඒකට හුරු වෙලා තියෙන ලෝක සත්ත්වයා ඒ ආගම් බොහොම ආදරයෙන් වැළඳ ගන්නවා. නමුත් අද බොහෝ කොටම බෞද්ධයන්ට වෙලා තියෙන්නෙ නිවන මොකක්ද කියල දන්නෙත් නෑ, අත්දැකීමක් ඇත්තෙත් නෑ. ධර්මාවබෝධය තුලින් ඒක දැනගන්නව මිසක් වෙන ක්‍රමයක් ඇත්තෙත් නෑ. සත්ධර්මය අහල වැටහුනොත් හරි. නොවැටහුන කෙනෙක් නිවන කොහොම තේරුම් ගන්නද?

ලෞකික උපමාවකින් කියනව නම්, කවදාවත් ලුණු කාල නැති කෙනෙකුට ලුණු රහ වචනයෙන් තේරුම් කරල දෙන්න විදිහක් තියෙනවද? ඔහුට ලුණු කැටයක් දීල ඒක දිව ගාල ලුණු රහ දැනගන්න කියනව මිසක්, ලුණු රස දැන ගන්න වෙන විදිහක් තියෙනවද? අද නාමික බෞද්ධයන්ට වෙලා තියෙන්නෙත් ඒ වගේ දෙයක්. ධර්ම මාත්‍රයක් වැටහිච්ච කෙනා දන්නවා, මාර්ගය ඉක්මනට පූර්ණ කරගත්තොත් සදහටම නිවීම සැනසීම උදාවෙන බව. නොවැටහිච්ච කෙනා හිතන්නෙ මොන විදිහටද? "කොහොමද මේ මෙච්චර වටින ලෝකය දාල යන්නෙ? දරු මල්ලො නෑදැයො හිත මිත්‍රයො නැතුව ඉන්නෙ කොහොමද? මගේ අයට මම නැතුව කවුද ඉන්නෙ?..." ඔය වගේ විපරීත අදහස් ගන්නවා. මේ එකතුව හෙවත් සං වීම සාරයි කියල අරගෙන සංසාර ගමනක් යමින් අනන්ත දුක් විඳිනවා. ඒ නිසා බොහෝ අයට මෙලොව දියුණුවත් නෑ, පරලොවට යමක් කරගන්න දන්නෙත් නෑ, නිවනත් නෑ.

අනෙක් බොහෝ ආගම්වල උගන්වන්නෙ, මිනිසාට සේවය කිරීම තමයි මිනිසාගේ පරම යුතුකම කියල. ඒ ආගම් අදහන අය ඒක බොහෝ කොටම පිළිපදිනවා. මොකද ඔවුන්ට අත්දැකීමක් තියෙනවා, ඒකෙන් ඔවුන්ට සැප සම්පත් ලැබෙන බව. ඒ නිසා ඔවුන් මනුස්සයට පහර ගහන්නෙ නෑ. ඒකට බයයි. හැබැයි සත්තු නම් මරාගෙන කනවා. බුදු දහමෙත් මනුස්සයින්ට හිංගි හිංසා කිරීමේ බරපතලකම පෙන්වල තියෙනවා. හැබැයි අද වෙනකොට ඒ කාරණය සැඟවිලා තියෙන්නෙ. උපසම්පදා භික්ෂුවක් පාරාජිකා වන ක්‍රම හතරක් තියෙනවා. ඒකෙන් තුනක්ම මනුස්සයින්ට කරන වැරදි හා සම්බන්ධයි. ඒවා කළොත් උපසම්පදා භික්ෂුවක් නම් සිවුරු දාල යන්න ඕන. ඒ කියන්නෙ ආර්ය විනයේ මරණය. පළවෙනි එක තමයි කළල රූපයේ පටන් තුන් කුදු මහල්ලා දක්වා මනුස්සයෙක් මැරීම, මැරවීම, මැරීමට අනුබල දීම හා මැරීම වර්ණනා කිරීම. හැබැයි සතෙක් මැරුවොත්, ගහක කොළයක් කැඩුව හා සමාන වරදක් තියෙන පොඩි ඇවතක් තමයි පනවල තියෙන්නෙ. දෙවෙනි එක තමයි මනුස්සයෙකුට අයිති දෙයක් සොරකම් කිරීම, කරවීම, සොරකමට අනුබල දීම හා සොරකම වර්ණනා කිරීම. තුන්වෙනි එක තමයි ☞

ධ්‍යාන මගඵල වගේ නැති ගුණයක් ඇති බවට අනුන්ට ඇඟවීම.

මනුස්සයෙකුට හිංගි හිංසා කිරීම මහා පාපයක්. තිරිසන් සතෙකුට හිංගි හිංසා කිරීමත් පාපයක් තමයි. හැබැයි කුඩා පාපයක්. මොකද හේතුව, මනුස්සය කියන්නෙ අලෝභ අද්වේශ කර්මයකින් පටිසන්ධිය ලබපු සුගති සත්වයෙක්. ඒකට අමෝහයත් එකතු වෙලා තිබුනොත් නිවන් දකින්නත් හේතු වාසනා ඇත්තෙක් වෙන්න පුළුවන්. එතකොට ගුණ මහත්වයෙන් වැඩියි. නමුත් තිරිසන් සත්වයෙක් කියන්නෙ ලෝභයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් උපන් සතර අපාගත සත්වයෙක්. තිරිසනා මනුස්සයෙකුට වඩා ගුණ මහත්වයෙන් ගොඩක් හීනයි. ඒ කියන්නෙ මනුස්සයා තිරිසනෙකුට වඩා ලක්ෂ කෝටි ගණනකින් ගුණ මහත්වයෙන් වැඩියි. මනුස්සයෙක් මනුස්සයෙකුට හිංගි හිංසා කිරීම මහා පාපයක් වෙන්නෙ ඒ නිසා. මනුස්සයෙක් මනුස්සයෙක්ව මරනවා, සත්තු දාහක් මරනවා. මේ දෙකෙන් පාපය වැඩි මොකේද කියල බැලුවම, සත්තු දාහක් මරපු එක දෙවෙනි වෙලා මනුස්සයෙක් මරපු එක පළවෙනි වෙනවා. ඒ වගේම මනුස්සයෙක් මනුස්සයෙකුට පහර දෙනවා, තිරිසන් සත්තු දාහකට පහර දෙනවා. පාපය බැලුවොත් මනුස්සයාට පහර දීම බලවත්. ඒ මැරීමට හෝ පහරකෑමට ලක්වෙන මනුස්සයගෙ ගුණ මහත්වය අනුව ඒක අඩු වැඩි වෙන්න පුළුවන්. හැබැයි මේ සත්තු අතර බැරි වෙලාවත් පෙරුම් පුරාගෙන යන බෝසත් සත්වයෙක් හිටියොත් ඒ වගේ සතෙකුට හිංගි හිංසා කිරීම බරපතල පාපයක් වෙනවා. ඒක වෙනම කාරණයක්.

එතකොට අද සම්මත බෞද්ධයො කියන අය මොකක්ද කරන්නෙ? තිරිසනුන්ට හිංගි හිංසා කිරීමෙන් වැළකෙන එක පළවෙනි කරගෙන, ඒක ලොකු පිනක් කියල හිතාගෙන ඉන්නෙ. හැබැයි මනුස්සයෙකුට හංගි හිංසා කරන එක ගණන් ගන්නෙවත් නෑ. ඒක දෙවෙනි කරනවා. ඒක තමයි ලොකු පව කියල දන්නෙ නෑ. අද බෞද්ධයන්ට මේවා කියල දෙන්නෙත් නෑ. මරන්න ඉන්න හරක් බේරන එක තමයි ලොකුම පින කියල හිතාගෙන ඉන්නෙ. ඒක පිනක් තමයි. හැබැයි පොඩි පිනක්. අපි හරකව මරණෙන් බේරුවම හරකට අපි මොනවද කරල දුන්නෙ? අපි ඌව තිරිසන් බවින් හෝ හරක් බවින් නිදහස් කළාද? නැත්නම් සතර අපායෙන් නිදහස් කළාද? නමුත් අපිට කරන්න පුළුවන් දෙයක් තියෙනවා. හරකෙක් වෙන්න ඉන්න මිනිහෙක්ව හරක් බවෙන් සදහටම නිදහස් කරන්න අපිට පුළුවන්. අපිට කරන්න තියෙන්නෙ ඒ මුදල යොදවල, පුළුවන් නම් තමන් හෝ නැත්නම් වෙනත් සත් පුරුෂයෙක් ලවා සත්ධර්මය දේශනා කරවීම, ධර්ම සාකච්ඡාවක් සංවිධානය කිරීම. එතකොට හේතු වාසනා තියෙන පුද්ගලයො හිටියොත් ඒ බණ අහල



ධර්මාවබෝධය ලබාගෙන සදහටම තිරිසන් බවෙන් මිදෙනවා. අපි වියදම් කරපු මුදල කවදාවත් අපතෙ යන්නෙ නෑ.

අද බොහොමයක් බෞද්ධයො තිරිසනුන්ට හිංගි හිංසා කිරීම වගේ අල්ප මාත්‍ර පාපයන්ගෙන් වැළකීම පළවෙනි කර ගෙන ඒක ඉතා ඉහළින් ආරක්ෂා කර ගෙන ඉන්නවා. හැබැයි මනුස්සයෙකුට හිංගි හිංසා කිරීම ඉතා සුළු දෙයක් විදිහට සලකන්න පුරුදු වෙලා ඉන්නවා. බුදු පියාණන් වහන්සේ පෙන්වපු දහමටත් එහා දහමක් තමයි අග්‍ර කරගෙන ඉන්නෙ. නමුත් මනුස්සයෙකුට වචනයෙන් සාප කිරීමත් මහා පවක්. ඉතින්, අපි අල පලා කාල ජීවත් වෙන්නෙ, උම්බලකඩ කෑල්ලක්වත් කන්නෙ නෑ, ඇයි මේ අපටම කරදර කියල අහනවා, සහනයක් නැත්තෙ ඇයි කියල ලතැවෙනවා. කන්නෙ එළවලුයි බතුයි වුනාට කරන්නෙ මොනවද කියල බලන්න ඕන.

"අරූ මගේ වැට මායිම අල්ලන්න ගියා, මම ඉතින් පොඩි හූනියමක් කළා, කාටවත් කියන්න එපා..." මේ වගේ වැඩ තමයි කරන්නෙ. යන්ත්‍ර මන්ත්‍ර කොඩිවින සාස්තරයට අනුව පුංචිම කොඩිවිනයක් වුනත් අවුරුදු පනහක් විතර බලපානවා. ලොකු කොඩිවිනයක් පරම්පරා හතකට බලපානවා. හරියට හිරෝෂිමාවට පරමාණු බෝම්බ දාපු එක අදටත් බලපානව වගේ. හොඳ සරුසාර වත්තකට හූනියම් පාළුවක් එන විදිහෙ කොඩිවිනයක් කළොත් පරම්පරා හතක් යනකල් විනාසයි. කරන්න යන්නෙ පොඩි වෙලාවයි. වට පිට බැලුවා, මොකකින් හරි බිම පොඩ්ඩක් හෑරුවා, ජීවම් කරපු මිනී අළු වගේ මොනව හරි දෙයක් වැළලුවා, යන්න ගියා. එච්චරයි. හැබැයි ඒ සාපයෙන් මිදෙන්න ලේසි නෑ. කරන්න ලේසියි. නමුත් කොඩිවිනයක් කපන එක හරි අමාරුයි. හරියට කපන්න දන්න අයත් අද කාලෙ බොහොම අඩුයි. කරන්න අය නම් ඕන තරම් ඉන්නවා. **පත්තරයක් බැලුවොත් පිනට වශී කියල දැන්වීම් කොච්චර නම් තියෙනවද? එක එක වර්ගයේ ගුරුකම් කරන අය කොච්චර ඉන්නවද? අද මේ දියුණුයි කියන සමාජයේ මේ වගේ වැඩ කරවගන්න අය හරියට ඉන්නවා. ඔය පොඩි දේවාලයක් ළඟට ගිහින් විපරම් කරල බැලුවොත් අද රටේ තත්වය දැනගන්න පුළුවන්. ඔය වගේ වැඩ කර කර කියනවා, අපි හොඳ බෞද්ධයො කුරා කුඹියෙකුටවත් හිංසාවක් කරන්නෙ නෑ කියල. ඉතින් හරියිද?**

අද මිනිස්සුන්ට හැදෙන ලෙඩ රෝගවලට බෙත් නැති වුනාම, බෙත්වලින් ගුණයක් නැති වුනාම හිතන්නෙ ඒවා කර්ම රෝග කියල. කර්මය මුල් වෙනව තමයි. කොහොමත් ලෙඩ රෝග එන්නෙ කර්මානුරූපව තමයි. ඒ වුනාට අද බොහොමයක් ලෙඩ රෝගවලට මූලික හේතුවක් තමයි මනුස්සයො විසින් කරගෙන තියෙන ප්‍රයෝග විපත්තිය. ඒකෙ එක කොටසක් තමයි නොයෙක් ගුරුකම් කරල අමනුස්සයො මිනිස්සුන්ගෙ ශරීරවලට බැඳල දැමීම. එක්කො කවුරු හරි වශී කරගන්න, එහෙම නැත්නම් ඉඩම් ප්‍රශ්නයකට, නඩු හබ නිසා මේ වගේ මොකක් හරි දෙයකට මේ වගේ වැඩ කරනවා. අමනුස්සයො ශරීරයට

බැඳල දාපුවම අමනුස්සයට ඒ ශරීරය වාසස්ථානය වෙනවා. බොහෝ කොටම සොහොනක වගේ ඉන්න, යන්න එන්න තැනක් නැති, රාග ද්වේශ මෝහ ආහාර කරගත්ත නීච අමනුස්සයො තමයි මේ වගේ වැඩවලට යොදා ගන්නෙ. ඊට පස්සෙ අමනුස්සයා වාසස්ථාන කරගත් ඒ මනුස්සයගෙ ශරීරය අමනුස්ස ජරාවෙන් පිරුණු ස්ථානයක් වෙනවා. ටික කාලයක් යනකොට පිළිකාවක් හැදිල කියල කියනවා. හැබැයි ඒකෙන් වුනා කියල දන්නෙ නෑ. මේ වගේ මන්තර මතුරනකොට මොනවද කියන්නෙ? ඇටවලට අරක් ගන්... ඇට මිදුළුවලට අරක් ගන්..... ඉඳුරන්වලට අරක් ගන්... පුට්ටු පුට්ටු හිර හිර පුට්ටු කියල හිර කරල ශරීරයට බඳිනවා. ඒකට ගැලපෙන්න අක්ෂර, ගණ, මාත්‍රා පිහිටවල මන්තර හදල තියෙනවා. අනන්ත සසරෙ සැරි සරාගෙන ආවෙ ලෝභ, ද්වේශ, මෝහවලින් නිසා නරක පැත්තට මන්තර සිද්ධිය නිකම්ම ලැබිල තියෙන්නෙ. පරම අසත් පුරුෂයෙක් නම් හත් පාරක් මතුරන කොට වැඩේ හරි. එකසිය අට පාරක් මැතිරුවොත් කවර කතාද? හැබැයි පිරිතක ශාන්තිය ගන්න නම් දස දහස් වතාවක්වත් ජීවම් කරන්න ඕන. හොඳ පැත්තට සිද්ධි ලබන්න හරි අමාරුයි. මොකද සංසාර පුරුද්ද වැඩිපුරම තියෙන්නෙ නරක පැත්තට.

එතකොට අන්‍යාගමිකයො, මිනිස්සුන්ට සලකන්නෙ කොහොමද කියල පොඩ්ඩක් හොයල බලන්න ඕන. උදාහරණයක් විදිහට අන්‍යාගමික ව්‍යාපාරිකයින් තමන්ගෙ හිතවත් ගෝලයින්ට සලකන විදිහ බලමු. ඔවුන්ගෙ සිරිතක් තියෙනවා, කවුරු හරි සේවකයෙක් ඉතා හොඳින් විශ්වාසවන්තව අවුරුදු කීපයක් එක දිගට වැඩ කළොත්, ඔවුන් ඒ සේවකයටත් ව්‍යාපාරයක් පටන් ගන්න අත හිත දීල ආශිර්වාද කරල, එකවර ලොකු මුදලක් දීල, කඩ කැල්ලකුත් අරන් දීල, බඩු ටිකකුත් ණයට දීල, තමන්ගෙ ගනුදෙනුකරුවන් කිහිප දෙනෙකුත් යොමු කරනවා. ප්‍රදේශයේ බැංකු කළමනාකරුවන් හඳුන්වල දීල බැංකු ණයක් ගන්නත් උදව්වක් දෙනවා. මේ බව දන්න නිසා ඔවුන්ගෙ සේවකයොත් තමන්ගෙ රැකියාව උපරිමයෙන් කරනවා. හොර බොරු කරන්නෙ නෑ. දැන් ආගම මොකක් වුනත් මෙතන අලෝභයයි අද්වේශයයි තියෙනවා. ඉතින් ඒ පිරිසට දියුණුවක් මිසක් පිරිහීමක් වෙයිද? අන්‍යාගමික ව්‍යාපාර දියුණු වෙන්න මේ වගේ දේවල් ලොකු හේතුවක් වෙනවා. කැමැත්ත අකමැත්ත මොකක් වුනත් හේතු ඵලය ක්‍රියාත්මක වෙනවා. ආගම මොකක් වුනත් ලෝක ධර්මතාවය හැමෝටම බලපාන්නෙ එකම විදිහට.

තමන් දැන් ගතකරන පැවැත්ම තුල අලෝභයෙන් අද්වේශයෙන් ජීවත් වෙනව නම්, ඒ පුද්ගලයට ප්‍රවෘත්ති විපාක වශයෙන් ඵල දෙන්න ඇදිල එන්නෙ බොහෝකොටම පෙර කරන ලද පුණ්‍ය කර්ම. මේකට කියනවා අනන්තර සමනන්තර ප්‍රත්‍යය කියල. සරලව කියනව නම්, අද අලෝභ අද්වේශ පරිසරයක් සකස් කරන කොට, එහෙම නැත්නම් හොඳ සමනන්තරයක් සකස් කරන කොට, තමන්ගෙ කර්ම ගබඩාවෙන් හෙවත් අනන්තරයෙන් විපාක දෙන්න ඇදිල එන්නෙ පුණ්‍ය කර්ම හෙවත් සුදු කර්ම. කළු කියන පාප කර්ම අනන්තරයේ තිබුනත් ඒවට විපාක දෙන්න සමනන්තරය හෙවත් පරිසරය නැති නිසා ඒවා ඈත් වෙනවා. ඒ වගේ කෙනෙක් මේ අත්බවයේ සතුන්ට හිංගි හිංසා කිරීම වගේ අල්ප සාවද්‍ය පාප කර්ම කළත්, මහා සාවද්‍ය පව් විදිහට ගැනෙන මනුස්සයින්ට හිංගි හිංසා කිරීම නොකරන නිසාත්, සතුන්ට හිංසා කිරීම වගේ පොඩි පාප කර්ම බොහෝකොටම දිට්ඨ ධම්ම වේදනීය විදිහට විපාක නොදෙන නිසාත්, ඔවුන්ට මේ අත්බවයේ සම්පත් භුක්ති විඳීමේ අවස්ථාව ලැබෙනවා. ඒ නිසා ඔවුන් තමන්ගෙ ආගම තුලින් තමන්ට දියුණුවක් ලැබෙන බව අත්දැකීමෙන් දන්නවා. නීතියට බයේ හරි, තමන්ගෙ ආගමේ කියන නිසා හරි මිනිස්සුන්ට හිංගි හිංසා නොකර යහපත කිරීම තුලින් ඔවුන් ලෞකික දියුණුවක් ලබනවා.

මේවා දකින සමහර නාමික බෞද්ධයො ආගම් මාරු කරනවා. ඒ පැත්තට ගියාම හරි යයි කියල හිතනවා. සමහර වෙලාවට අබෞද්ධයින්ගෙ දියුණුව දැකල, අපිට වැරදිලා තියෙන්නෙ බුදු දහම නිසා කියල හිතල, අපිත් ගිහින් කුකුල් කොටුවක් එහෙම නැත්නම් ඌරු කොටුවක් දාගමු කියල ලොකු පව් මඩිවට පොඩි පව්ත් කරන්න පටන් ගන්නවා. එතකොට කබලෙන් ලිපට වැටෙනව වගේ තව තවත් පිරිහීමට පත්වෙනවා. ඒ නිසා බොහොමයක් බෞද්ධයො ලෞකික සම්පත්වලින් පිරිහෙනවා. ඒ වගේම නිවන හෝ නිවන් මාර්ගය පිළිබඳව හරි වැටහීමක් නැති නිසා ලෝකෝත්තර සුවය විඳින්න අවස්ථාවක් ඔවුන්ට නැති වෙලා තියෙනවා. ඔවුන් හැම පැත්තෙන්ම තැලෙනවා.

ලෝකයේ සියල්ල බහු හේතුකයි. ඒක හේතුක කිසිවක් නෑ. මේ විස්තර කළේ අන්‍යාගමිකයින්ගෙ දියුණුවට බලපාන එක හේතුවක් විතරයි. ඉහතින් විස්තර කරපු විදිහට ජීවත් නොවෙන, ධර්මානුකූලව පැවැත්ම ගෙනියන බෞද්ධයොත් ඉන්නවා. ඒ වගේම නරක පැවැත්මක් ගෙනියන අබෞද්ධයොත් ඉන්නවා. ඒ නිසා මේ කරුණු වැරදි විදිහට වටහා නොගත යුතුයි. බහුතර සමාජයේ අද පවතින, අපට පේන්න තියෙන තත්වය තමයි මේ විස්තර කළේ. ඒ වගේම සතුන්ට හිංගි හිංසා කිරීම පොඩි පාපයක් නිසා ඒවා කළාට කමක් නෑ කියල වැරදියට අදහස් නොගත යුතුයි. ඒ වගේ පොඩි පව් නොකරන ගමන් මනුස්සයින්ට හිංගි හිංසා කිරීම වගේ ලොකු පව් නොකර ඉඳීම තමයි කරන්න ඕන. එතකොට අඩුම ගානෙ ලෞකික දියුණුවක්වත් අත්දකින්න පුළුවන් වෙයි.

ඒ නිසා අපට වටහාගන්න තියෙන්නෙ, හේතු ඵලයක් විදිහට පෙර පින් නිසාත්, දැන් අලෝභ අද්වේශ පරිසරයක් ගොඩනැගීම නිසාත් සම්පත් ලැබෙන්න පුළුවන් වුනත්, ඒ මොකක් ලැබුනත් ඒ සියල්ල අනිච්ච බව. අපේ කැමැත්තට ඒවා පවත්වන්න බැරි බවත්, ආස්වාද වේදනා භුක්තිය අපේ කැමැත්ත ඉෂ්ට නොකරන බවත් වටහගෙන, හැකි ඉක්මනින් ධර්මාවබෝධය ලබාගෙන මේ සසර ගමන නිමා කරල සදාතනික සුවය වන අමා මහ නිවන ලබා ගන්න, මේ බුද්ධෝත්පාද කාලයක ලබාගත් මිනිස් අත්බවයෙන් උපරිම ප්‍රයෝජන ගැනීම තමයි දැන් වහ වහා කළ යුත්තෙ.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**චතුර හිඳුරංගලගේ**
**නුගේගොඩ**

# බුද්ධ දේශිත ආනාපාන සතිය කුමක්ද?

වසර දහස් ගණනක පටන් ආනාපාන සති භාවනාව බෞද්ධයන් අතර ඉතා ප්‍රකට භාවනාවක්. බොහෝ ගිහි පැවිදි පිරිස් බහුලව පුරුදු පුහුණු කරන භාවනා ක්‍රමයක්. ආනාපාන සතිය කියන වචනය ඇහෙන කොටම හිතට එන්නෙ ආශ්වාස (හුස්ම ගැනීම) ප්‍රාශ්වාස (හුස්ම හෙළීම) අරමුණු කරමින් වඩන භාවනාවක් ගැන. ඒක එහෙම වුණත් ආනාපාන සතිය කියන්නෙ හුස්ම සම්බන්ධ භාවනාවක්ද කියල ත්‍රිපිටකගත බුද්ධ දේශනා ඇසුරෙන් කරුණු හොයල බලල, නිවැරදි ආනාපාන සතිය මොකක්ද කියල විමසා බැලීම තමයි මේ දහම් ලිපියේ පරමාර්ථය.

තථාගතයන් වහන්සේ ලෝකයට පහළ වෙන්න පෙර පඨවි, ආපෝ, තේජෝ, වායෝ... ආදී ලෝක අරමුණු අරගෙන භාවනා කරන ක්‍රම බොහොමයක් තිබිල තියෙනවා. ඒවා අනාර්ය භාවනා ක්‍රම මිසක් ආර්ය භාවනා ක්‍රම නෙවෙයි. වායුව අරමුණු කරගෙන වායෝ කසින භාවනා කරන ක්‍රම ඒ කාලෙත් තිබුණා. ඒ වගේම ප්‍රාණයාම වගේ භාවනා ක්‍රම අදත් යෝගීවරු කරන්නෙ හුස්ම රැල්ල අරමුණු කරගෙන.

බුදු දහම කියන්නෙ "පුබ්බේ අනනුස්සුතේසු ධම්මේසු" කියන බුදු වදනට අනුව, පෙර නොඇසූ විරූ දහමක්. ඒ දහම තුළ ඊට පෙර තිබ්බ්ච යෝගී භාවනා ක්‍රම තියෙන්න බෑ. ඒ නිසා වායුව වගේ ලෞකික අරමුණු අරගෙන ආර්ය මාර්ගය වඩන මගක් බුද්ධ දේශනාවල සඳහන් වෙන්නෙ නෑ.

යෝගීවරු අදත් වායුව වගේ ලෞකික අරමුණු ඔස්සේ බවුන් වඩල ධ්‍යාන, අභිඥා වගේ අධි මානසික ශක්තීන් ලබා ගන්නවා. නමුත් බෞද්ධ සමාජය මේ ක්‍රම අනුගමනය කළත්, යෝගීන් ලබන තරමේ චිත්ත ශාන්තියක්වත් බෞද්ධ නාමයෙන් ඉන්න අය ලබන බවක් දැනගන්න නෑ. ඒකටත් හේතුවක් තියෙනවා. යෝගීවරු මේ ලෞකික භාවනා ක්‍රම අනුගමනය කරන්නෙ බුද්ධ දේශනාවක් කියල හෝ බෞද්ධ භාවනා ක්‍රම විදිහට නෙවෙයි, ඒ ඒ යෝගී පරපුරෙන් පැවතගෙන එන භාවනා ක්‍රම විදිහට අරගෙන.

බෞද්ධ සමාජය දැනට කරන ආනාපාන සති වගේ භාවනා ක්‍රම වඩන්නෙ තථාගතයන් වහන්සේ දේශනා කරපු දෙයක් විදිහට අරගෙන. ඒ තුළ විසාල වරදක් සිද්ධ කර ගන්නවා. බුදු පියාණන් වහන්සේ දේශනා නොකළ දෙයක් දේශනා කළා කියල හෝ දේශනා කළ දෙයක් දේශනා නොකළ දෙයක් විදිහට හෝ ගැනීම බුදු අණ කැඩීම නම් වරදට



අහුවෙනව වගේම, තථාගතයන් වහන්සේට කරන බරපතල නිග්‍රහයක් වෙනවා. ඒ නිසා හුස්ම අරමුණු කරගෙන වඩන ආනාපාන සති භාවනාවෙන් ඒ අයට ප්‍රතිඵලයක් නොලැබෙන්න ඒක හේතු කාරකයක් වෙනවා. බෞද්ධ නාම ධාරීන්ට වර්තමානයේ කරන භාවනා ක්‍රමවලින් යෝගීන් ලබන චිත්ත ශාන්තියක්වත් නොලැබෙන්න එක හේතුවක් තමයි බුද්ධ දේශිත නොවන දෙයක් බුද්ධ දේශනාවක් කියල වරදවා ගැනීම.

අතීත බුදු පියාණන් වහන්සේලා ආනාපාන සතිය නිවැරදිව දේශනා කළත්, ඒ බුද්ධ වචන පෘතජ්ජනයන් අතරට යෑමෙන් ලෞකික අර්ථ මතු වෙලා දහම් අර්ථ යටපත් වුනා. මේකට හොඳ උදාහරණයක් මාගන්ධියා සූත්‍රයේ තථාගතයන් වහන්සේම පැහැදිලි කරල තියෙනවා. "ආරෝග්‍යා පරමා ලාභා..." කියන ගාථාව අතීත බුදු පියාණන් වහන්සේලා දේශනා කළ බවත්, ඒක පෘථජ්ජනයන් අතරට ගිහින් ලෞකික අර්ථ මතු වෙලා දහම් අර්ථය යටපත් වූ හැටිත් උන්වහන්සේ පෙන්වා දෙනවා. ඒ නිසා අදත් "ආරෝග්‍යා පරමා ලාභා" කියන කොට, කයේ නිරෝගිකම කියල බහුතරයක් දෙනා හිතාගෙන ඉන්නවා.

මේ ආකාරයටම ආනාපාන සතියේ දහම් අර්ථයත් පෘථජ්ජනයන් අතරට ගිහින් යටපත් වෙලා, ඒක හුස්ම අරමුණු කරගෙන සිදු කරන භාවනා ක්‍රමයක් විදිහට සමාජගත වෙලා තියෙනවා. මෙතන තියෙන වරද බුද්ධ දේශනා තුළින් පැහැදිලි කරල දෙන්න යනකොට, ඒ පුද්ගලයා ධර්මය විකෘති කරන්නෙක් විදිහට හංවඩු ගහන්න තරම් අද බොහෝ දෙනෙක් සැහැසි වෙනවා.

පිම්බීම, හැකිලීම කියල උදරය අරමුණු කරගෙන කරන භාවනා ක්‍රමයකුත් සෑහෙන කාලයක පටන් සමාජයේ ප්‍රචලිත වෙලා තියෙනවා. ඒක බුරුම රටෙන් මෙහාට ආනයනය කරපු ක්‍රමයක්. නාසයේ අග හෝ තොල් පොට අග හුස්ම අරමුණු කිරීම සමහර අයට ප්‍රකටව නොදැනෙන නිසා, උදරයේ පිම්බීම හැකිලීම අරමුණු කිරීම ඊට වඩා පහසු ක්‍රමයක් බව ඒ සඳහා උපදෙස් දෙන අය ප්‍රකාශ කරනවා. හුස්ම සම්බන්ධ ආනාපාන ක්‍රමයට වඩා මේක පහසු, ප්‍රකටව දැනෙන භාවනා අරමුණක් නම්, තුන් කල් දක්නා තථාගතයන් වහන්සේට මේ පහසු ක්‍රමය හසු නොවීම පුදුම සහගතයි. සද්ධර්ම ප්‍රතිරූපක (සද්ධර්මය නමින් වෙනත් දේවල්) ලෝකයේ පහළ වීමෙන් ශ්‍රී සද්ධර්මය යටපත් වෙන බව තථාගතයන් වහන්සේ වදාළේ, මේ වගේ ක්‍රම අනාගතංශ ඥානයෙන් දැකපු නිසා.

සතර මහා ධාතු ආදී ලෞකික අරමුණු අරගෙන භාවනා කිරීමක් ☞

තථාගත දහමෙ නෑ. ලෝකයේ යථා ස්වභාවය වටහගත් කෙනෙක් අසාර ලෝක අරමුණක් අරගෙන ඒක භාවනාවක් විදිහට වඩන්නෙ නෑ. බෞද්ධයාගේ මූලික පරමාර්ථය තමයි නිවන. නිවන ප්‍රධාන කරගෙන ඒක පූර්ණ කර ගන්න ආර්ය කමටහන් වැඩීම තමයි බෞද්ධ මාර්ගය. ඒකට ලෝක අරමුණු අරගෙන භාවනා කරල හරියන්නෙ නෑ.

මේ කාරණය සනාථ කර ගන්න බුද්ධක නිකායේ නෙත්ති ප්‍රකරණයේ 62 වන පිටුවේ චතුබ්‍යුහාර විභංගයේ මේ ආකාරයේ දේශනාවක් සඳහන් වෙනවා.

“නච පඨවිං නිස්සාය ඣායති ඣායී ඣායතිච” ධ්‍යාන වඩන ආර්ය ශ්‍රාවකයා පඨවිය ඇසුරුකර ධ්‍යාන නොවඩයි, එහෙත් නිවන ඇසුරු කර ධ්‍යාන වඩයි.

“නච ආපං නිස්සාය ඣායති ඣායී ඣායතිච” ආර්ය ශ්‍රාවකයා ආපෝ ධාතුව ඇසුරු කර ධ්‍යාන නොවඩයි, එහෙත් නිවන ඇසුරු කර ධ්‍යාන වඩයි.

“නච තේජං නිස්සාය ඣායති ඣායී ඣායතිච” ආර්ය ශ්‍රාවකයා තේජෝ ධාතුව ඇසුරු කර ධ්‍යාන නොවඩයි, එහෙත් නිවන ඇසුරු කර ධ්‍යාන වඩයි.

“නච වායුං නිස්සාය ඣායති ඣායී ඣායතිච” **ආර්ය ශ්‍රාවකයා වායුව ඇසුරු කර ධ්‍යාන නොවඩයි, එහෙත් නිවන ඇසුරු කර ධ්‍යාන වඩයි.**

මේ ආදී වශයෙන් ආර්ය ශ්‍රාවකයා ධ්‍යාන නොවඩන තවත් කරුණු කීපයක්ම මේ දේශනාව තුළ පැහැදිලි කරල තියෙනවා. ඒ අනුව පැහැදිලිවම වායුව අරමුණු කරගෙන ධ්‍යාන නොවඩන බව දේශනා කරල තියෙනවා. එහෙනම් ආනාපාන සතිය කියල වර්තමානයේ හුස්ම අරමුණු කරගෙන වඩන භාවනාව තථාගත බුද්ධ වචනයට කොච්චර පටහැනිද? මේ අනුව වර්තමාන ආනාපාන සති භාවනාව ඉහත බුද්ධ දේශනාවට අනුකූල නොවන බව ඉර හඳ වගේ කංඛා විරහිතව පැහැදිලි වෙනවා. **සතිපට්ඨාන සූත්‍රය, ආනාපාන සති සූත්‍රය වගේ දේශනාවල, අස්සාස පස්සාස කියන වචනවලට හුස්ම සම්බන්ධතාවයක් නැති බවත්, මේවායේ තියෙන්නෙ වෙනත් අර්ථ විවරණයක් බවත් මනාව පැහැදිලි කරල තියනවා.** ඒ බව තවත් සූත්‍ර දේශනා කීපයකින්ම කරුණු විස්තර කරනවා.

හුස්ම ගැනීම පිට කිරීම සඳහාත් “අස්සාස පස්සාස” කියන වචන භාවිතා කරනවා. හුස්ම ගැනීම පිට කිරීම තුළ සිද්ධ වෙන්නෙ කායික පැවැත්මට අවශ්‍ය ඔක්සිජන් වායුව ගැනීමත්, අනවශ්‍ය කාබන්ඩයොක්-සයිඩ් වායුව පිටකිරීමත්. මේ අනුව අස්සාස පස්සාස කියන්නෙ අවශ්‍ය දේ ඇසුරු කිරීම සහ අනවශ්‍ය දේ පහකිරීම.

නිවන් දැකීමට ඇසුරු කළ යුත්ත හා පහකළ යුත්ත මොකක්ද කියල ධර්මානුකූලව වටහ ගන්න ඕන. **විමුක්තිය සාක්ෂාත් කර ගන්න අකුසල් පස්සාස හෙවත් පහකළ යුතුයි, කුසලය අස්සාස හෙවත් ඇසුරු කළ යුතුයි.** “අකුසලං පජහථ කුසලං භාවේථ” කියන බුදු වදනින් කියවෙන්නෙ ඒ කාරණය.

“රාගක්ඛයෝ නිබ්බානං, දෝසක්ඛයෝ නිබ්බානං, මෝහක්ඛයෝ නිබ්බානං, ඉදං වුච්චති නිබ්බානං” රාග, ද්වේශ, මෝහ ක්ෂය වූ තැන නිවීමයි. “ලෝභෝ අකුසල මූලෝ, දෝසෝ අකුසල මූලෝ, මෝහෝ අකුසල මූලෝ” කියන දේශනයෙන් ලෝභ, ද්වේශ, මෝහ අකුසල මූලයන් බව දේශනා කරල තියෙනවා. මේ රාග, ද්වේශ, මෝහ ඇතුළු අකුසල මූලයන් ප්‍රහාණය කිරීම තුළින් නිවන සාක්ෂාත් කර ගන්න පුළුවන්. ඒ සඳහා කළ යුත්තේ රාග, ද්වේශ, මෝහවලට හේතුවෙන සිතිවිලි, ක්‍රියා, වදන් ප්‍රඥාවෙන් දැකල සතිය ප්‍රගුණ කිරීම. “සබ්බ පාපස්ස අකරණං කුසලස්ස උපසම්පදා” කියල සියළු බුදුවරුන්ගේ අනුසාසනයෙන් පෙන්වා තියෙන්නෙත් ඒ කාරණය. ආනාපාන සති භාවනාව කියන්නෙත් ඒකටම තමයි.

අස්සාස පස්සාස කියන වචන, අස්ස සන්තෝ, පස්ස සන්තෝ, අස්සසිස්සාමීති, පස්සසිස්සාමීති, අස්සසති, පස්සසති ආදී වශයෙන් ආනාපානය විස්තර කරන දේශනාවල ඒ ඒ තැනට ගැළපෙන ආකාරයට සඳහන් කරල තියෙනවා. මේ හැම තැනම මේ වචනවලට පසුකාලීනව අර්ථ දක්වල තියෙන්නෙ හුස්ම ගැනීම පිට කිරීම කියන අර්ථයෙන්. පෙළ දහම බුද්ධ දේශනාව වුණත්, ඒවාට දැනට දීල තියෙන සිංහල අර්ථ බුද්ධ දේශනාව නෙවෙයි. ඒක පසුකාලීනව උගතුන් විසින් භාෂා ව්‍යාකරණ නීති රීති අනුව සිදු කරපු සිංහල පරිවර්තනයක්.

**බුද්ධ වචනවලට නිවැරදි දහම් අර්ථ, නිරුක්ති දෙන්න පුළුවන් සිවු පිළිසිඹියා ඥාන තියෙන උතුමන්ට විතරයි.** ඒ කාලයේ කොච්චර රහතන් වහන්සේලා වැඩ හිටියත් මූලික ධර්ම සංගායනාවලට තෝර ගත්තෙ සිවු පිළිසිඹියා ඤාණ ලබපු රහතන් වහන්සේලා විතරයි. ආනන්ද හාමුදුරුවෝ පවා සිවු පිළිසිඹියා ඤාණ පූර්ණ කරල අරිහත්වයට පත්වෙන කල්ම සංගායනා මණ්ඩපයට ගත්තෙ නෑ. මේ අනුව පෙනී යන්නෙ, ධර්මය පිළිබඳ සාකච්ඡා කරනකොට ඒ ගැන කොච්චර සැලකිල්ලක් දක්වල තියෙනවද කියන කාරණය.

ධර්මය පෘථජ්ජනයන් අතරට යෑමෙන් දහම් අර්ථ යටපත් වෙන බව මීට පෙරත් සඳහන් කළා. **දැනට පවතින ත්‍රිපිටක පෙළ දහමට සිංහල අර්ථකතන දීල තියෙන්නෙ දහම් ඤාණය ලබපු අය නෙවෙයි, ලංකාවෙ හිටපු උගතුන් විසින්. ඒකෙ සිංහල පරිවර්තනයකට වඩා තියෙන්නෙ, තේරුම් ගන්න අපහසු සංස්කෘත භාෂා පරිවර්තනයක්.** යමෙළු, තෙකුල දෙන්නා ධර්මය සංස්කෘත වාචනා මාර්ගයට පරිවර්තනය කරන්න තථාගතයන් වහන්සේගෙන් අවසර ඉල්ලුවම, ඒකට නිගරු කරල ධර්මය සංස්කෘතයට නොනැගිය යුතු බවට විනය සික්ෂාවකුත් පැනෙව්වා.

ඒක එහෙම වුනත් වර්තමාන ත්‍රිපිටක පරිවර්තනවල බහුලව තියෙන්නෙ සංස්කෘත වචන. තථාගතයන් වහන්සේ තහනම් කරපු දේම අද වෙන කොට සිද්ධ වෙලා තියෙනවා. ඒ නිසා දැනට තියෙන පරිවර්තන සියල්ලම ධර්මානුකූලයි කියල කොහොම නම් කියන්නද? ධර්මය සංස්කෘතයට නොනැගිය යුතුයි කියල තථාගතයන් වහන්සේ වදාළේ, භාෂා අර්ථ ඉස්මතු වෙලා දහම් අර්ථ යටපත් වෙලා ධර්මය විකෘති වෙන නිසා. **දහම් පදවලට නිරුක්ති නොදන්න කෙනා වනයේ වාසය කරන අන්ධ ඇතෙක් වගේ කියල දේශනා කරල තියෙනවා.** අන්ධ ඇතා ගස්වල හැපෙනවා, වළවල්වල වැටෙනවා, තවත් නොයෙකුත් අනතුරුවලට පත්වෙනවා. ඒ වගේ, නිරුක්ති නොදන්න කෙනාට දහම් පදයක්

පාසා සැක ඇති වෙනවා. මේ කරුණ මේ විදිහට ගාථාවකින් සඳහන් වෙනවා.

යෝ නිරුත්තිං නජානාති
ජානාති පිටකත්තයං
පදේ පදේ විකංඛෙය්‍ය
වනේ අන්ධ ගජෝ විය

වර්තමානයේ මේ සිද්ධ වෙලා තියෙන අවුල නිරවුල් කර ගන්න නම්, නැවත සිවු පිළිසිඹියා ඥාණ තියෙන උතුමන් වහන්සේලා ලෝකයට පහළ වෙන්න ඕන. ඒක කවද සිද්ධ වෙයිද කියල අපිට කියන්න බැරි නිසා, බුද්ධ දේශිත පෙළ දහම ඇසුරින් මේ පැටලීම ලිහා ගන්න උත්සාහ කරන්න ඕන.

අස්සාස පස්සාස කියන වචන, වර්තමානයේ හුස්ම සම්බන්ධ කරල තෝරල තිබුණත් ඒක පෙළ දහම තුළ තෝරල තියෙන්නෙ කෙබඳු අර්ථයෙන්ද කියල විමසල බලල හරි වැරැද්ද ධර්මයට අනුකූලව වටහ ගන්න වැයම් කිරීම ප්‍රඥා ගෝචරයි.

සංයුක්ත නිකායේ අනමතග්ග සංයුක්තයේ වේපුල්ල පබ්බත සූත්‍රයේ මේ විදිහට සඳහන් වෙනවා. "ඒවං අනස්සාසිකා භික්ඛවේ සංඛාරා" මහණෙනි, මෙසේ සංඛාර ඇසුරු නොකළ යුතුය. (න+අස්සාසිකා = අනස්සාසිකා) අංගුත්තර නිකායේ සත්ත සූරියෝග්ගමන සූත්‍රයෙත් "අනස්සාසිකා භික්ඛවේ සංඛාරා" කියල සංඛාර ඇසුරු නොකළ යුතු බව දේශනා කරල තියෙනවා. ආනන්ද හාමුදුරුවන්ට වදාළ දේශනාවක "හන්දාමයං ආනන්ද සබ්බේ සංඛාරා අනස්සාසිකා" ආනන්දය සියළු සංඛාර ආස්සාස කිරීමට සුදුසු නොවේ කියල දේශනා කරල තියෙනවා. ඉහත දේශනාවල **"අස්සාසිකා" කියන වචනය, පෙළ දහමේ තෝරල තියෙන්නෙ ඇසුරු කිරීම කියන අර්ථයෙන්. මේකට හුස්ම ගැනීම කියන අර්ථය එකතු කළොත් එන්නෙ කොච්චර විකෘති අර්ථයක්ද කියල හිතල බලන්න.** එහෙනම් සතිපට්ඨාන සූත්‍රය ඇතුළු ආනාපාන සති සංයුක්තයේ බොහෝ සූත්‍රවල අස්සසති පස්සසති කියන කාරණයට, හුස්මට සිහිය පිහිටුවා භාවනා කළ යුතුයි කියල කීම ඉහත බුද්ධ දේශනා සමග පරස්පරයි.

**අස්සාස කියන වචනය, අස්වැසීම, සැනසීම කියන අර්ථයෙන් අංගුත්තර නිකායේ අට්ඨක නිපාතයේ සීහ සේනාපති සූත්‍රයේ විස්තර කරල තියෙනවා.**

"අත්ථි සීහ පරියායෝ යේන මං පරියායේන සම්මා වදමානෝ වදෙය්‍ය. අස්සාසකෝ සමණෝ ගෝතමෝ අස්සාසාය ධම්මං දේසේති තේනච සාවකේ විනේති"

සීහය ශ්‍රමණ ගෞතමයන් වහන්සේ ආස්වාසයට (සැනසිල්ලට) පැමිණියේ ආස්වාසය සඳහා දහම් දෙසන්නේය. එයින් ශ්‍රාවකයන්ද හික්මවන්නේය. යම් කරුණකින් මනා කොට කියන්නෙක්, මට ආස්වාසවාදී කියා පවසන්නේ නම් ඒ කරුණ සත්‍යයකි.



සංයුක්ත නිකාය අස්සාස සූත්‍රයේ අස්සාස කියන වචනය තෝරල තියෙන ආකාරය ඊළඟට විමසල බලමු. "අස්සාසප්පත්තෝ අස්සාසප්පත්තෝ ති ආවුසෝ සාරිපුත්තෝ වුච්චති, කිත්තාවථානුබෝ ආවුසෝ සාරිපුත්ත අස්සාසප්පත්තෝ හෝතී ති"

ආයුෂ්මත් සාරිපුත්‍රයෙනි, ආස්වාසයට පැමිණියේ ආස්වාසයට පැමිණියේ යැයි කියනු ලැබේ. කොපමණකින් ආස්වාසයට පැමිණියේ වේද? **ස්පර්ෂ ආයතන හයෙහි උදයංගම, අත්තංගම, ආස්වාද, ආදීනව, නිස්සරණ තතු සේ දකීද ඇවැත්නි මෙපමණකින් ආස්වාසයට පැමිණියේ වේ.** මේ ආස්වාසය පසක් කරන්න පිළිවෙතක් මගක් තියෙනවද කියල ඇහුවම, අරි අටඟි මග ආස්සාස මාර්ගය බව සැරියුත් හිමියන් පැහැදිලි කළා.

ඉහත සූත්‍රයෙන් ආස්වාසය පිළිබඳ විස්තර කරල නැවතත් ඊළඟ සූත්‍රයෙන් පරම ආස්වාසය මොකක්ද කියල විග්‍රහ කරල තියෙනවා. (ස.නි- පරම අස්සාස සූත්‍රය)

"පරමස්සාසප්පත්තෝ පරමස්සාසප්පත්තෝ ආවුසෝ සාරිපුත්ත වුච්චති, කිත්තාවතානුබෝ සාරිපුත්ත පරමස්සාසප්පත්තෝ හෝතී ති"

ආයුෂ්මත් සාරිපුත්‍රයෙනි, පරම ආස්වාසයට පැමිණියේ පරම ආස්වාසයට පැමිණියේ යැයි කියනු ලැබේ. ඇවැත් සාරිපුත්‍රය, කොපමණකින් පරම ආස්වාසයට පැමිණියේ වේද?

**යම් කලෙක ස්පර්ෂ ආයතන හයෙහි (ඇස, කන, නාසය, දිව, කය, මන) සමුදය, අත්තංගම, ආස්වාද, ආදීනව, නිස්සරණ තතු සේ දැක උපාදාන රහිතව සියළු කෙලෙසුන්ගෙන් මිදුනේ වේද, මෙපමණකින් පරම ආස්වාසයට පැමිණියේ වෙයි. මේ පරම ආස්වාසය ලැබීමට මග පිළිවෙත නම් අරි අටඟි මගයි.**

**ස්පර්ෂ ආයතන හයේ යථා ස්වභාවය ප්‍රඥාවෙන් දැකීම ආස්වාසය විදිහටත්, එහෙම දැකල කෙලෙස්වලින් උපාදාන රහිතව මිදීම පරම ආස්වාසය විදිහටත් ඉහත සූත්‍ර දෙකෙන් පෙන්වා තියෙනවා. ආස්වාසය කියන්නෙ හුස්ම ගැනීම කියල මේකට අර්ථ දුන්නොත් කොච්චර විකෘති අදහසක් ඇතිවෙයිද කියල නුවණින්** විමසල බලන්න.

ඊළඟට අස්සාස කියන කාරණය සංයුක්ත නිකායේ අභිසමය සංයුක්තයේ කළාර සූත්‍රයේ විග්‍රහ කරල තියෙන්නෙ කොහොමද කියල විමසල බලමු. ඇවැත් සාරිපුත්‍රයෙනි, මෝලිය එග්ගුන නම් භික්ෂුව සික්ෂාව අතහැර සිවුරු හැර ගියේය. ඒ ආයුෂ්මතුන් මේ සාසනයෙහි ආස්වාසයක් නොලැබීය. (ඉමස්මිං ධම්ම විනයේ අස්සාසං අලත්ථානි) නමුත් සාරිපුත්ත තෙරුන් මේ සසුනෙහි ආස්වාසය ලැබුවේය. (ආයස්මා සාරිපුත්තෝ ඉමස්මිං ධම්ම විනයේ අස්සාසං පත්තෝති...)

මෝලිය එග්ගුන භික්ෂුව සසුනේ ඉඳෙද්දී, ලෝකයේ ☞

යථාර්ථය අවබෝධ කර ගැනීමක් හෝ ඒ මග පිළිපැදීමක් සිදු කරල සාසන සැනසිල්ල නම් වූ ආස්වාසයක් නොලැබූ බව සඳහන් වෙනවා. සිවුරු හැර ගිහි බවට පත් වුනේ, ධර්මයේ සැනසීම නොලැබීම නිසා. වර්තමානයේ බොහෝ තරුණ භික්ෂූන් පැවිදි වෙච්ච තැන් පටන් සසුන් මගට යොමු කිරීමක් නැතිව ගිහියන් වගේ විෂයන් ඉගෙනගෙන උසස් අධ්‍යාපනය ලබල සාසන සැනසිල්ල නොලබාම ගිහි බවට පත් වෙනවා. වර්තමාන සාසන පරිහානිය මේකට ප්‍රධාන හේතුවක්.

**මේ ජීවිතයෙදිම ලබන ආස්වාස 4 ක් පිළිබඳ අංගුත්තර නිකායේ කාලාම සූත්‍රයේ මේ විදිහට විස්තර වෙනවා.**

සා බෝ සෝ කාලාම අරිය සාවකෝ ඒවං අවේර චිත්තෝ, ඒවං අබ්‍යාපජ්ජ චිත්තෝ, ඒවං අසංකිලිට්ඨ චිත්තෝ, ඒවං විසුද්ධ චිත්තෝ, තස්ස දිට්ඨේව ධම්මේ චත්තාරෝ අස්සාසා අධිගතා හොන්ති

කාලාමයෙනි, ඒ ආර්ය ශ්‍රාවකයා මෙසේ අවෛරී වූත්, අව්‍යාපාද වූත්, නොකිලිටි වූත්, පිරිසිදු වූත් සිත් ඇතියේ මේ ජීවිතය තුළම ආස්වාස 4 ක් ලබයි. ඒ හතර තමයි මේ.

1. පරලොවක් වේ නම්, හොඳ නරක කර්මයන්ගේ විපාක තිබේ නම්, මම ඒකාන්තයෙන් සෝභන ගති ඇති ස්වර්ගයෙහි පෙළඹෙයි යන මේ පළවෙනි ආස්වාසය ලබයි. (අයමස්ස පඨමෝ අස්සාසෝ අධිගතෝ හෝති)

2. පරලොවක් නොවේ නම්, මේ පිං පව්වල විපාක නොවේ නම්, මම මෙලොවේදී අවෛරී වූ අව්‍යාපාද වූ සැප ඇති අත්බැවක් පරිහරණය කරමි යන දෙවන ආස්වාසය ලබයි. (අයමස්ස දුතියෝ අස්සාසෝ අධිගතෝ හෝති)

3. කරන්නාට පව් සිදු වේද, මම කිසිවෙකුට පවක් නොකරමි. පව්කම් නොකරන මම කුමන දුකක් විඳින්නේදැයි තුන්වන ආස්වාසය ලබයි. (අයමස්ස තතියෝ අස්සාසෝ අධිගතෝ හෝති)

4. කරන්නාට පව් සිදු නොවේද, මම දෙපසින්ම පිරිසිදු අත්බැවක් දකිමියි කියා ඔහු සිවුවන ආස්වාසය ලබයි. (අයමස්ස චතුත්ථෝ අස්සාසෝ අධිගතෝ හෝති)

මේ කාලාම සූත්‍රයේ විග්‍රහයට අනුවත්, අස්සාස කියන වචනය විවරණය කරල තියෙන්නෙ, ධර්ම මාර්ගයෙන් තමන් විසින් ලබන සැනසිලි දායක ප්‍රතිඵල ගැන.

අංගුත්තර නිකාය ඡක්ක නිපාතයේ නාග සූත්‍රය තුළ ඵල සමාපත්ති සුවය අස්සාස විදිහට දක්වා තියෙනවා.

සෝ ඣායි අස්සාස රතෝ
අජ්ඣත්තං සුසමාහිතෝ
ගච්ඡං සමාහිතෝ නාගෝ
ඨිතෝ නාගෝ සමාහිතෝ

ධ්‍යාන කරන ඒ බුද්ධ නාගයන් (තථාගතයන් වහන්සේ) ඵල සමාපත්තියෙන් යුක්ත ආස්වාසයෙහි යෙදුනේ ආධ්‍යාත්මයෙහි මනාකොට සමාහිතය (සිත සම බවට පත්වීම), බුද්ධ නාගයන් වහන්සේ වඩින්නේද සමාහිතය, සිටියේද සමාහිතය.

මේ නාග කියන වචනය යොදල තියෙන්නෙ බුදුන් වහන්සේට. නායකත්වයට අග්‍රම උතුමා කියන අර්ථයෙන් නාග කියනවා. "අහං නාගෝව සංගාමේ..." මම යුද බිමට එළඹි හස්ති රාජයෙක් වගේ කියල ධම්ම පද දේශනාවක් තියෙනවා. ඒ අවස්ථාවෙදි නාග කියල සඳහන් වෙන්නෙ ඇතාට. නයාටත් නාග කියල හඳුන්වනවා.

ආස්වාස නැති බ්‍රහ්මචරියවාස 4 ක් පිළිබඳ සන්දක පරිබ්‍රාජකයාට වදාළ දේශනාවක් මජ්ඣිම නිකායේ සන්දක සූත්‍රයේ සඳහන් වෙනවා.

චත්තාරෝ මේ සන්දක තේන භගවතා, ජානතා, පස්සතා, අරහතා, සම්මා සම්බුද්ධේන, අබ්‍රහ්මචරියවාසා අක්ඛාතා චත්තාරිච අනස්සාසිකානි (න+අස්සාසිකානි) බ්‍රහ්මචරියානි අක්ඛාතානි.

සන්දකයෙනි, නුවණින් දන්නාවූද දක්නාවූද තථාගතයන් වහන්සේ අබ්‍රහ්ම චරියවාස 4 ක් ද, ආස්වාස රහිත බ්‍රහ්මචරියවාස 4 ක් ද වදාළ සේක. මේ පිළිබඳ වැඩි විස්තර සූත්‍රයෙන් බලා ගන්න පුළුවන්. මෙතනදි අවශ්‍ය වෙන්නෙ අස්සාස කියන වචනය පෙළ දහමෙ තෝරල තියෙන ආකාරය මතුකර ගැනීම.

බුදු රජාණන් වහන්සේ තෙමසක්, මසක්, අඩ මසක් ආදී වශයෙන් විවේක සුවයෙන් හිටපු අවස්ථාවල, තථාගතයන් වහන්සේ මේ කාලය තුළ කුමන විහරණයකින් යුතුව වාසය කළේද කියල යමෙක් ඇහුවොත් ආනාපාන සති විහරණයෙන් සිටි බවත්, එම ආනාපානයට අරිය විහාර, බ්‍රහ්ම විහාර, තථාගත විහාර කියල හඳුන්වන බවත් බුදුන් වහන්සේ භික්ෂූන්ට පැහැදිලි කළා. (ස.නි - ආනාපාන සති සංයුක්තය)

මේ අනුව බුදු **රජාණන් වහන්සේත් ආනාපාන සති විහරණයෙන් වාසය කරල තියෙන බව පැහැදිලි වෙනවා. ආනාපාන කියන්නෙ හුස්ම රැල්ලට සිහිය පිහිටුවා කරන භාවනාවක් නම්, කළ යුතු සියල්ල නිමා කළ තථාගතයන් වහන්සේ කරපු ආනාපානය මොකක්ද?** සර්වඥයන් වහන්සේට හුස්මවලට සිහිය පිහිටුවාගෙන ඉන්න අවශ්‍යතාවයක් තියෙනවද? මේ අනුව වර්තමානයේ කරන ආනාපානය බුදු සසුනේ ආනාපානය නොවන බව පැහැදිලියි.

තථාගතයන් වහන්සේ වාසය කළ ආනාපානයට අරිය විහාර, බ්‍රහ්ම විහාර, තථාගත විහාර කියල හඳුන්වන බව උන්වහන්සේම දේශනා කරල තියෙනවා. මෙතනදි මතුවන වැදගත් කාරණය තමයි "එම ආනාපානයට" කියන කාරණය. ලෝකයේ තවත් ආනාපාන භාවනා ක්‍රමයක් තිබිච්ච නිසයි "එම ආනාපානය" කියල ලෝකයේ තිබිච්ච ආනාපානයෙන් වෙන් කරල පෙන්වන්න තථාගතයන් වහන්සේ මේ විදිහට වදාරළ තියෙන්නෙ.

ඒ වගේම ආර්ය විහරණයක්, බ්‍රහ්ම විහරණයක්, තථාගත විහරණයක් බුදු සසුනෙන් පිටත නෑ. නම් තුනකින් ආනාපාන විහරණය හැඳින්වීමෙන්ම පෙනීයන්නෙ බුද්ධ සාසනයට අයිති, ලෝක ආනාපාන භාවනාවෙන් වෙන් වෙච්ච වෙනම එකක් තියෙන බව. ඒක අද වෙනකොට සැඟවිලා ගිහින් ලෝකයේ තිබිච්ච යෝගීන් අනුගමනය කරපු ආනාපාන භාවනාව බුද්ධ දේශනාවට මිශ්‍ර වෙලා තියෙනවා.

ආනාපාන විහරණය බ්‍රහ්ම විහාර කියල හඳුන්වන බව ඉහතින් සඳහන් කළා. මේ බ්‍රහ්ම විහරණය වටහා ගන්න වැදගත්ම

දේශනයක් තමයි කරණීය සූත්‍රය. "කරණීය මත්ථ කුසලේන යං තං සන්තං පදං අභිසමෙච්ච..." ආදී වශයෙන් ශාන්ත පද නම්වූ නිවන අවබෝධ කිරීමට කළ යුත්ත කුමක්ද කියල විස්තර කරමින් "බ්‍රහ්මමේතං විහාරං ඉධමාහු" කියල ඒ බ්‍රහ්ම විහරණයයි කියල මේ සූත්‍ර දේශනාවේ පෙන්වා තියෙනවා. ආනාපානයට බ්‍රහ්ම විහාරය කියල කියනවනම්, බ්‍රහ්ම විහාරය විග්‍රහ වෙන කරණීය සූත්‍රය තුළ අද කතා කරන හුස්ම සම්බන්ධ ආනාපාන භාවනාවත් විග්‍රහ විය යුතුයි. නමුත් කරණීය සූත්‍රයේ, නිවන් දැකීමට කුසලය වැඩිය යුතුයි කියල පෙන්වා තියෙනව මිසක් අද කතා කරන හුස්ම සම්බන්ධ ආනාපාන සතියක් සඳහන් වෙන්නෙ නෑ.

ආනාපාන සති භාවනාව තුළ සතර සතිපට්ඨානයම ගැබ් වෙලා තියෙන බව බුද්ධ දේශනාවක්. නමුත් දැනට සතර සතිපට්ඨානයේ විග්‍රහ කරල තියෙන ආකාරයට ආනාපාන පබ්බය තියෙන්නෙ කායානුපස්සනාවේ කොටසක් හැටියට විතරයි. දැනට කරන ආනාපානය තුළ සතර සතිපට්ඨානයම නැති බව මේ කාරණයෙන් පෙනී යනවා. නමුත් බුද්ධ දේශිත ආනාපානය ගත්තම සතර සතිපට්ඨානය විතරක් නෙවෙයි, සියළු බුද්ධ දේශනා තුළ ආනාපාන සතිය විග්‍රහ වෙනවා. අකුසලය පස්සාස කරමින් කුසලය අස්සාස කරන ආකාරය තමයි අසූහාරදහසක් ධර්මස්කන්ධය තුළම විස්තර වෙන්නෙ.

ආනාපාන සතිය නිවන අවසන් කොට ඇති බව බුද්ධ දේශනාවල සඳහන් වෙනවා. ඒ වගේම තථාගතයන් වහන්සේගෙන් හෝ තථාගත ශ්‍රාවකයන් වහන්සේ නමකගෙන් හැර මේ සාසනයෙන් පිටත කිසිවෙකුට ආනාපාන සතියක් නැති බවත් තථාගත අනුසාසනයක්. මෙයින් පෙනී යන්නෙ බුද්ධ දේශිත ආනාපාන සතිය නිවන් අවබෝධ කර ගැනීම සඳහාම වදාළ වෙනමම ක්‍රමයක් බව.

ආනයන අපනයන කියන වචන දෙකක් ලෝකයේ භාවිතා කරනවා. ආනයන කියන්නෙ පිටින් ගෙන්වා ගන්න දේවල්. අපනයන කියන්නෙ මෙහෙන් යවන දේවල්. ආනාපාන කියන වචනයේ පද බෙදෙන්නෙ "ආන+ අපාන = ආනාපාන" කියල. ආන කියන්නෙ තමන් වෙතට ගත යුතු දේ. ආපාන කියන්නෙ තමන් වෙතින් බැහැර කළ යුතු දේ. ආන + ආපාන කියන්නෙ ආනයන අපනයන කියන අදහස තියෙන වචනයක්. මේක ලෝක ව්‍යවහාරයේ වචනයක් වුනත්, ආර්ය ධර්මය අනුව ගළප ගන්න පුළුවන්. තමන් වෙතට ගත යුතු දේ තමයි කුසල මාර්ගය. තමන් වෙතින් බැහැර කළ යුතු දේ තමයි අකුසල මාර්ගය. කුසලය ඇසුරු කරමින් අකුසලය පහ කරන භාවනාව තමයි ආනාපාන භාවනාව. "සබ්බ පාපස්ස අකරණං කුසලස්ස උපසම්පදා" කියල වදාළේ මේ කාරණය.



**සතිපට්ඨාන සූත්‍රයේ "ආනාපාන පබ්බය" තුළ විස්තර වෙන්නෙ හුස්ම රැල්ල වැදෙන තැන බලාගෙන සිටීමක් නෙවෙයි, කුසලය අස්සාස කරමින් අකුසලය පස්සාස කරන ආකාරය.**

සූත්‍ර දේශනා ගණනාවකින්ම "අස්සාස" කියන වචනයේ දහම් අර්ථය ඉහත ආකාරයට විස්තර කරල තියෙනවා. ඒ කිසිම බුද්ධ දේශනයක අස්සාස කියන වචනයට හුස්ම ආශ්වාස කිරීම කියන අර්ථයක් දීල නෑ. ඇසුරු කිරීම, සැනසීම කියන අර්ථය තමයි ඒ හැම තැනකම සඳහන් කරල තියෙන්නෙ. සතිපට්ඨාන සූත්‍රය ඇතුළු ආනාපාන සතිය ගැන විග්‍රහ වෙන හැම තැනම අස්සාස පස්සාස, අස්ස සිස්සාමීති, පස්ස සිස්සාමීති කියන වචන සඳහන් වෙනවා. පෙළ දහම පසුකාලීනව පරිවර්තනය කරපු පෘථජ්ජනයන් මේ හැම වචනයකටම සිංහල අර්ථය විදිහට දක්වල තියෙන්නෙ සිහියෙන් හුස්ම ගන්න, සිහියෙන් හුස්ම පිට කරන්න කියන අර්ථය. බුද්ධ දේශනාවල අස්සාස පස්සාස තෝරල තියෙන ආකාරය ඒ පරිවර්තකයින් දැකල නෑ. එහෙම දක්කනම් මේ වැරදි අර්ථ කථන මේ විදිහට යොදල පරිවර්තනය කරන්නෙ නෑ.

මේ අස්සාස පස්සාස කියන වචන විතරක් නෙවෙයි, ත්‍රිලක්ෂණයේ පටන් බොහෝ ශ්‍රී මුඛ බුද්ධ දේශනාවන්, සිංහල කියල සංස්කෘත වචනවලින් අර්ථ දක්වන්න ගිහින් නිර්මල ශ්‍රී සද්ධර්මයට බරපතල හානියක් සිද්ධ වෙලා තියෙනවා. මේ අර්ථ විවරණ අද ඊයෙ නෙවෙයි, වසර දහස් ගණනක පටන් සමාජගත වෙලා තියෙන නිසා, වර්තමානයේ මේවාට නිවැරදි අර්ථ කථන පෙන්වා දෙන්න යන කොට විසාල අභියෝගයන්ට මුහුණ දෙන්න සිද්ධ වෙනවා.

සතිපට්ඨාන සූත්‍රයේ ආනාපාන පබ්බයේ "සෝ සතෝ අස්සසති, සතෝ පස්සසති" කියන කාරණයේ තේරුම එන්නෙ, සිහියෙන් කුසලය අස්සාස හෙවත් ඇසුරු කරන්න, සිහියෙන් අකුසලය පස්සාස හෙවත් පහ කරන්න කියල. සත්වයාගෙ සසරට බැඳිල තියෙන සමහර කෙලෙස් පහ කරගන්න විසාල උත්සාහයක් දරන්න අවශ්‍ය නෑ. කෙටි දහම් විමර්ෂණයකින් වුණත් පහ කරගන්න පුළුවන්. ඒක තමයි රස්සං වා අස්සසන්තෝ රස්සං අස්සසාමීති පජානාති, පස්සසාමීති පජානාති කියල සඳහන් කරල තියෙන්නෙ. නමුත් ඇතැම් සසර බැඳීම් දුරු කරගන්න කෙටියෙන් දහම් සිහි කළාට ප්‍රමාණවත් වෙන්නෙ නෑ. ඒ සඳහා දීර්ඝව නැවත නැවත කාම, කෝප (ඇලීම් ගැටීම්) ආදිය විදර්ශනා කළ යුතුයි. දීඝං වා අස්සසන්තෝ දීඝං අස්සසාමීති, පස්සසාමීති කියල සතිපට්ඨාන සූත්‍රයේ පෙන්වා තියෙන්නෙ ඒ කාරණය. එහෙම නැතිව කෙටි හුස්ම, දිග හුස්ම රැල්ලට සිහිය පිහිටුවා කරන භාවනාවක් නෙවෙයි. මේ ක්‍රමය සතර ඉරියව්වෙන්ම කරන්න පුළුවන්. නමුත් හුස්ම සම්බන්ධ

ආශ්වාස ප්‍රාශ්වාසයට සිහිය පිහිටුවන්න වාඩි වෙලා ඉන්න ඉරියව්වෙන් මිසක් අනිත් ඉරියව්වලින් කරන්න බෑ. ආනාපාන පබ්බය තුළ පටිනිස්සග්ගානු පස්සනාව (රාග, ද්වේශ, මෝහ පහ කිරීම) දක්වල, කුසලය ඇසුරු කරමින් අකුසලය පහ කරන ආකාරය විස්තර වෙනවා.

"අකුසලේ චලයන්ති සලයන්ති කම්පෙන්තීති කුසලා" කියන දේශනයෙන් අකුසල චේතනා හොලවල කම්පනය කර දැමීම කුසලය විදිහට පැහැදිලි කරල තියෙනවා. "කෝසානි විචෙය්‍ය කේවලානි දිබ්බං මානුසකංච බ්‍රහ්ම කෝසං සබ්බ කෝස මූල බන්ධනා පමුත්තෝ කුසලෝ තාති පවුත්තථෝ තතත්තා" දිව්‍ය කෝෂ, මනුස්ස කෝෂ, බ්‍රහ්ම කෝෂ ඇතුළු සකලවිධ කර්ම කෝෂවල ඉපදීමට හේතුවන අවිද්‍යා තෘෂ්ණාවන්ගේ යම් පහ කිරීමක් ඇත්ද ඒක කුසලය විදිහට තථාගතයන් වහන්සේ පැහැදිලි කළා. මේ කෝෂ කියල දක්වල තියෙන්නෙ කුස හෙවත් ඉපදීමට හේතුවන තැන කියන අර්ථයෙන්.

සත්වයා සසර අනන්ත කාලයක පටන් මැරෙමින් උපදිමින් ජාති, ජරා, මරණාදී දුකට වැටෙමින් සසර ගමන් කරන්නෙ අවිද්‍යාව සහ තෘෂ්ණාව අත්වැල් බැඳගෙන. ඒ කාරණය තථාගතයන් වහන්සේ මේ විදිහට පැහැදිලි කරනවා. "අනමතග්ගෝ යං භික්ඛවේ සංසාරෝ පුබ්බා කෝටි න පඤ්ඤායති අවිජ්ජා නීවරණානං සත්තානං තණ්හා සංයෝජනානං සන්ධාවතං සංසරතං" (ස.නි. අනමතග්ග සංයුක්තය)

සංසාර කියන්නෙ පටිච්ච සමුප්පාද ක්‍රියාවලිය. "අනමතග්ගෝ" (න + අමත + අග්ගෝ) අග අමත හෙවත් නිවන නෑ. මෙයින් කියන්නෙ අවිද්‍යාවෙන් පටන් ගන්න පටිච්ච සමුප්පාද ක්‍රියාවලියේ අග තියෙන්නෙ සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාසයන් බව. අග නිවන නෑ කියල කිව්වෙ මේකට. ඒකට හේතුව තමයි පුබ්බා කෝටි න පඤ්ඤායති - පූර්වය හෙවත් පටිච්ච සමුප්පාදයේ ආරම්භය ප්‍රඥාවෙන් ආරම්භ නොවන නිසා. මේක තවත් පැහැදිලි කරනව නම්, පටිච්ච සමුප්පාදය අවිද්‍යා ප්‍රත්‍යයෙන් පටන් ගන්න නිසා අවසානයේ දුක්ඛස්ඛන්ධය පහළ වෙනවා. අග නිවන නැත්තෙ ආරම්භය තුළ ප්‍රඥාව නැති නිසා (න පඤ්ඤායති). අවිද්‍යාව සහ තෘෂ්ණාව අත්වැල් බැඳගෙන පටිච්ච සමුප්පාද හෙවත් ඉච්ඡතාවයන්ට සිත බැඳ ගනිමින් ඒකම සිත තුළ උපදවමින් ඒ හා සමාන උපත් ඇති කරමින් සසර සැරි සරනවා.

සත් පුරුෂ සේවනයෙන් සද්ධර්මය ශ්‍රවණය කරල අවිද්‍යා තෘෂ්ණාවෙන් සිත මුදවා ගැනීම සඳහා කුසලය අස්සාස කරමින් අකුසලය පස්සාස කළ යුතුයි. තථාගත ධර්මය තුළ ආනාපාන සතිය කියන්නෙ මේ වැඩපිළිවෙලට. එහෙම නැතිව හුස්ම නහය අග හෝ තොලේ ස්පර්ෂ වෙන එකට සිහිය තියාගෙන හිටියට ඒකෙන් ලෝකෝත්තර කුසලය වැඩීමක් හෝ නිවන් දැකීමට හැකියාවක් හෝ ලැබෙන්නෙ නෑ. මොකද එතන ප්‍රඥාව වැඩීමක් නැති නිසා.

ආශ්වාස ප්‍රාශ්වාස කියන වායුව අයිති වන්නෙ සතර මහා ධාතුවල රූප කොටසට. කුසලය අයිති වෙන්නෙ සංඛාර කියන නාම ධර්මවලට. රූප ධර්මයන් ඇසුරු කරපු පළියට කුසල් වැඩීමක් සිද්ධ වෙන්නෙ නෑ. කුසල සංඛාර කියන නාම ධර්මයන් වර්ධනය කිරීමෙන් තමයි ආර්ය මාර්ගය වැඩෙන්නෙ. ඒ නිසා වායුව කියන රූප ධර්මයකට සිත පිහිටුවීම ආර්ය මාර්ගය නොවන බව වටහාගත යුතුයි.

ආනාපාන සතිය විස්තර කරන දේශනාවල "නාසිකග්ගේ වා මුඛ නිමිත්තේ වා" කියල විස්තරයක් තියෙනවා. මෙතනදි පිටින් පේන ලෞකික අදහසින් අර්ථ දක්වල තියෙන්නෙ, නාසය අග හෝ මුඛයේ තොල අග ආස්වාස ප්‍රාස්වාස ස්පර්ශ වන ආකාරය බලන්න කියල. මේ වැරදි අර්ථ කථනය නිසා තමයි බුද්ධ දේශිත ආනාපාන සතිය කියල නාසයේ අග, තොල අග හුස්ම ස්පර්ශ වන ආකාරය බලමින් ආනාපාන සති භාවනාව වඩන්න පෙළඹිලා තියෙන්නෙ.

මේ වචන, නිරුක්ති අනුව විග්‍රහ කරන කොට මේ විදිහට වටහා ගත යුතුයි. "නාසිකග්ගේ" කියන වචනය න + ආසික + අග්ග කියල පද බෙදෙනවා. ලෝකය ප්‍රිය මධුර ස්වභාවයෙන් ඇසුරු කිරීම අග්‍ර කර නොගෙන "මුඛ නිමිත්තේ වා" මුඛ්‍ය හෙවත් ප්‍රධාන නිමිත්ත විදිහට නිවන අග්‍ර කරගෙන කුසල මාර්ගය වැඩීම තමයි මෙයින් කියවෙන්නෙ.

බෞද්ධයාට නිවන හැර වෙනත් අග්‍ර කළ යුතු කිසිවක් නෑ. ලෝකයේ නිසරු බව දකිමින් පස්කම් සැප අළුයම හෙලූ කෙල පිඬක් සේ සලකා අප්‍රමාදීව මේ ඝෝර භයංකාර අප්‍රමාණ දුක්වලින් පෙළෙන සසර ගමන නිමා කරගන්න කුසලය අස්සාස කරමින් අකුසලය පස්සාස කරමින් ආනාපාන සතිය ප්‍රගුණ කළ යුතුයි. සියලු මහ බෝසත්වරු බුද්ධත්වයට පත් වෙන්නෙ ආනාපාන සතිය වැඩීමෙන් බව ධර්මයේ සඳහන් වෙනවා. මෙයින් හුස්ම රැල්ලට සිහිය පිහිටුවීමක් නොවන බව මැනවින් සනාථ වෙනවා.

ආනාපාන සති සමාධිය නම් වූ මේ එකම ධර්මය බහුල වශයෙන් වැඩීමෙන් සතර සතිපට්ඨානය සම්පූර්ණ වෙනවා. සතර සතිපට්ඨානය බහුලව වැඩීමෙන් සත්ත බොජ්ජංග සම්පූර්ණ වෙනවා. සත්ත බොජ්ජංග බහුලව වැඩීමෙන් විද්‍යාවත් විමුක්තියත් සම්පූර්ණ වෙන බව සංයුක්ත නිකායේ ආනන්ද සූත්‍රයේ විස්තර වෙනවා. ඒ වගේම ආනාපාන සතිය නැවත නැවත බහුල වශයෙන් වැඩීමෙන් සංයෝජන ප්‍රහීන වීම, අනුශය කෙලෙස් නැසීම, සියළු ආශ්‍රවයන්ගෙන් මිදීම පිණිස පවතින බව සංයුක්ත නිකායේ ආනාපාන සති සංයුක්තයේ සූත්‍ර දේශනාවල සඳහන් වෙනවා. ඒ නිසා බුද්ධ දේශිත ආනාපාන සතිය මොකක්ද කියල වටහගෙන, කුසලය වඩල අකුසලය ප්‍රහීන කරල විමුක්තිය සාක්ෂාත් කරගන්න උත්සාහවන්ත විය යුතුයි.

ආනාපාන සතී යස්ස
පරිපුණ්ණා සුභාවිතා
අනු පුබ්බා පරිචිතා
යථා බුද්ධේන දේශිතා
සෝ ඉම ලෝකං පභාසේති
අබ්භා මුත්තෝව චන්දිමා

යමෙක් තථාගතයන් වහන්සේ දේශනා කළ පරිදි මේ ආනාපාන සතිය පුරුදු කරන ලද්දේද, ඔහු වළා ගැබෙන් වෙන් වූ පූර්ණ චන්ද්‍රයා මෙන් බබලන්නේය. එනම් කෙලෙස් අඳුරෙන් මිදී ප්‍රඥාලෝකය ඇති කරගන්නේය.

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය, පොල්පිටිය,**
**මැටිකුඹුර, පොල්ගහවෙල**
**071-6839346**

අභයරතනාලංකාරය - 55

# ගිහි මුල් කරගත් රෝගාබාධවලට හා නැණ නුවණ වැඩීමට පහන් දහසක පූජාවෙන් ප්‍රතිකර්මයක්



(පසුගිය කලාපයෙන් - සසරක හැටි! මේ අත්බවේ පියා මේ අත්බවේම මුණුබුරා වෙයි...)

- වහරක අභයරතනාලංකාර හිමි

අ සුභාරදාගේ පහන් පූජා ඇතුළු විවිධාකාර පහන් පින්කම් කාලයක පටන් අද දක්වාම බෞද්ධයන් අතර දකින්න තියෙන දෙයක්. මේ, ඒ පින්කම් විවේචනය කරනව හෝ වැරදියි කියනව නෙවෙයි. නමුත් ඒ පින්කම්වල හේතුඵල සම්බන්ධය දැනගෙන කරන අය බොහොම අඩුයි. ඇයි මේ වගේ පහන් පූජා කරන්නෙ? මොකක්ද ඒකෙන් ලැබෙන ප්‍රතිඵලය? කොහොමද හරියට පහන් පූජාවක් කරන්නෙ?... මේ ආදී වශයෙන් ඥාන සම්ප්‍රයුක්තව කෙරෙන පහන් පූජා ගැන අහන්න ලැබෙනව බොහොම අඩුයි. බොහොමයක් බෞද්ධයින් සම්ප්‍රදායක් විදිහට පැවතෙන නිසා කරනව මිසක් ඥාන සම්ප්‍රයුක්තව මේ වගේ පින්කම් කරන්නෙ නෑ. ඒ නිසාම ඒ කාරණය සමහර භෞතිකවාදීන්ගෙ විවේචනයන්ටත් ලක්වෙන අවස්ථා තියෙනවා. "අපරාදෙ පොල්තෙල් ගණන් කාලෙත් නිකං තෙල් පිච්චෙනව විතරයි... කිසි වැඩක් නැති වැඩ..." ඔය ආදී වශයෙන් සමහර භෞතිකවාදී අදහස් තියෙන අය මේ වගේ පින්කම් විවේචනය කරන්න පුරුදු වෙලා තියෙන්නෙත් මේ පින්කම්වල හේතුඵල සම්බන්ධය හරියට පැහැදිලි කරන්නෙ නැති නිසා.

ඒ නිසා මේ වගේ වැදගත් පූජාවක් හේතුඵල දැනගෙන හරියට ඥාන සම්ප්‍රයුක්තව කරන්නෙ කොහොමද කියන කාරණයත්, ඒ වගේ පූජාවකින් ලැබෙන විශේෂ ආනිසංස ගැනත් කරුණු පැහැදිලි කිරීමක් තමයි මේ සිද්ධ කරන්නෙ. වහරක අභයරතනාලංකාර හිමියන් ගිහි කාලෙදි තමන්ගෙ මව් සම්බන්ධයෙන් ලබපු සත්‍ය අත්දැකීමක් ඇසුරෙන් තමයි මේ පැහැදිලි කිරීම කරන්නෙ. ඒ නිසා ඒ පහන් පූජාව ගැන දැනගෙන ඉන්න පෙර, උන්වහන්සේගෙ මව් සම්බන්ධයෙන් ලබපු මේ අත්දැකීමත් දැනගෙන ඉන්න එක හොඳයි. විශේෂයෙන් මේ සංසාරයේ තියෙන භයානකත්වය තේරුම් ගන්නත්, මේ ලබපු කෙටි ජීවිත අත්බවය පවා කොච්චර දුක් කම්කටොළු සහිතද කියන කාරණය නැණ නුවණින් තේරුම් අරගෙන ලෝකයේ අනිච්චතාවය තේරුම් ගන්නත් මේ කතාව හුඟ දෙනෙකුට වැදගත් වේවි. මේ තමයි උන්වහන්සේ ගිහි කාලෙ ලබපු අත්දැකීම කෙටියෙන්.

මේ සංසාරයේ තියෙන ස්වභාවය විස්තර කරනකොට මට හංගන්න දෙයක් නෑ. මට පුද්ගලිකව වෙච්ච දේවල් විතරක් නෙවෙයි, මගේ ළඟම ඥාතීන්ගෙ ස්වභාවය හා ඊට අදාළ සිද්ධිමය කාරණා පවා මම කිසිම සැඟවීමකින් තොරව කියනවා. හැබැයි ඒ කාටවත් පහර ගහන්නවත්, අමනාපයකටවත් නෙවෙයි, මේ සසරෙ භයානකත්වය තේරුම් අරගෙන අනෙක් පිරිසටත් යමක් අවබෝධ කරල දෙන්න ඕන නිසා. ඒ නිසා ඒ ඥාතීන් මේ අවස්ථාවෙ මොන ජාතියක මොන ගතියකින් හිටියත්, එදා හිටපු තත්වය තමයි මේ කියන්නෙ. මොකද දන් කෙනෙක් මස් ලේ කයින් මනුස්සයෙක් වුණත් වෙලාවකට තිරිසනෙක් වගේ හැසිරෙන අවස්ථා තියෙනවා. ඒ වෙලාවට ගතිය තිරිසන්. ඒ පුද්ගලයම තවත් වෙලාවකට දෙවියෙක් වගෙයි. ඒ වෙලාවට දේව ගතිය. මේ කාරණය අපි හැමෝටම සමාජයේ අත්දකින්න තියෙන දෙයක්. අපි කතාවටත් කියනවා, අර පුද්ගලය වෙලාවකට තිරිසනෙක් වගෙයි, වෙලාවකට දෙවියෙක් වගෙයි කියල. ඒ පුද්ගලය සමාජයේ හැසිරෙන හැටි බාහිරින් දැකල තමයි අපි එහෙම කියන්නෙ. ඒ නිසා යම් කිසි පුද්ගලයෙක්ගෙ ගතිය කියන එක ඒ ඒ මොහොතෙ හැදෙන එකක්. මගඵල ලාභීන් හැර අනෙක් අයට එහෙම වෙනස් වෙන ගති ස්වභාවයක් තමයි තියෙන්නෙ. මගඵල ලාභීන්ගෙ ගති නියතයි. ඒ නිසා ඕනම කෙනෙකුට බුදු බණ අහල තමන්ගෙ ගතිය යහපත් තත්වයට පත් කරගෙන නිවන් දකින්න මග පාදගන්නත් පුළුවන්.

අපේ අම්මගෙ ගති ස්වභාවය ගත්තොත් ස්වභාවයෙන්ම අහංකාරයි. ඒ කියන්නෙ සාමාන්‍යයෙන් කෙනෙකුට මොනම දේකටවත් යටත් වෙන්න කැමති නෑ. පළවෙනි තැන ගන්න, මම තමයි මේකෙ පළවෙනිය කියන අදහස තමයි ගතිය විදිහට තිබුණෙ. එහෙම නැතිව මම දැනුවත්ව නරක වැඩ තිබුණෙ නෑ. හැබැයි අභ්‍යන්තරය කියන්න මම දන්නෙ නෑ. මොන තැනක හිටියත් එක්තරා දරදඬු ගතියක් හිතේ තිබුණා. තමන්ගෙ පවුලෙ දියුණුව ගැන බලන, යුතුකම් ඉටු කරන ඒ ඔක්කොමත් තිබුණා. ඒ වුනත්, දරුවන්ගෙ දියුණුවට දෙමව්පියන්ගෙ යම් කිසි ආශිර්වාදයක් තියෙන්න ඕන කියන කාරණයෙදි ඇයගෙ යම් කිසි බලපෑමක් තිබුණා. ඒ කියන්නෙ පුතා වෙලත් මගේ දියුණුවට ඒ තරම් කැමැත්තක් තිබුණෙ නෑ. ඒකටත් යම් කිසි බලපෑමක් තිබුණා. තමන්ගෙ දරුවෙක් වුනත් දියුණු වෙන්න ඕන තමන් මුල් කරගෙන කියන අදහස තමයි තිබුණෙ. එතනදි තමන්ට මුල් තැන නැත්නම් කැමති නෑ. එදා ඉඳන්ම එහෙම ගති ස්වභාවයක් තමයි තිබුණෙ. පවුලෙ වෙන කෙනෙක් මොනවහරි කිව්වොත් ඒක ඒ විදිහටම විස්වාස කරල ඒ අනුව ක්‍රියා කරනවා. මම සම්බන්ධයෙන් වුනත් එහෙමයි. අම්මට නෙවෙයි පළවෙනි තැන

දෙන්න හදන්නෙ, ඔය තමන්ගෙ වැඩේ කරගන්න බලන්නෙ... කියල ඔය වගේ අදහස් කවුරු හරි දුන්නොත් ඒක එහෙම්ම අනුමත කරල පිළිගන්නවා. ඒ කාරණයෙන් අම්මගෙ හිත වික්ෂිප්ත වෙනවා. එතකොට නොයෙක් ඇනුම්පද කියල අපිට පහර ගහනවා.

හැබැයි මගේ පැත්තෙන් බැලුවොත්, මම මගේ උපරිමයෙන්ම දරුවෙක් විදිහට ඇයට යුතුකම් ඉටු කළා. ඒ කාලෙ විවාහ වෙන්න පෙර මම හරිහම්බ කරපු හැම සතයක්ම අම්මට තමයි ගෙනත් දුන්නෙ. මම අතේ තියාගත්තෙ නෑ. හැබැයි එහෙම කරලත් ස්වභාවය අර විදිහයි. ඉතින් මම ඒ කාලෙ බණ කියන කොටත් ඒවා පිළිගත්තෙ නෑ. බෝධි පූජා තියන, වන්දනාමාන කරන ඒ ආදී කටයුතු සියල්ල භූතයන්ගෙ කෝලම් වැඩ, වැඩකට නැති වැඩ කියල තමයි කියන්නෙ. ඒ සාසනික කටයුතුවලට සෙනග එනව දැක්කත් කැමති නෑ. පිරිත් කියනවට කැමති නෑ. නිකං මේ මිනිස්සු මරන්න හදනව කියල තමයි කියන්නෙ. ඇය මොන ජාතියේ අත්දැකීම්වලින් බේරිලා හිටියත් ඒක තමයි ගති ස්වභාවය. මොන කරදරයක් ආවත් ඒ ගතිය එහෙම්මයි.

ඔහොම ඉඳල අම්මට එක්තරා අසනීපයක් හැදුනා. හරියට නිකං නිච්චි නැතිව යන අසනීප තත්වයක්. නිදාගෙන හිටියම ඇඳෙන් බිමට ඇදල විසි කළා කියනවා. කොයි වෙලාවෙත් නිකං පිස්සු විකාර කියවන්න පටන් ගත්තා. ඊළඟට ඒ අසනීප තත්වයට අවශ්‍ය කරන කසාය ආදී බෙත් වර්ග 40 ක් විතර දුන්නා. ඒවත් මම සමාධියට යොමු කරල හදපු බෙත් වර්ග. ඉතින් ඒවායින් සනීප වුනා. ඊට පස්සෙ මම මේ ජීවිතය ගැන හොඳට විස්තර කරල අවවාද ටිකකුත් දුන්නා. අම්ම මීට පස්සෙ මේ වගේ විකෘති අදහස් ගන්න එපා, මේ වගේ සාසනික කටයුතුවලට දොස් කියන්න එපා, හොඳින් ඉන්න, දැන් අම්මට තේරෙනවනෙ අත්දැකීම්වලින්... මම ඔහොම කිව්වත් ඒක පිළිගත්තෙ එවෙලෙට විතරයි. නැවත වතාවක් අර මුල් තත්වයටමයි එන්නෙ. ඔය තත්වය දිගටම ගිහින් අන්තිමට ඒකෙන්ම මොලේ පිළිකාවක් හැදුනා. වෛද්‍යවරු පරීක්ෂණ ගණනාවක්ම කරල ඒ වාර්තාවලින් 100% ක්ම තහවුරු කළා මොලේ පිළිකාවක් කියල. නාහෙන් ඉස්ම වැක්කෙරෙන කොට තනිකරම මී කුණු ගඳ ගහනවා. මොලේ පිළිකාව කුණු වෙලා නාහෙන් එළියට හතු පිපෙන්න වගේ මතු වෙනවා. ඒකට වෛද්‍යවරුන්ට කරන්න බේතක් නෑ. මොකද ඒ වෙනකොටත් අම්මගෙ වයස අවුරුදු 82 ක්.

එතකොට වෛද්‍යවරු කිව්වා, දැන් කරන්න කිසිම දෙයක් නෑ, ඔය වේදනා නාශක වගේ මොනව හරි දීදී තියා ගන්න කියල. ඒත් උන්දැ කෑගහනවා මාව ඉස්පිරිතාලෙ ගෙනියන්නෙ නැතිව මොකක්ද කරන්න හදන්නෙ කියල. කිව්වට පිළිගන්නෙත් නෑ. අන්තිමට මට කරන්න දේකුත් නෑ. නැවතිලා හිටපු ළඟම ඥාති ගෙදරිනුත් තියා ගන්න බෑ කියල ඒ අය අම්මව පන්න ගත්තා. ඉතින් මට තියාගන්න තැනකුත් නෑ. මම කළගෙඩිහේනෙ සාසනික කටයුතු කරගෙන ඉන්න කාලෙ. පස්සෙ මම ඉන්න ස්ථානයේම වෙනම ලෑලි ගෙයක් හදල ඒකෙ තියාගත්තා.

මම ඒ සාසනික කටයුතු කරගෙන හිටපු ස්ථානයේ පහන් 2500 ක වැටක් තිබුණා. ඒකට සම්බන්ධ කරල අම්ම ලවා පහන් 1000 ක් පත්තු කරවල පුණ්‍යානුමෝදනාවක් කළා. පහන් 1000 ක් හදල අම්මට කිව්වා, තෙල් ටික ටික, තිර ටික ටික දාගෙන යන්න කියල. පුළුවන් තරම් පත්තු කරන්නත් කිව්වා. පහන් 2500 ක වැටක් තිබ්බ නිසා ඉතිරි 1500 ත් අනිත් පිරිස ලවා පත්තු කළා. මේ සාසනික ප්‍රතිකර්මයට අමතරව මම සමාධියෙන් මතු කරපු බෙත් කිහිපයකුත් දුන්නා. ඔය විදිහට මාස 6 ක් විතර කළාම ලෙඩේ සම්පූර්ණයෙන්ම සනීප වුනා. සනීප වෙලා අවුරුදු 10 ක් විතර ජීවත් වෙලා කිසිම ලෙඩක් නැතුවයි මළේ. අවසානයේ ශාරීරිකව කියල ලෙඩක් තිබුනෙම නෑ.

ඊට පස්සෙ මේක හොඳ වුනා කියල දැනගත්තු ගමන් ගෙදර අනිත් ඥාතීන්, අර කලින් පිළිකාවක් කියල රෝහල්වලින් දීපු වාර්තා ඔක්කොම අරගෙන නැවතත් වෛද්‍යවරු හමුවෙන්න ගියා. ගිහින් කිව්වා, මේක මොලේ පිළිකාවක් නෙවෙයි මේ මස් දල්ලක් තිබිල තියෙන්නෙ මේක හොඳ කරන්න පුළුවන් එකක් කියල. එහෙම තර්ක කරන්න ගිහින් වෛද්‍යවරු මේ අයට දොස් කියල තිබුණා, තමුසෙල අපිට උගන්වන්න හදනවද, මේක පිළිකාවක් නැතිව වෙන මොකක්ද, සනීප වෙච්ච එක වෙනම කතාවක් කියල. ඒ කියන්නෙ ඒ වෛද්‍යවරු නැවතත් මේ අයට සහතික කළා, අම්මට තිබුණෙ පිළිකාවක් කියල.

දැන් ඉතින් මේක පිළිකාවක් බව ඔප්පු වුනාම අර ඥාති පිරිස මොකද කළේ, ඒ වෛද්‍ය වාර්තා ටික ගෙනත් ඔක්කොම පිච්චුවා. මොකද ඒ තිබුණෙ පිළිකාවක් සහ මම ඒක හොඳ කළා කියල ඔප්පු වෙන නිසා. පිළිකාව සනීප වුනා කිව්වම, ඒ තිබුණෙ පිළිකාවක් කියල ඔප්පු කරන්න තිබුනෙ අර වාර්තා ටික. මම කරපු සාසනික කටයුතු ඇතුළු බෙත් හේත්වලින් ඇති වෙච්ච සාර්ථකත්වය දැකල ඊරිසියාවට තමයි එහෙම කළේ. ඉතින් මට ඕනනම් නැවතත් ඒ මූලික වාර්තාවලින් ලියාපදිංචිය හොයාගෙන ඒ රෝහල්වලින් විස්තර ගන්න තිබුණා. නමුත් ඉතින් ඒක මහ කරදරකාරී වැඩක්. එහෙම ගත්තයි කියල මම ඕකෙන් මොනව කරන්නද? මට ඕක තැන තැන කිය කිය යන්න අවශ්‍යතාවයක් තිබුණෙ නෑ. හැබැයි ඉතින් ඒ වාර්තා ටික තිබුණ නම්, වෛද්‍යවරුත් හොඳ කරන්න බෑ කියල අහකට දාල තිබ්බ මොලේ පිළිකා රෝගියෙක් මේ සාසන වැඩපිළිවෙල සමග සමාධියට ආපු බෙත් ක්‍රමයකින් හොඳ කළා කියල ඔප්පු කරන්න පුළුවන්කම තිබුණා. එහෙම වුනා නම් ඒකෙන් යහපතක් වෙන්නෙත් මිනිස්සුන්ටමයි. නමුත් ඒ අය ඒකට ඉඩ දුන්නෙ නෑ.

දැන් ඉතින් පිළිකාව සම්පූර්ණයෙන්ම සනීප වුනාට අම්මගෙ හිත හරියට වික්ෂිප්තයි. එක්තරා කාල සීමාවක් යනකල් ඒ වික්ෂිප්ත බව තිබුණා. ඒ කියන්නෙ මම ඒ පූජා සෙත් ශාන්ති ආදී කටයුතු කරන කොට ඒවට සහභාගි වෙන සෙනග දැක්කම අම්ම නැවතත් හිතේ කොස්සක් හදා ගන්නවා. ඒ පිරිසට එන්න එපා කියනවා. මේ අතපය වන වන බත් මුල් බැඳගෙන ගෑණු කොහෙ එනවද මං දන්නෙ නෑ, බණ අහන්න එනවලු... ඔය ආදී වශයෙන් දොස් කියල බැණල මාව හමුවෙන්න එන පිරිස් පන්න ගන්නවා. මේ කියන්නෙ මම කළගෙඩිහේනෙ ඉන්න දවස්වල. ඔහොම සනීප වෙලා ඉන්න කොට එක දවසක් නාහෙන් ලේ ටිකක් ආවා. ඊට පස්සෙ ආයෙත් බය වුනා. බය වුනාට පස්සෙ දවසක් රෑ හීනයක් පෙනිල තිබුණා. පූජාව පිළිගත්තෙ නැත්නම් උඹට යන්න වෙන්නෙ මෙන්න මෙතැනටයි කියල මහා ඝණ අන්ධකාර අපායක් පෙන්වල, ඔතනින් නිදහස් වෙලා පූජාවට අපහාස නොකර කටයුතු කරගෙන ඉඳපන් උඹට හොඳක් වෙනව කියල හීනෙන් ☞

පෙනිල නින්දෙන් ඇහැරුණාලු. දූන් ඉතින් උන්දැ උදේ නැගිටල ඉහේ අත්දෙක බැඳගෙන කෑ ගහනවා, අනේ මගෙ පුතේ මටනම් යන්න බෑ උන් පෙන්වපු තැනට, මගෙන් වරදක් වුනා නම් කමා කරගන්නව කියල.

එදා මාත් එක්ක ළඟින් ආශ්‍රය කරපු උපාසක මහත්තයෙක් අම්මට උපදෙස් දීල අම්මගෙන් අහල තියෙනවා, අම්මෙ මාර්ගඵල ලාභියෙක් හිටියනම් අම්ම වඳිනවද කියල. ඉතින් එහෙම කෙනෙකුට වඳින්නෙ නැතිව ඉන්න පුළුවන්ද කිව්වලු. ඉතිං මගඵල ලාභියෙක් වෙන්න පැවිදි වෙන්නම ඕනද කියල අර උපාසක මහත්තය ඇහුවම, එහෙම එකක් නෑනෙ කිව්වලු. හොඳයි එහෙනම් පුතා මගඵල ලාභියෙක් නම් මොකද කරන්නෙ කියල ඇහුවම, ඒක නම් මම දන්නෙ නෑනෙ කිව්වලු. ඉතින් මොනවහරි විශේෂයක් නැත්නම් මෙච්චර දේවල් නිකං කෙනෙකුට කරන්න පුළුවන්ද කියල ඇහුවම, කල්පනා කරල ඇත්ත තමයි ඒ කියපු කතාව මං පිළිගන්නව කිව්වලු. හරියටම එදා මම පූජාව කරල ඉවර වුනාම, අම්ම තුවායක් අරගෙන ඇවිත් බිම දාල මං ඉදිරියේ දණ ගහල පළවෙනි වතාවට වැන්දා. මගේ ඇඟත් එක්ක රත් වුනා. මොකද ඉතින් එතකොට මම පැවිදි වෙලත් නෑ, අනෙක මේ අම්මනෙ පුතාට වඳින්නෙ. ඉතින් මම කිව්වා මට වඳින්න ඕන නෑ, බුදු හාමුදුරුවන්ට වඳින්න ඒ ඇති කියල. ඒත් අම්ම ඒව ගණන් ගත්තෙ නෑ. මට වැන්දම හිතට ලොකු සහනයක් ආව කිව්වා. ඊට පස්සෙ ඉතින් අම්මගෙන් බේරෙන්නම බෑ, දවස ගානෙ සැරයක් වඳින්නම ඕන. ඉතිං ඒක මට මහ වදයක්. මොකද ඒකට මම කැමති වුනේ නෑ, ගෙදර අය දැක්කොත් මොනව හිතයිද? මේ ගිහි පුතෙක් අම්මගෙන් වැඳුම් ගන්නව කියල මට දොස් කියයි.

ඉතිං අම්ම මොකද කරන්නනෙ, පුතේ මේ කාමරේට එන්නකො පොඩ්ඩක් කියල උන්දැගෙ කාමරේට මාව අඬගහගෙන ගිහින් මට වඳිනවා. අනිත් අයට පේනවට තමයි කාමරේට එක්කගෙන ගිහින් වඳින්නෙ. එහෙම වැඳල, අනේ මේක මට ලොකු සහනයක් කියනවා. මම වඳින්න එපා කිව්වම, අනේ එහෙම කියන්න එපා කියනවා. ඊට පස්සෙ මම ඉතින් මුකුත් කිව්වෙත් නෑ. ඒත් ඉතින් මට අම්මගෙන් වැඳුම් ගන්න බෑ. මොකද ඒ වෙනකොට මම ගිහි වතක හිටියෙ. ඉතින් මම මොකද කළේ, උන්දැ කළගෙඩිහේනෙ ඉඳෙද්දි අවශ්‍ය පහසුකම් ටික ඔක්කොම සලස්වල දීල සතියකට සැරයක් ගෙදර යනවා. ඒ යන තරමක් යන්නෙ අම්මට කියන්නෙ නැතිව. මොකද දැන ගත්තම වඳින නිසා. දවසක් ඉතින් බලාගෙන ඉඳල අම්ම අඬන්න පටන් ගත්තා, ඇයි නොකිය ගියේ එහෙම යන්න එපා කියල.

ඉතින් කොහොම හරි අම්මට පිළිකාව හොඳ වුනා කියල පවුලෙ අනෙක් ඥාතීන් දැන ගත්තම, ඒ අයට අම්මගෙන් තව තවත් වැඩ ගන්න පුළුවන් නිසා, ඒ කියන්නෙ ගෙදර තනියට තියා ගන්න පුළුවන් නිසා, අම්මව නැවතත් ඒ අයගෙ ගෙදර ගෙනත් තියා ගත්තා. මොකද නැත්නම් ගෙදර බලා ගන්න වෙනත් ගෑණු කෙනෙක් මාසෙ පඩියට නවත්වල



තිබුණෙ. දූන් අම්ම ඉන්න නිසා ඒ අයට ඒකත් ඉතිරියි. අම්මත් කැමැත්තෙන් හිටියෙ ඒ හිටපු තැනටම නැවතත් යන්න බලාගෙන. මොකද පිට තැන්වල ඉන්න හරිම අකමැතියි. නමුත් මම හිතාගෙන හිටියෙ සනීප වුනාට පස්සෙ අම්ම මහණ වෙයි කියල. මෙච්චර කල් දුක් විඳල අත්දැකීම් ලැබුවනම්, සිල් මෑණි කෙනෙක් වෙලා හරි ඉතිරි ටික කර ගනියි කියල මම හිතාගෙන හිටියෙ. මම ඉතින් අම්මටත් කිව්වා, දූන් අම්මට යථාර්ථය තේරුනානම් අම්ම ආයෙත් ගෙදර යන්න නෙවෙයි බලන්නෙ, කෙලින්ම පැවිදි වෙලා සිල් මෑණි කෙනෙක් විදිහට ගත කරන්න, මගේ නම් අදහසත් ඒකයි කියල. අනේ මට මෙහෙම ඉන්න බෑ පුතේ මට ගෙදර යන්න ඕන... ඔහොම කිය කිය ඉතින් කෑ ගහනවා. ඉතින් ඔය අස්සෙ ඥාති පිරිස ඇවිත් උන්දැව නැවතත් කුදලගෙන ඒ අයගෙ ගෙදර එක්කගෙන ගියා.

හැබැයි ඒ ගියාට ඒ වෙනකොට අම්මට මා සම්බන්ධයෙන් තිබිච්ච ඒ අදහස් වෙනස් වුනේ නෑ. පුතේ අහවලා දෙන බුලත් නැට්ටක්වත් කන්න එපා, මං කිව්ව කියල කියන්නත් එපා මාව අහුවෙයි, උඹට වස විස දෙයි පුතේ මට උන් කියන කතාවලින් තේරෙනවා... මේ විදිහට උන්දැ මම එනකල් ඉඳල මාත් එක්ක ගෙදර ඥාති පිරිස කතා වෙන දේවල් කියනවා. මට පරිස්සම් වෙන්න කියන එක තමයි මේ කියන්නෙ.

ඉතින් ඔහොම කාලයක් ඉඳල අම්ම වයසට ගිහිල්ලම අසාධ්‍ය වුනාම ඒ ගෙදර අය ආයෙත් සැරයක් අම්මව පන්න ගත්තා. එතකොට වයස 92 ක් විතර ඇති. දූන් ඉතින් අම්මව ගෙනියන්න කෙනෙකුත් නෑ, බලා ගන්න කෙනෙකුත් නෑ. ගෙදර තිබිච්ච වාතාවරණය උඩ මට ගෙදර තියාගන්නත් බෑ. ඇප උපස්ථාන කරන්න වෙයි කියල ඥාතීන් ඔක්කොම එක්ක මග අරිනවා. ඊට පස්සෙ පොල්ගහවෙල ප්‍රදේශයේ ඉඳන් අපිත් එක්ක මේ සාසනික කටයුතුවලට සම්බන්ධ වෙච්ච මහත්තයෙක් (පසුගිය කලාපයෙන් විස්තර කළ), අපේ ගෙදර එක්කගෙන එන්න අපිට ඕක ලොකු දෙයක් නෙවෙයි, අපි මහත්තය වෙනුවෙන් ඇපකැප වෙන්නම් කියල කිව්වා. කිව්ව වගේම ඒ අය සියල්ල ලෑස්ති කරල, ඒ අයගෙ ස්ථානයේම උඩු වියන් බැඳල ඇඳන් හදල දීල, ඇඳුම් ටිකත් හෝදල දීල සියල්ල කරල අම්මට ඇප උපස්ථාන කළා. හැබැයි දවස් 15 යි ජීවත් වුනේ මළා. ස්වභාවිකව වයසට ගිහිල්ලයි මළේ.

අම්ම නැතිවෙන්න සතියකට කලින් මම ඒ පොල්ගහවෙල ගෙදරට ගිහින් බලාගෙන හිටියා අම්මට මොකද වෙන්නෙ කියල. එදා උන්දැ මස් ලේ කයින් අහක් වෙලා මනෝමය කයකින් ටික වෙලාවක් හිටියා. ඒ ඩිංගට අර කලින් හිටපු ඥාතීන්ගෙ ගෙවල්වලට මනෝමය කයින්ම දුවනවා. මට පේනවා උන්දැ කොණ්ඩෙත් කඩාගෙන පිස්සු හැදිල වගේ දුවනවා. ඉස්සෙල්ලම නංගිල ඉන්න දිහාවට ගිහින් එහේ ඉන්න බෑ කියල දිව්වා. ඊට පස්සෙ අයිය ඉන්න දිහාවට

ගිහින් එහෙත් ඉන්න බෑ කියල දිව්වා. අන්තිමට කළගෙඩිහේනෙ මම වත්පිළිවෙත් කරගෙන හිටපු තැනට ඇවිත්, මට බෑ මං වහ බීල හරි මැරෙනවා මට එහේ ඉන්න බෑ, මට ඉන්න තැනකුත් නෑ කිය කියා නිච්චි නැතිව ඔළුව හොල්ල හොල්ල එහෙ මෙහෙ දිව්වා. ආවේශයෙන් දුවි දුවී දුවනව මට තේරුණා. මම හිතුවා මුන්දැ මේ වෙලාවෙ මළොත් නම් මළ යක්ෂනියක් වෙනවමයි කියල. කොහොම හරි ඒ අවස්ථාව පැන්නා. ඊට පස්සෙ ඉතින් මම අවවාද කළා. ඔහොම තමයි ලෝක ස්වභාවය, ලෝකෙ හොඳ දෙයක් නෑ, ගන්න දෙයක් නෑ, හරයක් ඇති දෙයක් නෙවෙයි, අර්හත්වයට පත්වෙන එක අමාරු දෙයක් තමයි, ඒ වුණත් ලෝකෙ යථාර්ථය අවබෝධ කරගන්න කියල බණ කියල තේරුම් කරල දුන්නා.

එතකොට ඉතින් උන්දෑ ඒ ටික බොහොම හොඳින් අහගෙන හිටියා. අම්ම ඔයින් එහාට මොකකටවත් හිත තියන්න යන්න එපා, ලෝකෙ අල්ල ගන්න හරයක් නෑ කියල හිතා ගන්න, අසාර ලෝකෙ මොනව අල්ලන්නද, නිදහස්වීම ශාන්තයි ප්‍රනීතයි කියල හිතා ගන්න කියල මම ඔය ටික කියලමයි නැවතත් ආවෙ. එතකොට මට දැනුනා, අහවල් දවසෙ අම්ම නැති වෙයි කියල. මම ඉතින් ඒ ගෙදර අම්මව බලාගන්න පිරිසටත් කිව්වා, මෙන්න මේ දවස වෙන කොට අන්තිම අසාධ්‍ය තත්වයක් තියෙන්නෙ පරෙස්සමෙන් බලා ගන්න කියල. ඊළඟ සතියෙ මම කළගෙඩිහේනෙ පූජාව කරද්දි ආරංචිය ආවා අම්ම නැති වුනා කියල. කොහොම හරි ඒ පොල්ගහවෙල ගෙදර මහත්තය එදා පූජාවට ආවෙත් නෑ. අර මම කියපු දවස නිසා ඒ අයත් ළඟට වෙලා බලාගෙන ඉඳල තිබුණා. පණ යන අවසන් මොහොතෙත් ඒ අය ළඟට වෙලා බලාගෙන. අන්තිමට නහර පිම්බිලා හුස්ම පොදක් හෝස් ගාල ඇරියලු එච්චරයි.

පස්සෙ ඉතින් ඒ ස්ථානයේම අවසන් කටයුතු සූදානම් කරල, එන පිරිසටත් සංග්‍රහ කරල දාන මාන දීල පින් අනුමෝදන් කරල අවසන් කටයුතු කළා. කිසිම අඩුපාඩුවක් නැතිව මරණෙ කටයුතු අංගසම්පූර්ණව කළා. ඒ ගෙදර උදවිය ඉතින් ඒ අයගෙම කෙනෙක් වගේ අම්මට සලකල මරණෙ අවසන් කටයුතුත් හොඳට සංවිධානය කරල තිබුණා. මට විශේෂ දෙයක් කියල කරන්න තිබුනෙත් නෑ. සෙනගත් සැහෙන පිරිසක් ආවා. ඒ ගෙදර උදවියම තමයි යන එන අය පිළිගත්තෙත්. මම කළේ ඉතින් ධර්ම දේශනා කිරීම තමයි. මළ ගෙදර ස්තුති කතාවත් අම්මගෙ උදාහරණයම අරගෙන බණ දේශනාවක් විදිහටයි මම කළේ. මළ ගෙදර එන අයට ඒකම උපමා කරමින් ලෝකෙ ස්වභාවය කියල දුන්නා.

හැබැයි ඉතින් මම අම්මට කොච්චර බණ කියල ගියත් ඒ කියපු දේ නෙවෙයි අන්තිමට සිද්ධ වෙලා තියෙන්නෙ. කොච්චර බණ කිව්වත් අර පැරණි ගති ලක්ෂණ අදහස් මරණාසන්න මොහොතෙදි ඇවිත් තියෙනවා. අන්තිමට මනස දර දඬු වුනා. හැබැයි අර අන්තිමට බණ කියන මොහොතෙ තිබ්බ්ච ගතිය ආවනම්, උන්දෑ යන්න තිබුණෙ බ්‍රහ්ම ලොව උප්පත්තියට. නමුත් අන්තිමට ගතිය වෙනස් වුනා. වෙනස් වෙලා මම යොමු කරල බලන කොට අසුර ලෝකෙ උප්පත්තිය ලබල. එතකොට මනුස්සයින්ගෙ තියෙන වැරදි අදහස්, දෘෂ්ටි කොච්චර භයානකද? ඒක අපි හිතාගෙන ඉන්න තරම් සරල නෑ.

දැන් ඉතින් මේ විශේෂ පහන් පූජාව ගැන තමයි කියන්න යන්නෙ. පහන් ආලෝකය, ප්‍රඥාලෝකය කියන්නෙ හිස මුල් කරගත්තු එකක්. හිස කිව්වම භෞතික හිස විතරක් නෙවෙයි, මනෝමය හිස කියන මනසත් අයිති වෙනවා. හිස ආශ්‍රිත රෝගාබාධ දුරු කරන්න, ප්‍රඥාලෝකය නැගෙන්න කියල තුනුරුවන් උදෙසා පහන් පත්තු කරල පුණ්‍යානුමෝදනා කළාම ඒක හරි බලවත්. විශේෂයෙන් ප්‍රඥාලෝකයට කරන උපමා සංකේතයක් තමයි මේ පහන් පූජාව. සිත පහන් වෙන්නෙත් ප්‍රඥාලෝකය නැගෙන කොට. පහන් ආලෝකයකින් හැම වෙලේම පෙන්වන්නෙ ශීර්ෂය, ප්‍රඥාව මුල් කරගත්තු දේවල්, නුවණ මුල් කරගත්තු දේවල්. හිස මුල් කරගත්තු රෝගාබාධවලටත් විශේෂ දෙයක් තමයි පහන් ආලෝකය සහ පුණ්‍යානුමෝදනා කිරීමෙන් කරන සෙත් පැතීම්. මොකද කායික වශයෙන් හෝ මානසික වශයෙන් හෝ කෙනෙක්ගෙ හිස මුල් කරගෙන රෝග හට ගන්නෙ, සසරෙ කවද හරි අන්‍ය සත්වයින්ට හිස මුල් කරගත් අවැඩ අසාධාරණ කරපු නිසා. ඒක කායික හෝ මානසික අවැඩක් වෙන්න පුළුවන්. එතකොට ඒ විපාකය ගෙවන්න නම් ඒකට ප්‍රතිවිරුද්ධ දෙයක් අනිත් අතට කරල ඒ ශාන්තිය තමන්ගෙ අතින් අවැඩ අසාධාරණ වෙච්ච අයටත් විහිදුවන්න ඕන. තුනුරුවන් ගුණයට පහන් ආලෝකය පූජා කිරීමෙන් නැගෙන ශක්තිය හරි බලවත්.

එතකොට මේ දාහක් කිව්වම, මොනවහරි දාහය දුරුවීම කියන අදහසක් තමයි එන්නෙ. දහස කියන එක විශේෂයක්. දහසක් නයින් ප්‍රතිමණ්ඩිත සෝතාපන්න ඵලය කියන්නෙත්, සෝතාපන්න ආර්ය ශ්‍රාවකයෙක්ගෙ නුවණ 1000 කට බෙදිල යන ක්‍රමවේදයක්, දහස් ආකාරයකින් වැටහෙන ක්‍රමයක්. නුවණින් කරන්නෙත් දාහයෙන් වෙන් වෙන්න මග කියන එක. තුනුරුවන් මුල් කරල පහන් 1000 ක් පත්තු කරනව කියන්නෙ අනන්ත ගුණයට කරන උපහාරයක්. ඊට පස්සෙ ඒ ශාන්තිය චන්ද්‍ර සූර්ය දිව්‍යරාජයා ඇතුළු නවග්‍රහ දිව්‍යරාජයන්ටම අනුමෝදන් කරවන්න ඕන. ඊළඟට ප්‍රාදේශීය දිව්‍ය රාජයන්ට, දෙවියන් ඇතුලු මණ්ඩලවලට අනුමෝදන් කරනවා. ගම්භාර දේවතා ආදී කොටස්වලට, සහසම්බන්ධ වෙච්ච අයටත් සෙත් පතනවා.

ඒ කාලෙ මම ඔය වගේ පහන් පූජා කරනකොට රාත්‍රියට හඳ වටේටම රැස් වළලු විහිදෙනවා. ඒ පූජාව කරන වෙලාවට විශේෂයෙන් ඒක දිස්වෙනවා. ඒ කාලෙ ඒ පූජාව ගැන දන්න අය හඳ දිහා බලල කියනවා, ඔන්න අබේරත්න මහත්තය පහන් පූජාව කරන වෙලාව කියල. කොහේ හිටියත් ඒක පේනවා. ඒ තරම් විශේෂත්වයක් තිබුණා. පහන් පූජා කරල චන්ද්‍ර සූර්ය දෙවියන්ට පින් අනුමෝදන් කරල ඒ අයගෙන් යහපත ඉල්ලා සිටිනවා.

**හිරුනේ සඳුනේ මේ පින් අරගෙන**
**ලොවට සෙතක් ඔබ ගෙනදේවා**

**අපමණ ගුණ ඇති සම්බුදු රජිඳුට**
**මේ පින් ආලෝකය වේවා**

**මෙම පින් අරගෙන ලොව සෙත**
**කරමින් සාන්ත සුවයම පතුරාවා**

**තෙරුවන් ගුණ කඳ අපමණ ලොව**
**තුළ පහන් එළිය මෙන් බබලාවා**

ඔය විදිහට ඒ කාලෙ කවියෙන් තමයි පූජාව කළේ. ඔය එක කවි ක්‍රමයක්. ඒ විදිහට චන්ද්‍ර සූර්ය දේවතාවන්ට කියනවා, ඉරහඳ වටේ යන ගමන් ලෝකයට සෙත් කිරණ විහිදන්න කියල. එහෙම කියන කොට තමයි ඒ අය ඒක අහල චිත්ත ප්‍රසාදය මතුකරගෙන අනුමෝදන් වෙලා අර විදිහට රැස් විහිදවන්න පටන් ගන්නෙ. ඒ තරම් පුදුම හාස්කම් ඒ කාලෙ ☞

තිබුණා.

එතකොට මේ පහන් 1000 පූජාව පසළොස්වක පෝය දවසක කරන්න පුළුවන් නම් වඩා හොඳයි. මොකද පසළොස්වක පෝය දවසට විශේෂ වෙන්නෙ, චන්ද්‍ර සූර්ය මණ්ඩලවලට ආලෝකය වඩින නිසා. චන්ද්‍ර සූර්ය දිව්‍ය රාජයො ඉන්නෙ චන්ද්‍ර සූර්ය මණ්ඩලවල. එහෙම නැතිව චන්ද්‍රයාගෙ, සූර්යාගෙ නෙවෙයි. අපිට මේ පේන්නෙ ඒ මණ්ඩල. පෝයට ඒ චන්ද්‍ර සූර්ය දේවතාවන්ගෙ බැල්ම වැඩියි. මොකද ඒ අය බුද්ධ පාර්ශවයේ නිසා පිං දහම්වලට කැමතියි. ඉතින් පසළොස්වක පෝය දවස්වලට මනුස්ස ලෝකයේ අය විශේෂයෙන් පින්කම් කරන නිසා ඒ අයගෙ බැල්මත් එදාට වැඩියි. විශේෂයෙන් බුද්ධි ගෝචර දවසක්. පසළොස්වක පොහොය නැත්නම් ඊළඟට හොඳම දවස තමයි පුර අටවක. ඊළඟට මාසෙ පෝය දවසත් හොඳයි. පංචාංග ලිතකින් මේ පෝය දවස් බලා ගන්න පුළුවන්. මේ වගේ පෝය දවසකට කරන්න බැරි නම් සතියේ වෙනත් දවසක හැන්දෑවෙ යොදා ගත්තත් ගැටළුවක් නෑ. නමුත් අර වගේ පෝය දවස් වඩා විශේෂයි. හැන්දෑවෙ 6-7 ට විතර පටන් ගත්තම පහසුයි. එළිවෙනකල් පත්තු කරල තියන්න පුළුවන්න නම් වඩා හොඳයි. නැත්නම් පත්තු කළාට පස්සෙ නිවුන කියල ගැටළුවක් නෑ.

ඒ වගේම මේ පහන් පූජාව ජයසිරි මහා බෝධිය, රුවන්වැලි මහා සෑය, කතරගම කිරි වෙහෙර, කැළණි වෙහෙර, කළුතර බෝධිය වගේ විශේෂ පූජනීය ස්ථානයක කරන්න පුළුවන් නම් වඩා හොඳයි. එහෙම අමාරුනම් ගමේ පන්සලේ කළත් ගැටළුවක් නෑ. නමුත් අර වගේ ස්ථාන විශේෂයි

පහන් 1000 කට වැඩි වුනයි කියලත් ගැටළුවක් නෑ. ඕන නම් 1500, 2000... ආදිය වුනත් කමක් නෑ. එතකොට මේ පහන් පත්තු කරන කොට පිරිසිදු පොල් තෙල් යොදා ගන්න ඕන. වඩා ලේසියෙන් පත්තු කරන්න, පහන් තිරවලට හෝ පොල් තෙල්වලට කපුරු මිශ්‍ර කර ගන්න පුළුවන්. හැබැයි පහන් පත්තු කරන්න ඉටි පන්දම් ගන්නව නම්, සත්ව තෙල්වලින් හදපු ඉටි පන්දම් යොදා නොගන්න වගබලා ගන්න ඕන. එහෙම නැත්නම් විලක්කු කිහිපයක් අරගෙන කපුරු මිශ්‍ර පොල්තෙල්වල දාල ගත්තම පහන් ඕන ගණනක් පත්තු කරන්න පුළුවන්. සාමාන්‍යයෙන් මැටි පහන් තමයි මේ වගේ අවස්ථාවකට යොදා ගන්නෙ. නමුත් තමන්ට වත්කමක් තියේනම් පොල් ගෙඩිය දෙකට පළල ඒ බෑ දෙක අරගෙන පොඩි ඉරටුවක පාන්කඩ ඔතල ඒක පොල් බෑවල සිදුරු වල ගහල පහන වගේ හදා ගන්න පුළුවන්නම් තවත් හොඳයි. සෑහෙන වෙලාවක් පත්තු වෙනව වගේම සුවඳ හමනවා. පොල්වල සුද්ධතාවයත් වැඩියි. අන්තිමට පොල් ටිකත් කොප්පරාවලට අරගෙන ඒකෙන් තෙල් හිඳින්නත් පුළුවන්. අපතෙ යන්නෙ නෑ. හැබැයි ඒ තෙල් තමන්ගෙ පුද්ගලික පරිහරණයට ගන්න ගැළපෙන්නෙ නෑ. පහන් පත්තු කිරීම වගේ සාසනික කටයුත්තකටමයි යොදා ගන්න ඕන. නමුත් මේ විදිහට පොල්වලින් පහන් හදන්න අවශ්‍යම නෑ. සාමාන්‍ය මැටි පහන්වලින් කරන්න පුළුවන්.

කෙනෙකුට ඕන නම් භාරයක් වෙලා මේ පහන් පූජාව කරන්නත් පුළුවන්. එතකොට පඬුරක් අධිෂ්ඨාන කරල පන්සලේ බෝධියේ හරි වෙනත් සුදුසු තැනක ගැට ගහල, මම මෙන්න මේ කාරණය මුල් කරගෙන මෙහෙම පහන් 1000 ක් පත්තු කරන්න භාර වෙනව/පොරොන්දු වෙනව කියල, ඊට පස්සෙ පූජාව කරන්න පුළුවන්. හැබැයි ඒ පූජනීය ස්ථානයෙන් ඊට පෙර අවසර අරගෙන ඉන්න ඕන, අහවල් දවසෙ මේ ස්ථානයේ පහන් පූජාවක් කරන්න සුදුසුද, ඒ සඳහා තැනක් තියෙනවද කියල. එහෙම නැත්නම් පහන් වැටක් හදල පූජා කරන්න භාර වෙන්නත් පුළුවන්. එහෙමත් නැත්නම් පහන් වැටක් හදල පත්තු කරන්න මේ දෙකම භාර වෙන්නත් පුළුවන්. පහන් පත්තු කළාට පස්සෙ එදාම, මේ ගැන දන්න කියන භික්ෂූන් වහන්සේ නමක් ලවා අනුමෝදනාවක් කරවගන්න ඕන.

එතකොට කවුරු හරි විශේෂ රෝගියෙක් මුල් කරගෙන කරනව නම්, ඒ රෝගියා අතින් පහන්වලට තෙල් ටික ටික හරි දාල රෝගියා ලවාම පත්තු කරන්න ඕන. ඒ රෝගියාට පහන් 1000 ටම සම්බන්ධ වෙන්න බැරිනම් කිහිපයකට සම්බන්ධ කරල අනෙක් පහන් ටික අනෙක් පිරිස ලවා පත්තු කරන්න පුළුවන්. එහෙමත් සම්බන්ධ කරන්න බැරි මට්ටමේ රෝගියෙක් නම්, පොල් තෙල් ටිකයි පහන් තිර ටිකයි අත ගස්සවල පවුලේ අනිත් අය මුල් වෙලා පහන් පත්තු කරල, රෝගියගෙ නම මුල් කරල අනුමෝදනාව කරන්න පුළුවන්. එහෙම නැත්නම් ඒ රෝගියා මුළු පහන් පූජාවටම සම්බන්ධ කරල අනුමෝදනාවටත් සම්බන්ධ වෙන තරමට ප්‍රතිඵලත් වැඩියි. එතකොට උපනිශ්‍රය වැඩියි. විශේෂයෙන් ඒ රෝගියා ඥාන සම්ප්‍රයුක්තව මේ ගැන දැනුවත් වෙලා තියෙන තරමට ප්‍රතිඵලත් වැඩියි. මේ විදිහට රෝගීන් කිහිප දෙනෙක්ම වුනත් එකම පහන් පූජාවට සම්බන්ධ කරල අනුමෝදනාව කරන්න පුළුවන්. හැබැයි ඒ හැම කෙනෙක්ම අර විදිහට සම්බන්ධ වෙන්න ඕන.

**ඉතින් මේ පහන් පූජාව මනස මුල් කරගත්, සිහිය මුල් කරගත් රෝගීන්ටත්, ස්නායු රෝගීන්ටත් විශේෂයෙන් හොඳයි. හිසේ රෝගවලට අමතරව වෙදකම්වලින් සුව නොවන සර්වාංග රෝගවලටත් හොඳයි. රෝගීන්ට විශේෂයෙන් මේක ප්‍රතිකර්මයක් වෙනවා. උපක්‍රමයක් නෙවෙයි. කර්මජ රෝග හැම එකකටම හුගක් හොඳයි. දූන් විවිධාකාර දරුණු රෝගවලින් පෙළෙන උදවිය බෙහෙත් ගන්න වෛද්‍යවරු ළඟට, රෝහල්වලට යන්න පෙර 27,28,29 කලාපවලින් විස්තර කරපු විදිහට ඥාති බතක් සමග සාංඝික දානයක් දීමට අමතරව මේ වගේ පහන් පූජාවක් තුනුරුවන් උදෙසා සිද්ධ කරල පුණ්‍යානුමෝදනාවක් කරගෙන යනව නම් ඒ කරන බෙත් කටයුතු ප්‍රත්‍ය වීම වැඩියි. මොකද කර්ම දෝස ගෙවෙන්නත්, අමනුස්ස දෝස තියේනම් ඉවත් වෙන්නත් හේතු වෙන නිසා ඒවා ලෙඩ සුවවීමට බාධාවක් වුනානම් ඒ බාධාව ඉවත් වෙන්න හේතු වෙනවා.**

විශේෂයෙන් අපේ අම්මගෙ මොලේ පිළිකාව සුව වෙන්නත් ඒකාන්තයෙන්ම ඒ පහන් පූජාව උපනිශ්‍රය වුනා කියන එක මගේ අත්දැකීමක්. එහෙම නැත්නම් ඊට පෙර වෙනත් බෙත් වර්ග කොච්චරනම් දුන්නද? ඒවායින් බාගෙට සනීප වුනා මිසක් 100% ක් සුව වුනේ නෑ. මොකද මුලින් බෙත් දුන්නෙ පහන් පූජාවක් නොකර. පහන් පූජාවෙන් ඒ අඩුව සම්පූර්ණ වුනා. ඊට අමතරව කන්න බොන්න කතා කරන්නත් බැරිව හිටපු තවත් රෝගියෙකුට ඔය වගේ පහන් පූජාවක් තියල ආශිර්වාද කළාම ඒකෙන්ම හොඳ වුනා. ඒ වගේ තවත් රෝගීන් කිහිප දෙනෙක්ම සනීප වෙච්ච අවස්ථා මම දැනුවත්වම තියෙනවා. ඒ වගේම ඉගෙන ගන්න ළමයින්ට නැණ නුවණ වැඩෙන්නත් මේ පහන් පූජාව හොඳයි.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ශරීරයේ බැඳුනු අමතර තෙල්, සෙම ආදී අපද්‍රව්‍ය ඉවත් කර රෝග රැසකට සහනය දෙන ප්‍රත්‍යක්ෂ ඔසුවක්...

අට අනූවක් රෝග, නව අනූවක් ව්‍යාධි... ආදී වශයෙන් මනුස්සයාට වැළඳෙන විවිධාකාර රෝග 98 ක් ගැන ධර්මයේ සඳහන් වෙනවා. මේ රෝග 98 ක් කියන්නෙ විවිධ රෝග කුලක 98 ක්. ඒ කුලක 98 ට මේ තියෙන සියලු ලෙඩ රෝග අයිතියි.

විශේෂයෙන් මේ වෙනකොට මනුස්සයින්ගෙ ප්‍රයෝග විපත්තිය නිසා ඇති වෙච්ච විවිධ අසමතුලිතතාවයන් නිසා හටගෙන තියෙන රෝග තමයි බහුල වශයෙන්ම දකින්න තියෙන්නෙ. දවසින් දවස විවිධාකාර රෝගාබාධයන් සොයා ගන්න කොට ඒවායින් පෙලෙන මනුස්සයොත් ක්‍රමයෙන් වැඩි වෙමින් පවතිනවා. ඒ විදිහට වැඩි වෙලා අද වෙනකොට සමාජයේ බහුතරයක් දෙනා පොදුවේ පෙලෙන රෝග රැසක් තියෙනවා. අන්න ඒ වගේ රෝග රැසකට, වහරක අභයරතනාලංකාර හිමියන් විසින් බේත් සමාධියෙන් මතු කරගත්, දැනටමත් සාර්ථකව අත් හදා බලල තියෙන වද මල් චූර්ණය කියන ඖෂධය තමයි මේ හඳුන්වා දෙන්න යන්නෙ.






මේ සඳහා අවශ්‍ය ප්‍රධාන අමුද්‍රව්‍යය තමයි වද මල්. වද මල් ගන්නකොට සුදු, රතු... ආදී ඕනෑම පාටකින්, ඕනෑම වර්ගයකින් ගන්න පුළුවන්. ඒ වගේ අමු වද මල් 1kg ක් සමග අනෙක් අමුද්‍රව්‍ය විදිහට, ඕනෑම දේශීය දෙළුම් වර්ගයකින් දෙළුම් ගෙඩි 5kg ක්, සුදුරු, මාදුරු, කළුදුරුවලින් 250g බැගින්, ඇට ඉවත් කරගත් රට ඉඳි 8kg ක් සහ තල් සූකිරි 2kg ක් අවශ්‍ය වෙනවා.

හැබැයි මේ කිව්වෙ විසාල පිරිසකට හදනකොට අවශ්‍ය අනුපාතයක්. ඒ නිසා මේ අනුපාතයම එන විදිහට තමන්ට අවශ්‍ය ප්‍රමාණයෙන් මේ අමුද්‍රව්‍ය අඩු වැඩි කරගන්න පුළුවන්. උදාහරණ විදිහට අමු වද මල් 100g ක් ගත්තොත් සුදුරු, මාදුරු, කළුදුරු 25g බැගින්, දෙළුම් 500g ක්, රට ඉඳි 800g ක් සහ තල් සූකිරි 200g ක් අවශ්‍ය වෙනවා.

දැන් මේ වද මල් සහ දෙළුම් ගෙඩි එකට කොටාගෙන හෝ අඹරගෙන ඒකට නිවාගත් උණු වතුර බෝතල් 5 ක් (750 ml)දාල (ඉහත මුලින් කී අනුපාතයෙන් නම්) ඉස්ම ටික මිරිකගෙන පෙරා ගන්න ඕන. දෙළුම් ගන්නකොට ඇට විතරක් නෙවෙයි, මුළු ගෙඩිය පිටින්ම ගන්න ඕන. කොටා ගන්න හෝ අඹරගන්න පහසු වෙන්න දෙළුම් ගෙඩි කැලිවලට කපාගන්නත් පුළුවන්. ඊළඟට සුදුරු, මාදුරු, කළුදුරු කියන තුන එකට මිශ්‍ර කරල රන්වන් පාටට එනකල් බැදගෙන කුඩු කරල පෙනේරයකින් හලාගන්න ඕන.

දැන් ඇට ඉවත් කරගත් රට ඉඳි හොඳින් අඹරගෙන ඒකට තල් සූකිරියි (කුඩු කර ගත් තල් සූකිරි නම් වඩාත් පහසුයි) , අර කලින් හදා ගත් වද මල් දෙළුම් මිශ්‍ර ඉස්ම ටිකයි, දුරු කුඩුයි සියල්ලම එකට මිශ්‍ර කරල නැවතත් අඹරගෙන ලිපක තියල සෙල්සියස් අංශක 80 ක පමණ උෂ්ණත්වයෙන් හෝ මඳ ගින්නෙන් රත් කරගෙන චූර්ණ කරගන්න ඕන. දැන් මේ චූර්ණය තමයි ඖෂධය වෙන්නෙ. ඒකෙන් උදේ, දවල්, රෑ ආහාරයට පසු තේ හැඳි 1 බැගින් මාසයක් පාවිච්චි කරන්න ඕන. ඊළඟට අවශ්‍ය නම් මාස 3 ක් දක්වා සුදුසු විදිහට ගන්න පුළුවන්. වැඩිපුර ගත්ත කියල කිසිම අතුරු ආබාධයක් එන්නෙත් නෑ.

මේ ඖෂධයෙන් ශරීරයේ සියලු ඉන්ද්‍රියන්ගේ අමතරව බැඳුණු තෙල්, අපද්‍රව්‍ය ඉවත් කරනවා. විශේෂයෙන් ඇල දිවේ අමතරව බැඳුණු තෙල් අපද්‍රව්‍ය ඉවත් කරනවා. තරබාරු අයගෙ අමතර තෙල්, සෙම ඉවත් වෙලා ක්‍රමානුකූලව ශරීරය සකස් වෙනවා. යටි බඩ මහත් වීම අඩු වෙලා ස්වභාවික තත්වයට පත් වෙනවා. විවිධාකාරයෙන් ශරීරගත වෙච්ච විස ඉවත් වෙනවා. රුධිර පීඩනය සමතුලිත වෙනවා. උගුරේ බැඳිච්ච සෙම, පපුවේ සෙම ඇතුළු සියලු සෙම් ආබාධ සුව වෙන්න හේතු වෙනවා. මුහුණේ කුරුලෑ හට ගැනීම, පැසවීම නතර වෙනවා. කාලයක් තිස්සේ නරක් වෙච්ච සෙම්ප්‍රතිශ්‍යාව සුව වෙනවා. කල් පවතින බඩේ අජීර්ණ, අර්ශස් අමාරු, හන්දි ඉදිමුම්, කන් අගුල් වැටීම්, ඉහමොල තදවීම, නාසය හිරවීම, බෙල්ල පපුව හිරවීම, වැලමිට යටින් උරහිස අස්සෙන් ඇඟිලි පුරුක් දක්වා එන වේදනාව, කලවේ පටන් පාදවල ඇතුලෙන් එන කැක්කුම, නහරවල ලේ කැටි හිරවීම නිසා එන ඉදිමුම... ආදී විවිධ ආබාධ සුව වෙන්න හේතු වෙනවා. හැබැයි මීට කලිනුත් විස්තර කරල තියෙන විදිහට, **විවිධ පුද්ගලයන් සසර ගමනෙදි ගේන කර්ම විපාකවලට යටත්ව තමයි ඒ සුව වීමත් සිද්ධ වෙන්නෙ.**

සටහන:
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# සත්ත්වයාගේ විවිධ ක්‍රියාකාරිත්වයන් නිසා විශ්වයේ ශක්තීන් ගොඩනැගෙන අයුරු

*(පසුගිය කලාපයෙන් - නූතන විද්‍යාවට හසු නොවූ මනෝ ක්‍රියාකාරිත්වය දහම් ඇසින්...)*

කර්ම ශක්තිය කියන දේ විපාක දෙනකල් දිරන්නෙ නැතුව ක්‍රියාත්මක වන බවත්, අතර මගකදි ක්‍රියාත්මක නොවී නියමිත කාලයෙදිම ක්‍රියාත්මක වන බවත්, ඒක අපට ඕන විදිහට ක්‍රියාත්මක කරන්න බැරි බවත්, ඒක සිද්ධ වන ආකාරය අපි දනගෙන නොසිටියත්, කර්ම ශක්ති ක්‍රියාවලිය බාධාවකින් තොරව සිද්ධ වන බවත් මීට පෙර විග්‍රහ කළා. එහෙනම් අපි උත්සාහ කිරීමෙන් ප්‍රතිඵලයක් වෙයිද කියල කෙනෙකුට හිතෙන්න පුළුවන්. ඒ කාරණය මේ විදිහට වටහගන්න ඕන.

**අනාගත කර්ම ශක්තියේ අඩිතාලම තියෙන්නෙ තමන් ළඟ. අතීත කර්ම ශක්තියෙන් පෙන්වන්නෙ විපාකයන් ගෙනෙන ආකාරය.** ඒ විපාකයන් ලබන අවස්ථාව අරගෙන කර්ම රැස් කරන කොට, පාපය හෝ පින හෝ කුසලය වැඩීම හෝ නොවැඩීම වෙනවා. ඒ වැඩීම හෝ නොවැඩීම තීරණය වෙන්නෙ විපාකයෙන් නෙවෙයි. ඒක තමන්ම කළ යුතු කර්ම කොටසට තමයි අයිති වෙන්නෙ. ඒකට පෙර විපාකයක් උපනිශ්‍රය වුනත් මූලික වෙන්නෙ ඒ වෙලාවෙ තියෙන තමන්ගෙ චේතනාව. එතකොට කෙනෙකුට යම් කර්මයක් කරන්න හිතෙන්නෙ පෙර කර්ම විපාකයක් නිසාම නෙවෙයි. ඒ වෙලාවෙ චේතනාව මුල් කරගෙන. ඒකට පෙර කර්ම විපාකයක් බලපෑම එක පැත්තක් විතරයි. එතකල් මූලික වෙන්නෙ තමන්ගෙ චේතනාව සහ බාහිර පරිසරයේ හේතු. හැබැයි ඒවත් සත්වයා පොදුවේ කරගත්තු කර්මවල විපාකම තමයි. කර්මය යම් සේ කරන්නේද, විපාකය අපි හිතුවත් නැතත්, බලාපොරොත්තු වුණත් නැතත් ඒ විදිහටම සිද්ධ වෙනවා. සුදුසු දේ කරල සුදුසු දේ පතනකොට ඒක කර්ම කොටසටම අයිති වෙනවා. ඒ කියන්නෙ ඒ පැතීමත් කර්මකාරකයි. ඒකෙ විපාකය එන කොට වෙන දෙයක් පැතුවත් කර්ම කාරක පැතීම විපාක කාරකව වැඩිල ආව නම්, ඒ විපාක ප්‍රතිඵලවලින් වෙනත් දෙයක් බලාපොරොත්තු වුනාට වැඩක් නෑ. අනේ බුදු අම්මෝ මට නම් මෙහෙම දෙයක් එපා කිව්වට වැඩක් නෑ. වෙන්න ඕන හරිය සිද්ධ වෙලා ඉවරයි. එහෙම නැත්නම් ඒක අනාගතයෙදි සිද්ධ වීම තීරණය වෙලා ඉවරයි. මේ පිළිබඳව



සාසන ඉතිහාසයෙන්ම උදාහරණයක් ගන්න පුළුවන්.

අපේ ගෞතම බුද්ධ සාසනයෙදි නිවන් දකින්න, පෙර කාලයක පටන් පතාගෙන ආපු උතුමන් හත් දෙනෙක් ගෞතම බුදුන්ට පෙර වැඩ හිටපු කාශ්‍යප බුදුන් වහන්සේගෙ සාසනයේ මහණ වෙලා දිවි පරදුවට තියල රහත් වෙන්න උත්සාහ කළා. අන්තිමට ගල් පර්වතයක් මුදුනට නැගල ඒ ඉඳගත් අසුන්වල මියයන කල්ම නැගිටින්නෙ නැතිව අධිෂ්ඨාන කරගෙන කර්මස්ථාන මෙනෙහි කළත්, එයින් පස් දෙනෙක්ම රහත් ඵලය නොලබාම අපවත් වෙලා නැවතත් මිනිසත්ව ඉපදිලා ගෞතම බුද්ධ සාසනයෙදි දහම් පද කිහිපයක් ඇසූ පමණින් රහත් වෙච්ච බවත් සඳහන් වෙනවා. දාරුචීරිය, සන්තති අමාත්‍ය, පුක්කුසාති, ආදී නම්වලින් ඒ උතුමන්ලා හඳුන්වා තියෙනවා. බලවත් විදිහට පැතුම් ඇතිව කරපු කර්ම ඒ වගේ විපාක දෙන නිසා වෙනස් කරන්න බැරි වුණත්, අලුත් විපාකයක් බලාපොරොත්තුවෙන් කරන කර්ම, විපාක ගෙන දෙන නිසා සසර පැවැත්මට කරපු පැතුම් නිසා එන විපාක, ඒවා මැඩ පවත්වන්න පුළුවන් මහ විපාක දෙන කුසල හෝ අකුසල කර්ම කළාම පෙර විපාක ලෙස ආපු ශක්තියත් මෙල්ල කරගෙන බලවත් කර්මය විපාක ගෙන දෙන බව හිතාගන්න ඕන. මේ විදිහට කර්ම විපාක නියාමයන් දනගෙන යහපත සලසා ගන්න ඕන.

සත්ත්වයා ස්පර්ශ කරන ලෝකයේ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම ආදියට බැහැගෙන ඉන්නෙ ඒවායින් විද්‍යමාන වන ප්‍රිය මධුර ස්වභාවයන්ට ඇලුම් කරන නිසා. ඒ ප්‍රිය මධුර ආස්වාද නිසා, ඒවා තවදුරටත් පවත්වාගෙන යන බලාපො-රොත්තුව නිසා, පැවැත්මේ කර්ම ශක්තිය ක්‍රියාත්මක වෙන කොට ඒ පැවැත්ම තවදුරටත් ඉදිරියට සකස් කර දෙන්න බීජ ශක්තියක් වගේ කර්ම ශක්තිය ඇති කරනවා. බලාපොරොත්තු වුනේ මොකක්ද, ඒක ලබා දෙන්න සුදුසු විදිහට ශක්තිය ක්‍රියා කරල විශ්වගත රූප කලාප සමග ප්‍රතික්‍රියා කිරීම නිසා, අති සූක්ෂම රූප කලාප හෙවත් රූප පරමාණුවලට ශක්ති ගෝචරත්වය ඇති වෙනවා. ඒ නිසා පණ නැති ද්‍රව්‍ය නමුත් ක්‍රියාකාරී බවක් ඇතිව තියෙනවා.

විද්‍යාධරයන්ගේ සොයා ගැනීම අනුව පරමාණු හැම තිස්සෙම භ්‍රමණයකට අහුවෙලා න්‍යෂ්ටික ශක්තියක් ආවේණිකව පවතිනව ☞

මිසක් අක්‍රියව තියෙන බවට පරීක්ෂණවලින් ඔප්පු කරන්න බෑ කියල සමහරු කියන්න පුළුවන්. ඒ අය දකින්නෙ බාහිරින් සිද්ධවන පරීක්ෂණවලට හසුවන දෙයක්. පොදුවේ සත්ත්වයන්ගෙ කර්ම ශක්තියට විශ්වයේ හැම මූල ධාතුවක්ම ගෝචර වෙලා තියෙන නිසා ඒ ශක්තිය මත විශ්වයේ ක්‍රියාවලිය පවතින නිසාත්, ඒ කාරණය එසේ විය යුතුමයි. චිත්ත ශක්තියත් හේතු ප්‍රත්‍ය ශක්තිය ලබා දෙනවා. ලෝක විනාසය වෙලා නැවත හැදෙන කල් සංවර්ථස්ථායී නම් (සංවර්ථ - වැඩෙන පැත්ත, සංවර්ථස්ථායි - වැඩී පවතින පැත්ත) කල්ප 20 ක් මේ පරමාණුක බලය අක්‍රියව පවතින බව බෞද්ධ ධර්මයේ සඳහන් වෙනවා. අක්‍රියව පවතිනවයි කිව්වෙ පහළ වීමට බල ගැන්වෙමින් තියෙන කාලය. ඒ වගේම බලාපොරොත්තු වුනේ සුබ දෙයක් නම්, අසුබ දුක් දෙයක් ඇති වෙන්න හේතුවක් ඇතිවිය නොහැකිය කියන හැඟීමත්, එහෙනම් සුබ දෙයක්ම නිපදවෙනව මිසක් අසුබ දේවල් වන අපාය, දුගතිය පහල වෙන්නෙ කොහොමද කියන ප්‍රශ්නයත් මතු වෙන්න පුළුවන්. මේ ගැන මෙහෙම කල්පනා කරල බලන්න ඕන. සත්ත්වයාගේ බලාපොරොත්තු (ආසාවන්) සතර ආකාරයකින් දිස් වෙනවා.

1. <u>දැන ගැනීමේ බලාපොරොත්තුව</u> - හැම සත්වයෙක්ම, කුමක්ද? කව්ද? කෙසේද? ඇයි?... ආදී ප්‍රශ්නවලින් පසුවෙනවා. අති සූක්ෂම ආසාවක් වූ මේ කාරණය සසර සැරිසරන සතුන්ට පොදුවන අතරම මේ බලාපොරොත්තු වැඩි වෙච්ච තරමට ලෝක සත්ත්වයෝ පරීක්ෂණවලට එළඹෙනවා.

2. <u>විඳීමේ බලාපොරොත්තුව</u> - දැන ගැනීමේ දී ඒ ඒ අරමුණුවලට උරුම වෙච්ච ගති ලක්ෂණ කෙරෙහි තමන් තුළත් ඇතිකර ගත් ලක්ෂණත් අනුව සැකසිලා ඊට අනුකූල වින්දනයක බලාපොරොත්තු ඇති වෙනවා.

3. <u>රැස් කිරීමේ බලාපොරොත්තුව</u> - වින්දනයෙදි ඒ ගති ලක්ෂණ තවත් අධික වෙලා, රැස් කරල තියාගෙන විඳින බලාපොරොත්තු හට ගන්නවා. ක්‍රමයෙන් වැඩෙන ආත්මාර්ථකාමී බවත් සමග රැස් කිරීම පටන් ගන්නවා.

4. <u>පැතීමේ බලාපොරොත්තුව</u> - රැස් කරන කොට සීමාව ඉක්මවනවා. ඕනෑවට වඩා අනවශ්‍ය ප්‍රමාණයෙන් රැස් කරමින් මානය, උඩඟුව, තමන් පිළිබඳ විශේෂත්වය, ''මම, මගේ'' කියන දැඩි බැඳීම... ආදී පාප ධර්මයන් ලියලමින් දැඩි ලෝභී (ලෝ + අබ්බ - ලෝකයේ එල්බ ගැනීම) බවක් ඇතිවෙලා, ඒකට විරුද්ධ වුනාම ගැටෙමින් අසීමිත ප්‍රාර්ථනාවන්වලට බැහැ ගන්නවා.

මනුස්සයා ක්‍රමයෙන් සම්පත් විඳිහට ගත් ලෞකික ආස්වාදයන් පිරිහිලා යන කොට තවත් අධික විදිහට ලැබීම් පතමින් දැඩිව බැස ගැනීම නිසා ලෝභ, ද්වේශ (දෙවැනි ඇසුරට වැටීම, ඒ කියන්නෙ ඇලීම නිසා ගැටීමට පත් වීම) බලවත් වෙලා අයුතු අසාධාරණ



පාප කර්ම කරන්න පටන් ගන්නවා. මුලාව හෙවත් මෝහය (මුව+භාවුණ - වැසී ගියා) දිනෙන් දින වැඩි වෙලා නුවණැස වැහිල හදවත අඳුරු වෙලා අර්ථයන් නොවැටහී මුලාව සත්‍යය කියල ගන්නවා. මේ නිසා අසාධාරණය සාධාරණයි කියල අරගෙන පාපී දහම්වල කැමැත්තෙන් බැහැ ගන්නවා. පාපයේ විපාකයට අකමැති වුනත් ඊට හේතු වෙච්ච චේතනා සහගත ක්‍රියාවට කැමතියි. ප්‍රාණ ඝාතයට කැමතියි. නමුත් විපාකය වන දුකට අකමැතියි. සුරා, සූදු, දුරාචාර, බොරු, කේලාම්, පරුෂ වචන, ලෝභකම, ද්වෂ්‍යභාවය කියන මේ ආදියට කැමතියි. නමුත් ඒවායේ විපාකවලට අකමැතියි.

මුලාව නිසා හේතුඵල දකින්නෙ නැතිව තමන්ගෙ කැමැත්තට අනුව කටයුතු කරල මෝඩකමේ මුලාවෙන් දුක් විඳිනවා. පොදුවේ ලෝක සත්ත්වයෝ මේ තත්ත්වයට වැටෙන කොට, හොඳ අය හා නරක අය විඳිහට කොටස් ඇති වෙනවා. එතකොට බඹ ලොව, දෙව් ලොව, මිනිස් ලොව, දුගති, ප්‍රේත, යක්ෂ, අපාය ආදී වශයෙන් හේතු ප්‍රත්‍ය වූ රූපයන්ගේ බිහි කිරීම් මත, ඒ ඒ කොට්ඨාසවල සැප දුක් විඳින්න හේතුවන විදිහට ලෝකයන් බිහිවෙනවා. මේ විදිහට ලෝකයේ යමක් බිහිවෙලා තියෙනවද, සිත පිළිබඳව වේවා, කය පිළිබඳව වේවා, අභ්‍යන්තර - බාහිර, පෙනෙන - නොපෙනෙන, දුර - ඈත, ලොකු - කුඩා කෙබඳු හෝ පහල වීමක් ඇත්ද, ඒවා පැවැත්මේ බලාපොරොත්තුවෙන් ඇති කළ මාන හෙවත් මැනීමේ හේතුවෙන් වූ ධර්මතාව ක්‍රියාත්මක වීමෙන් හටගත් ඒවාමයි. ''මනෝ පුබ්බංගමා ධම්මා - මනෝ සෙට්ඨා මනෝමයා'' කිව්වෙත් ඒ නිසා. මේවා සියල්ලම ඉපදීම් වෙනවා. හේතුවක් නිසාම පහල වෙච්ච ඒවා. අහේතුකව පහල වෙච්ච කිසිවක් නෑ. අති සූක්ෂම රූප ධාතුවල හැඩයක් හෝ ආකාරයක් පෙන්වන්න හෝ බලන්න පංචේන්ද්‍රිය විෂය ගෝචරතාව සූක්ෂම මදි. අනාවරණ ඥාන තියෙන ලොව්තුරා බුදුන් වහන්සේලාම මේ සූක්ෂම රූප කලාප පිළිබඳව ලෝකයට දේශනා කරනවා. නමුත් අපි කරන්නෙ, ලෝකයේ පංචේන්ද්‍රිය ගෝචර යම් ධර්මතාවක් ඇති රූප කලාප දිස්වෙන කොට, ඒ පරමානුක රටාවන් එකතු වීමෙන් පහල වූ දේ පිළිබඳව අපට පෙනෙන ආකාරයන් දැනෙන ආකාරයන් හඳුන්වන්න නොයෙක් නම් තබා ගැනීම.

සත්ත්වයාත්, ලෝකයත් පහල වෙච්ච හේතු ඵල හිතල බලන කොට ආදියේ පටන් එන ඊශ්වර, දේව, බ්‍රහ්ම නිර්මාණ ආදී ආකල්පයන්ගෙන් ඇති වූ නොයෙක් මතවාද බුදුන් වහන්සේ ලෝකයට පහල වෙන කොටත් තිබුණු බව පොත්පත්වල සඳහන් වෙනවා. නමුත් බුද්ධ වචනයට අනුව සත්ත්වයාගේ පින් පව්, කර්ම බලය ක්‍රියා කරන ක්‍රම රටා චක්‍රය, විශ්වය හා සත්ත්වයා නිර්මාණය කරල තියෙන ආකාරය පෙන්වනවා. මේ පිළිබඳව විද්‍යානුකූලව

අදහස් සොයා බැලීම සුදුසුයි. ලෝක නිර්මාණය, භවයෙන් භවයට යන සංසාර ගමන කියන මේවාට විද්‍යාත්මක සාක්ෂි සෙවීම, සැක හැර හරි මගට පැමිණීමට ඉතා යෝග්‍යයි.

ශක්ති ප්‍රභවය තියෙන්නෙ කොතැනද? සියලු ශක්තීන්ගේ ප්‍රභවය සූර්යා කියන මතය අද බොහෝ විද්‍යාධරයන් අතර වගේම සමාජයේ උගත් කියල සම්මත අය අතරත් ප්‍රචලිත වෙලා තියෙනවා. නමුත් විද්‍යාඥයන්ගේ පරීක්ෂණ අනුව පැවසෙන්නෙ, තවත් වසර කෝටි ගණනකදි ඒ සූර්ය ශක්තියත් ගෙවිල යන බව. නමුත් මේ වෙනකල් ලෝකයේ සැඟවුණු ශක්තියක් එළියට අරගෙන මුදා හැරීමෙන් කටයුතු කර ගැනීම මිසක් ශක්ති ප්‍රභවයක් සොයාගෙන නෑ. සූර්යාත් ගැබ්වෙලා තියෙන ශක්තියක් මුදාහරින බව කියනවා. පරමාණු බල ශක්තියත් ලබාගන්න මග පැවසුවත් ඒකත් ගැබ්වෙච්ච ශක්තියක් මිසක් ශක්ති ප්‍රභවයක් නොවන බව දැන ගන්න ඕන. එහෙනම් විශ්වයට ක්‍රියාකාරී ශක්තිය කොයින්ද? නිෂ්පාදකයා කව්ද? මේ ප්‍රශ්නයට විසඳුම් ගන්න පෙර අපි ගැන ටිකක් හිතල බලන්න ඕන.

අපිට තරහ එන වෙලාව, දුක හිතෙන වෙලාව, ආදරය, රාගය ඇතිවන වෙලාව කියන මේවා ගැන සොයා බලන්න ඕන. පිටතින් ආහාරයක් ශරීරගත කරගන්නෙ නැතිව, අපි ඇඳක නිදාගෙන ඉන්නව කියල හිතන්න. මේ වෙලාවෙ අල්ලපු ගෙදර කෙනෙක් අපිට අසභ්‍ය වචනයෙන් බැණ වදිනව අපේ කනට ඇහුණ නම්, අපි අතර බොහෝ දෙනෙකුට සිද්ධ වෙන්නෙ මොකක්ද? කෙනෙකුට තරහ ගති පහල වෙනවා. තව කෙනෙකුට බය ගතියක්. තවත් කෙනෙක්, "මෝඩයා මෝඩකමට කෑ ගහනවට මට මොකද" කියන මධ්‍යස්ථ ගති ඇත්තෙක්. මේ විදිහට නොයෙක් ආකාර ගති අපේ සිත්වලට දැනෙනවා. තරහ ගතිය මතු වුණා නම් ඒ ගතිය අපේ සිත්වලට බලපාන්නෙ කොහොමද? ගතට බලපාන්නෙ කොහොමද? මුහුණ රෞද්‍ර වෙනවා. විරූපි වෙනවා. රුධිර ධාවනය අධික වෙනවා. සිරුරට දැඩි බවක්, කර්කශ බවක් ඇති වෙනවා. මේ කාරණාවන් අපි හිතින් හිතාගෙන, මේ ඉන්ද්‍රිය මෙසේ විය යුතුයි කියල කරපු දේවල් නෙවෙයි, ගතිය සමග ඇති වෙච්ච අනුරූප ක්‍රියාකාරිත්වයන්. එහෙනම් මේවා අපේ කැමැත්තෙන් කරපු දේවල්ද? අපි රෞද්‍ර මුහුණකට කැමති නැති වුණත් ඒක වළක්වන්න පුළුවන්ද? අපිට පාලනය කරන්න බැරි ශක්තියක් ඒ ගතියට අනුව ක්‍රියාත්මක වෙලා තියෙනවා. යම් දෙයක් තියෙන ආකාරයෙන් වෙනස් වෙන්න නම් එයින් ශක්තියක් පිට විය යුතුයි. නැත්නම් ක්‍රියාත්මක විය යුතුයි. මෙතනදි සිද්ධ වෙලා තියෙන්නෙ ශක්තියක් ක්‍රියාත්මක වීමක්. දැන් එක දෙයක් අපිට වැටහෙනවා. ඒ කියන්නෙ අමතරව ගත් ආහාරයක ප්‍රතික්‍රියාවක් නෙවෙයි, සිතක ගතියක් අනුව ශක්තියක් පහල වන බව.

ඒ වගේම මේ ආකාරයටත් ඒ කාරණාව බලන්න පුළුවන්. යම් විදිහකින් එහෙම නිදාගෙන ඉන්න කොට කාම සංකල්පනාවක් ගැන හිතමින් හිටිය නම් මොකක් වෙයිද? බොහෝ දෙනෙකුට ශාරීරික උත්තේජනයක් ඇති වෙනවා. ශරීරයේ රුධිර ධාවනයේ පවා වෙනසක් ඇති වෙනවා. ශාරීරික උත්තේජන ජනක ශ්‍රාවයන් නිකුත් කරන ඉන්ද්‍රියන් ක්‍රියාත්මක වෙනවා. මේ තවත් ආකාර ගතියකට අනුරූප ශක්ති ක්‍රියාත්මක වීමක්. මේකත් හිතේ හටගත් ගතියක් නිසා පහල වන ශක්තියක්. එහෙනම් දැන් අපිට ඒ ගති පහල වෙන කොට නිපදවෙන ශක්තියක් තියෙන බව පැහැදිලියි.

දැන් මේ ගතිය නිසා ඇති වන ශක්තිය අඩු වැඩි වන ආකාරය සලකා බලන්න ඕන. අපි අවදි බවින් හාන්සි වෙලා ඉඳගෙන යම් වෙලාවක් කාම සංකල්පනා පහල කරමින් හිටිය කියල හිතුවොත්, එතනදි එක්තරා මට්ටමකට ශාරීරික උත්තේජන බවක් ඇති කරමින් සුළු ශක්තියක් ක්‍රියාත්මක වෙනව මිසක් ඉන් වැඩිමනක් සිද්ධ වීමක් අපිට පේන්නෙ නෑ. නමුත් ඒ මානසිකත්වයෙන්ම යම් මොහොතකට නින්දට වැටුණ නම්, නින්දෙදි සිද්ධ වන කායික ස්වභාවය කොහොමද? එතකොට ඇසට පෙනීම නෑ. කනට ඇසීම නෑ. දිවට රසය, නාසයට ගඳ සුවඳ, ශරීරයට ස්පර්ශය දැනෙන මාර්ග වැහිල. චක්ඛු විඤ්ඤාණ, සෝත විඤ්ඤාණ, ඝාන විඤ්ඤාණ, ජිව්හා විඤ්ඤාණ, කාය විඤ්ඤාණ මතුවන දොරටු දුර්වලයි. දැන් වැඩ කරන්නෙ මනෝ විඤ්ඤාණය විතරයි. දැන් මුලින් දකපු කාම සංකල්පනාව නැගුන නම්, බලවත් වෙච්ච නිසා සිහිනයක් විදිහට පේන්න පටන් ගන්නවා. ඒක පෙර නොදකපු විදිහෙ අමුතුම ලෝකයක්. පෙනෙන, ඇසෙන, දැනෙන හීන ලෝකයක්. ඇස, කන, නාසය, දිව, ශරීරය තියෙන්නෙ තාවකාලික මරණයක. ඒ නිසා ඒවායින් අරමුණු ගෙනෙන විඤ්ඤාණ ශක්තියක් නැති නිසා මනෝ විඤ්ඤාණය බොහෝ කොට ක්‍රියා කරන ආකාරය තමයි පේන්නෙ. දැන් සිද්ධ වෙන්නෙ මොකක්ද? ශාරීරික උත්තේජනය අධික වෙලා බලවත් ශක්තියක් ශාරීරිකව ක්‍රියා කරල තියෙන හැටි පේනවා. දැන් මේකට හේතුව මොකක්ද කියල විමසල බලන්න ඕන.

කාම ගතිය කිව්වෙ කාම සිතක් පහල කළාම ඇතිවන ශක්ති විශේෂයක්. නමුත් අවදි වෙලා ඉන්න කොට ඇස, කන... ආදී ඉඳුරන් රූප, ශබ්ද... ආදී අරමුණු ගනිමින් එක දිගට එක ගතියක් ක්‍රියාත්මක වෙන්න ඉඩ නොදී හරස් වෙනවා. ගතියට බාධා ගෙනෙන, ගතිය වෙනස් කරන එකම බලවේගය තමයි විඤ්ඤාණ පහල කරමින් වෙනස් ගතිවලට හේතුවන විඤ්ඤාණ නිසා වෙනස් ගති පහල කරමින් තියෙන ගතියට ක්‍රියාත්මක වෙන්න ඉඩ නොදී අලුත් ගති පහල කිරීම. ගතියක් වෙනස් කරන්න ගතියක්ම සමත් වෙනවා. ඒ විදිහට අලුත් ගතියක් ඇති කරන්න නම් බාහිරින් ඇස, කන... ආදී ඉන්ද්‍රියන් මගින් අරමුණු අරගෙන තියෙන ගතිය වෙනස් කරන්න තරම් බලවත් වන විඤ්ඤාණ ඇති කරල, ඒ බලවත් අලුත් ගතියක් ඇති කරන්න ඕන. චුතියෙදි සිද්ධ වෙන්නෙ ඒ අවස්ථාවෙ තිබිච්ච ගතිය වෙනස් කිරීමට හේතුවන අලුත් අරමුණුවලින් ඒ අත්බවයේ ගතිය සහමුලින්ම නැති වී යෑම.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# සාසනික පැවිද්ද... 7

# පැවිද්දාට ඇති බිය හතරක්

මජ්ඣිම නිකායේ <u>චාතුම සූත්‍ර දේශනාවේ</u> පැවිද්දාට ඇතිවන බය හතරක් පිළිබඳ සඳහන් වෙනවා. ඒ තමයි ඌර්මි බය, කුම්බීල බය, ආවට්ට බය, සුසුකා බය. ජලයට බහින පුද්ගලයාට දිය රැලිවලින් ඇතිවන බය, නපුරු කිඹුලන්ගෙන් එන බය, දිය සුලිවලින් ඇතිවන බය, නපුරු මසුන්ගෙන් එන බය කියන මේ අනතුරු 4 ට මුහුණ දෙන්න සිද්ධ වෙනවා.

ඒ වගේම මේ සාසනයේ යම් කුල පුත්‍රයෙක් පැවිදි වුනාම ආචාර්ය උපාද්ධ්‍යායන් වහන්සේලා සහ සබ්‍රහ්මචාරීන් වහන්සේලා විසින්, මෙසේ යා යුතුය, මේ වෙලාවට සැතපිය යුතුය, නැගිටිය යුතුය, මෙසේ පාත්‍ර සිවුරු දැරිය යුතුය, මේ මේ දේ කළ යුතුය, නොකළ යුතුය... ආදී වශයෙන් අවවාද අනුසාසනා කරනවා.

මේ විදිහට අවවාද අනුසාසනා කරන කොට සමහර භික්ෂූන් ඒ අය කෙරෙහි කෝපය ඇති කරගෙන, ගිහිව ඉඳෙද්දි අපේ වැඩවලට කවුරුවත් ඇඟිලි ගහන්න ආවෙ නෑ, අපි කාගෙන්වත් කරදරයක් නැතිව අපේ කැමැත්තට කටයුතු කළා, දැන් අපිට කිසිම නිදහසක් නෑ, මේ මොන කරදරයක්ද, මේ මහණකමෙන් අපට ඇති ප්‍රයෝජනයක් නෑ... ආදී වශයෙන් අදහස් අරගෙන ක්‍රෝධයට යට වෙලා සිවුරු හැර යනවා.

මේ කාරණය, වතුරට බහින කෙනා දිය රැලිවලට යට වෙලා මරණයට පත්වීමක් හා සමානයි. "ඌර්මි භයන්ති බෝ භික්ඛවේ කෝධූපායස්සේතං අධිවචනං" ඌර්මි බය කියන්නෙ ක්‍රෝධයට කියන නමක්. සාසනයට බැසගත් පැවිද්දාට පැමිණෙන පළවෙනි බිය තමයි මේ.

ආචාර්ය උපාද්ධ්‍යායන් වහන්සේලා විසින් පැවිදි වූ අයට, මෙය අනුභව කළ යුතුයි, මෙය අනුභව නොකළ යුතුයි, මේ වෙලාවෙදි අනුභව කළ යුතුයි, මේ වෙලාවෙදි අනුභව නොකළ යුතුයි, මෙය කැපයි, මෙය අකැපයි... ආදී වශයෙන් අවවාද අනුසාසනා කරනවා. එතකොට සමහර භික්ෂූන්, ගිහිව ඉඳෙද්දි අපිට මේ ආකාරයේ කරදරයක් තිබුණෙ නෑ, අපට අවශ්‍ය දෙයක් කැමති වෙලාවට අනුභව කළා, දැන් තියෙන දෙයක් නමුත් කැමති ආකාරයට කන්න බොන්න ඉඩක් නෑ, මේක හරි කරදරයක්, මේ මහණකම අපට කරන්න බෑ කියල සිවුරු හැර යනවා. මේ තමයි දෙවනි බිය.

ජලයට බහින කෙනා කිඹුලන්ට අහුවෙලා මරණයට පත් වෙනව වගේ, ඒ අය කෑමට ඇති කෑදරකම නිසා සසුනෙන් ඉවත් වෙනවා. "කුම්භීල භයංති බෝ භික්ඛවේ ඕදරිකත්තස්සේතං අධිවචනං" කුම්බීල බය කියන්නෙ කෑදරකමට කියන නමක්. සාසනයට බැසගත් පුද්ගලයාට එන දෙවෙනි බය තමයි මේ.



මේ සාසනයේ පැවිදි වෙච්ච ඇතැම් අය සිහියෙන් තොරව, ඉන්ද්‍රිය සංවරයෙන් තොරව නගර ග්‍රාමවලට ගියාම, අලංකාර ඇඳුම් පැලඳුම් ඇතිව, හොඳ ගෙවල් දොරවල් සහිතව, සැප පහසු ගෘහ භාණ්ඩ, කෑම බීම, යාන වාහන ඇතිව පස්කම් සැප සහිතව ඉන්න ගිහි ජනතාව දැකල, මේ මහණකම කියන්නෙ කිසිවක් නිදහසේ කර කියාගන්න බැරි සිර ගෙයක්, මේ පැවිදි ජීවිතයෙන් වැඩක් නෑ කියල පංචකාම සම්පත්තියට ආස කරල සිවුරු හැරල ගිහි ගෙට යනවා. ජලයට බහින තැනැත්තා දිය සුළිවලට අහුවෙලා ඇදගෙන ගිහින් මරණයට පත් වෙනව වගේ, ඒ අය පංචකාමය නමැති දිය සුළියට අහුවෙලා සසුනෙන් බැහැර වෙනවා.

"ආවට්ට භයංති බෝ භික්ඛවේ පඤ්චන්නං කාමගුණානමේතං අධිවචනං" ආවට්ට බය කියන්නෙ පංචකාමයන්ට කියන නමක්. සාසනයට ඇතුළු වන පැවිද්දාට ඇතිවන තුන්වන බය තමයි මේ.

මේ සාසනයේ ශ්‍රද්ධාවෙන් පැවිදි වෙච්ච ඇතැම් අය ඉන්ද්‍රිය සංවරයෙන් තොරව, සිහියෙන් තොරව, නගර ග්‍රාමවල නොමනා විදිහට හැඳගෙන පොරවගෙන ඉන්න කාන්තාවන් දැකල රාගය ඇවිස්සිලා ඒ නිසාම සිවුරු හැර යනවා. දියට බසින ඇතැමුන්ට නපුරු මසුන් විසින් මරණය ඇති කරවනව වගේ, ස්ත්‍රීන් දැකල ඇතිවන රාගය නිසා සාසනයෙන් බැහැර වෙනවා. "සුසුකා භයන්ති බෝ භික්ඛවේ මාතු ගාමස්සේතං අධිවචනං" සුසුකා බිය කියන්නෙ ස්ත්‍රියට කියන නමක්. මේ තමයි හතරවන බිය.

මේ බය හතරෙන් එන උවදුරු නිසා පැවිද්දා විනාසයට පත් වෙනවා. සිවුරු හැර යාම සඳහන් වෙන්නෙ සාසනයේ මරණය හැටියට. වර්තමානයේ ඇතැම් පැවිද්දන් සිවුරේම ඉඳගෙන මේ වැරදි දේවල්වල යෙදෙමින් සිවුරු හැර යනවටත් වඩා නපුරක් සාසනයේ ඉඳගෙනම කර ගන්නවා. ඒ නිසා දුකින් එතෙර වෙන්න සාසනයේ පැවිදිවෙන අය මේ බය හතරට හසු නොවී සිහි නුවණින් සසර බිය දකිමින් වාසය කරන්න අධිෂ්ඨාන කරගන්න ඕන.

<u>අපරිහානීය ධර්ම</u>

දීඝ නිකායේ මහා පරිනිර්වාණ සූත්‍රයේ අපරිහානි හෙවත් නොපිරිහෙන ධර්ම රාශියක් සඳහන් වෙනවා.

1. නිතර රැස්වීම් පැවැත්වීම එක් අපරිහානි ධර්මයක්. භික්ෂූන් නිතර එක් රැස් නොවෙන කොට ඒ ඒ තැන්වල සිදුවන සාසනයට හානිකර දේවල්, භික්ෂූන්ට හානිකර දේවල්, ආරාමවලට ඇතිවන උවදුරු දැන ගන්න ලැබෙන්නෙ නෑ. භික්ෂූන් එකට රැස්වෙන කොට, හානියට හේතුවන කරුණු දැනගෙන ඒවා ගැන සාකච්ඡා කරල ඒවාට ප්‍රතිකර්ම කරන්න පුළුවන් නිසා, එකට රැස්වීම අභිවෘද්ධියට හේතුවන නිසා ඒක අපරිහානි ධර්මයක්. 2. සමගියෙන් එකට රැස්වෙලා, සමගිව සංඝ කර්ම කරනව නම් ඒ තාක් දියුණුවක් මිස පිරිහීමක් නෑ. 3. බුදු රජාණන් වහන්සේ පනවපු ☞

නැති දේවල් නොපනවා, පනවපු දේ නොකඩා, පනවා වදාළ සික්ෂාවල හික්මෙමින් කාලය ගත කිරීම අභිවෘද්ධියට හේතුවන නිසා අපරිහානි ධර්මයක්. 4. සාසනයේ බොහෝ කාලයක් පැවිදි වෙච්ච, සීලයෙන් ගුණයෙන් යුක්ත සංඝ පීතෘන් වහන්සේලාට සත්කාර සම්මාන, ගරු සැලකිලි කිරීම, උන්වහන්සේලාගේ අවවාද අනුසාසනාවලට ඇහුම්කන් දීම අපරිහානි ධර්මයක්. 5. සිත තුල හටගන්නා තණ්හාවට වසඟ නොවීම අපරිහානි ධර්මයක්. 6. ආරණ්‍ය සේනාසන කෙරෙහි අපේක්ෂා ඇතිව වාසය කිරීම අපරිහානි ධර්මයක්. 7. තමන් වාසය කරන තැනට නොපැමිණි ප්‍රියසීලි සබ්‍රහ්මචාරීන්ගේ පැමිණීම ගැන බලාපොරොත්තු වීම නොපිරිහෙන ධර්මයක්.

තවත් අපරිහානි ධර්ම 7 ක්

1. පැවිද්දන් කම්මාරාමතා හෙවත් නොයෙක් කර්මාන්තවල නොඇලී, අවශ්‍යයෙන් කළ යුතු වත්පිළිවෙත් ඉගෙනීම, භාවනා කිරීම යනාදී ශ්‍රමණ කෘත්‍යවල ඇලී සිටීම. 2. ස්ත්‍රී පුරුෂ වර්ණනාදී පලක් නැති දෙතිස් කතාවල ඇලී ඒවාට කාලය නොගෙවීම. 3. නින්දෙහි ඇලී පමණට වඩා එයට කාලයක් ගත නොකිරීම. 4. සණ සංගනිකාවෙහි හෙවත් පිරිස් සමග එකතු වී අනවශ්‍ය දේ කතා කරමින් ඇලී වාසය නොකිරීම. 5. ලාභ සත්කාර, කීර්ති ප්‍රසංසා ලබා ගැනීමට, නැති ගුණ දක්වන පාපී පුද්ගලයෙකු නොවීම. 6. පාප මිත්‍රයන් ඇසුරු නොකිරීම. 7. සීලයෙන් හෝ අන්‍ය විශේෂ අධිගමයකින් පමණක් සෑහීමට පත්වී නොසිටීම.

තවත් අපරිහානි ධර්ම

1. තුනුරුවන් කෙරෙහි ශ්‍රද්ධාව ඇති වීම. 2. පාපයට ලැජ්ජා බිය ඇති වීම. 3. ධර්ම විනය පිළිබඳ දනුවත් වීම. 4. දඩි වීර්ය ඇති බව. 5. සිහියෙන් යුක්තව වාසය කිරීම. 6. ප්‍රඥාවෙන් යුක්ත වීම.

තවත් අපරිහානි ධර්ම

භික්ෂූන් යම් තාක් කල් සති සම්බොජ්ජංගය, ධම්ම විචය සම්බොජ්ජංගය, විරිය සම්බොජ්ජංගය, ප්‍රීති සම්බොජ්ජංගය, පස්සද්ධි සම්බොජ්ජංගය, සමාධි සම්බොජ්ජංගය, උපේක්ෂා සම්බොජ්ජංගය වඩයිද, ඒවා අපරිහානි ධර්ම වෙනවා.

ඒ වගේම යම් තාක් කල් භික්ෂූන් අනිච්ච සංඥාව, අනත්ත සංඥාව, අසුභ සංඥාව, ආදීනව සංඥාව, පහාණ සංඥාව, විරාග සංඥාව, නිරෝධ සංඥාව වඩයිද, ඒ තාක් භික්ෂූන් වහන්සේලාට අභිවෘද්ධියක් මිස පිරිහීමක් නෑ.

ස්ත්‍රීන් හා සබඳකම් පැවැත්වීම

භික්ෂුව ස්ත්‍රීන් ඇසුරු කිරීම ඉතා පරෙස්සමෙන් කළ යුතු දෙයක්. පැවිද්දාගේ විනාසයටත් නොයෙක් විට හේතු වෙන්නෙ ස්ත්‍රීන්මයි. මේ සාසනයේ ස්ත්‍රීන් නිසාම පරිහානියට පත් වෙච්ච පැවිද්දන් ඉන්නවා. සාමාන්‍ය පැවිද්දන් විතරක් නෙවෙයි, ධ්‍යාන ලබල අහසින් ගමන් කරමින් හිටපු ඇතැම් පැවිද්දන් පවා ස්ත්‍රීන් නිසා පිරිහීමට පත් වෙලා තියෙනවා. ඒ නිසා ස්ත්‍රීන්ගෙන් පරිස්සම් වෙන්න පැවිද්දා නිතරම කල්පනාකාරීව ඉන්න ඕන.

**තථාගතයන් වහන්සේ පිරිනිවීමට ආසන්න කාලයේ ආනන්ද තෙරුන් විසින්, ස්වාමීනි අපි ස්ත්‍රීන් කෙරෙහි කෙසේ පිළිපැදිය යුතුද කියල ඇහුවා. "අපස්සනං ආනන්ද", ආනන්දය ස්ත්‍රීන් නොදකීමම උතුම් කියල දේශනා කළා. ස්වාමීනි ස්ත්‍රියක් දක්කොත් මොකද කරන්නෙ කියල ඇහුවම, "අනාලාපෝ ආනන්ද", ආනන්දය කතා නොකළ යුතුයි කියල දේශනා කළා. ස්වාමීනි ස්ත්‍රියක් අප සමග කතා කළොත් මොකද කරන්නෙ කියල ඇහුවම, "සති ආනන්ද උපට්ඨපේතබ්බා", ආනන්ද හොඳින් සිහිය පිහිටුවා ස්ත්‍රිය හා කතා කරන්න කියල දේශනා කළා.**

මේ සිහිය පිහිටුවීම කියන කාරණය තථාගතයන් වහන්සේ පැහැදිලි කළේ මේ විදිහට, "ඒථ තුම්හේ භික්ඛවේ මාතු මත්තීසු මාතු චිත්තං උපට්ඨපේථ" ස්ත්‍රියක් කතා කරන කොට තමන්ගෙ මව වගේ, මේ මවක්ය කියන සංඥාවෙන් කතා කළ යුතුයි.

"භගිනි මත්තීසු භගිනි චිත්තං උපට්ඨපේථ" සහෝදරියක් වගේ ස්ත්‍රියක් නම් සහෝදරිය කියන සංඥාවෙන් කතා කළ යුතුයි. "ධීති මත්තීසු ධීතු චිත්තං උපට්ඨපේථ" දුවක් වගේ ස්ත්‍රියක් නම්, දුවක් කියන සංඥාවෙන් කතා කළ යුතුයි. මේ විදිහට කතා කරන කොට වැරදි සහගත අදහසකට ඉඩක් ඇති වෙන්නෙ නෑ. සිහියෙන් තොරව පමණට වඩා ස්ත්‍රීන් ආශ්‍රය කිරීමෙන් විය හැකි විපතේ බරපතල බව පහත කතාවෙන් පැහැදිලි වෙනවා.

පෙර සැවැත් නුවර මවයි පුතයි පැවිදි වුනා. මේ දෙන්න නිතර නිතර දෙන්නට දෙන්න දකින්න ඉතා කැමතියි. මව නිතර පුතා දකින්නත්, පුතා නිතර මව දකින්නත් යෑම පුරුද්දක් වුනා. මේ ආකාරයට දෙන්නා අතර සම්බන්ධය, එකිනෙකා කෙරෙහි විශ්වාසය වැඩි වුනා. කාලයක් යනකොට පුතාට, මේ මගේ මව කියන හැඟීමත්, මවට, මේ මගේ පුතා කියන හැඟීමත් නැති වුනා. අවසානයේ මේ දෙන්නා කාම සේවනයේ යෙදිල පැවිද්දෙන් පරිහානියට පත් වුනා. මේ කාරණය භික්ෂූන් වහන්සේලා විසින් බුදු පියාණන්ට දනුම් දුන්නම ඒ නිමිති කරගෙන මේ දේශනාව වදාළා. **"මහණෙනි, මේ ස්ත්‍රී රූපය, ස්ත්‍රී ශබ්දය, ස්ත්‍රී ගන්ධය, ස්ත්‍රී රසය, ස්ත්‍රී පහස තරම් පුරුෂයාගේ සිත ඇලුම් කරන වෙන දෙයක් මම නොදකිමි. ස්ත්‍රියකට වසඟ වූ, ඇලුනා වූ බැඳුනා වූ, එරුනා වූ, සත්වයෝ බොහෝ කාලයක් සෝක කරයි. මහණෙනි, මාරයාගේ තොණ්ඩුව කියා කියන්නේ ස්ත්‍රියට කියන නමකි."**

ඇතැම් පැවිදි අය, තමන් වරදක් කරන්නෙ නැත්නම් ස්ත්‍රිය සමග කතා කළාට, ඔවුන්ට යමක් දුන්නට, ඔවුන්ගෙන් යමක් ගත්තට ඇති වරද මොකක්ද කියමින් ස්ත්‍රීන් සමග ආශ්‍රයට යනවා. මේ විදිහට කාලයක් යනකොට ඔවුන්ට නොදැනීම කාමරාගය හටගෙන හිත තුල මෝරන්න පටන් ගන්නවා.

"කාමච්ඡන්ද නීවරණං භික්ඛවේ අන්ධකරණං, අචක්ඛුකරණං, පඤ්ඤා නිරෝධියං, විඝාත පක්ඛියං, අනිබ්බාන සංවත්තනිකං" මහණෙනි, මේ කාමච්ඡන්ද නීවරණය සත්වයාගේ සිත අන්ධ කරන, නුවණ නැති කරන, මෝඩයෙක් කරන, දුකට පක්ෂ වූ, නිවනට ප්‍රතිවිරුද්ධ දෙයක්.

මේ කාමච්ඡන්දය මේරුවම එයින් පුද්ගලයා අන්ධ වෙනවා. අන්ධබාවය නිසා ගුරුවරු කියන අවවාද අනුසාසනා වැටහෙන්නෙ නැතිව යනවා. අවවාද කරන කෙනාව ඔහුට පේන්නෙ හතුරෙක් විදිහට. එබඳු අය සාසන ප්‍රතිපත්තියෙන් පිරිහිලා සිවුර අතහැරල, බලාපොරොත්තු සුන් වෙලා දුකට පත් වෙනවා. කාරණය වැටහෙන්නෙ සියල්ල සිද්ධ වෙලා අවසන් වුනාට පස්සෙ.

බුදු රජාණන් වහන්සේ අංගුත්තර නිකායේ මේ විදිහට පැහැදිලි කරල තියෙනවා. "හිස සිඳීමට කඩුවක් අතේ තියාගෙන ඉන්න කෙනා සමග කතා කරන්න, කන්නට ආ යකා සමගද කතා කරන්න, දෂ්ට කළොත් ජීවිතය පවා අහිමිවන සර්පයා සමගත් ගැටෙන්න, නමුත් තනි වූ ස්ත්‍රියක් සමග කතා නොකරන්න. සිහි මුලා වූ තැනැත්තා බැල්මෙන්, සිනහවෙන් ඇද බැඳ ගනී." මෙකෙන් පේන්නෙ ස්ත්‍රී ඇසුර පැවිද්දාට කොච්චර හානිදායකද කියන කාරණය. ඒ නිසා භික්ෂුව මේ ගැන වඩාත් ☞

සැලකිලිමත් වෙන්න ඕන.

<u>කුසීත වස්තු අට</u>

පැවිද්දන් විසින් දැන ගත යුතු තවත් වැදගත් කරුණක් විදිහට මේ කුසීත වස්තු හඳුන්වන්න පුළුවන්. අංගුත්තර නිකායේ අට්ඨක නිපාතයේ මේ කාරණය සඳහන් වෙනවා. "අට්ඨිමේ භික්ඛවේ කුසීත වත්ථූනි" මහණෙනි, අලස පුද්ගලයන් විසින් නිකරුනේ කාලය ගෙවා දැමීමට හේතු වශයෙන් මේ කුසීත වස්තු ක්‍රියාත්මක වෙනවා.

1. අලස පැවිද්දා තරමක් මහන්සි වෙලා කළ යුතු වැඩක් තියෙන කොට, අහවල් වැඩේ කරන්න තියෙනවා, එතකොට මට ගොඩක් වෙහෙසෙන්න සිද්ධ වෙයි කියල හිතල ශ්‍රමණ කෘත්‍යයන්වල යෙදෙන්නෙ නැතිව නින්දට යනවා.

2. අලස පැවිද්දා යම් කිසි වැඩක් කරල ටිකක් මහන්සි වුණත්, අද වැඩ කරල ඉතා මහන්සියි කියල නින්දට යනවා.

3. අලස පැවිද්දා ගමනක් යන්න තියෙන කොට, මට මේ විදිහෙ ගමනක් යන්න තියෙනවා, එතකොට ගොඩක් මහන්සි ඇති වෙයි කියල ගමනේ වෙහෙස ගැන හිතල නිදා ගන්නවා.

4. කුසීත භික්ෂුව ගමනක් ගිහින් ඇවිත් ඉතා ගමන් වෙහෙසයි කියල හිතල නිදා ගන්නවා.

5. කම්මැලි භික්ෂුව මඳක් ආහාර අඩුවෙන් වළඳපු දවසක, අද කුස පිරෙන්න තරම් ආහාර ලැබුණෙ නැති නිසා කයට ප්‍රාණවත් බවක් නෑ කියල නිදා ගන්නවා.

6. ප්‍රමාදාචාරී භික්ෂුව හොඳට දානය ලැබුණාම, කුස පුරා වැළඳීම නිසා අද ඇඟ හරි බරයි කියල නිදි සුව විඳිනවා.

7. අලස භික්ෂුව සුළු අසනීපයක් හැදුනත්, මට වැඩ කරන්න බෑ කියල නිදා ගන්නවා.

8. අලස පැවිද්දා රෝගයක් හැදිල සුව වුනාම, යන්තම් රෝගය සුව වුනා විතරයි ඒ නිසා වැඩක් කරන්න තවම අපහසුයි කියල නින්දට යනවා.

<u>ආරම්භ වස්තු 8</u>

කුසීත වස්තු වශයෙන් ඉහතින් විස්තර කරපු කරුණු 8 සැඳැහැවත් වීර්යවත් පැවිද්දාට, වඩාත් උත්සාහයෙන් ශ්‍රමණ ධර්මවල යෙදීමට කාරණයක් වෙනවා. අංගුත්තර නිකායේ, අට්ඨක නිපාතයේ, "අට්ඨිමානි භික්ඛවේ ආරම්භ වත්ථූනි..." යනාදී වශයෙන් කාරණා 8 ක් ආරම්භ වස්තු හෙවත් වීර්ය කිරීමේ කරුණු වශයෙන් දේශනා කරල තියෙනවා. ඒ ඒ පුද්ගලයන්ගෙ අදහස් අනුව එකම කරුණු 8 කුසීත වස්තු හා ආරම්භ වස්තු වෙනවා.

1. මේ සාසනයේ ශ්‍රද්ධාවත්, නැණවත්, වීර්යවන්ත පැවිද්දා තමන්ගෙ සිවුරු සේදීම, පඬු පෙවීම, පාත්‍ර සකසා ගැනීම වගේ කටයුතු කරන්න තියෙන කොට, ඒවා කරන කොට, ආර්ය මාර්ගයේ යෙදෙන්න අවකාශයක් නැති නිසා දැන් දැන්ම මම නොලැබූ ධර්මයන් ලැබීමට, නොපැමිණි ධර්මයන්ට පැමිණීමට වීර්ය කළ යුතුයි කියල අප්‍රමාදී වෙනවා.

2. වීර්යවත් පැවිද්දා සිවුරු පඬු පෙවීම් ආදී යම් කිසි වැඩක් කළාම, වැඩ කිරීමෙන් මට බුද්ධානුසාසනය කරන්න බැරි වුනා, ඒ පාඩුව පිරිමැහෙන්න ශ්‍රමණ කෘත්‍යයේ යෙදෙනව කියල වීර්ය කරනවා.

3. වීර්යවන්ත පැවිද්දා ගමනක් යන්න තියෙන කොට, ගමනෙදි මට ආර්ය මාර්ගය ප්‍රගුණ කරන්න ලැබෙන්නෙ නෑ කියල, ගමන යන්න කලින් ශ්‍රමණ ධර්ම මුදුන් පමුණුවා ගන්න වීර්ය කරනවා.

4. වීර්යවන්ත භික්ෂුව ගමනක් ගිහින් ආවට පස්සෙ, ගමන් යාම නිසා මගේ ශ්‍රමණ ධර්ම අතපසු වුනා කියල හිතල වීර්ය කරනවා.

5. වීර්යවත් පැවිද්දා කුස පුරා ආහාර වැළඳීමට නොලැබුණ විට, අද මගේ කය සැහැල්ලුයි, කර්මණ්‍යයි (කටයුත්තට සුදුසුයි) කියල වීර්ය කරනවා.

6. වීර්යවන්ත භික්ෂුවට කුස පුරා ආහාර වළඳන්න ලැබුණාම, අද මගේ කය ගොඩක් බලවත්, කර්මණ්‍යයි, ඒ නිසා හොඳින් මහණ දම් පුරන්න ඕන කියල වීර්ය කරනවා.

7. වීර්යවන්ත භික්ෂුව යම් රෝගයක් හැදුනම, මට ශ්‍රමණ ධර්මවල යෙදෙන්න අපහසුයි, ඒ නිසා රෝගය වඩාත් උත්සන්න වීමට පෙර ආර්ය මාර්ගය ප්‍රගුණ කරන්න ඕන කියල වීර්ය කරනවා.

8. වීර්යවන්ත භික්ෂුව රෝගයක් හැදිල සුව වුනාම, රෝගය හැදීම නිසා මට තථාගත අනුසාසනාව කරන්න බැරි වුනා, ඒ නිසා අප්‍රමාදී විය යුතුයි කියල වීර්ය කරනවා.

<u>සුවච බව හා කීකරු බව</u>

සුවච කීකරු බවත් පැවිද්දෙකුට තිබිය යුතු යහපත් ගුණයක්. ආචාර්ය උපාද්ධ්‍යායන් වහන්සේලා කරන අවවාද අනුසාසනාවලට අකීකරු නොවී, ප්‍රශ්න කරන්න නොගිහින්, ධර්ම විනය ගෞරවයෙන් පිළිගැනීම සෝවචස්සතා හෙවත් සුවච කීකරු බව කියල හඳුන්වනවා. ඒක පැවිද්දාගෙ අභිවෘද්ධියට හේතුවන කාරණයක් වගේම විශේෂයෙන් අලුතෙන් පැවිදිවෙන අයට තිබිය යුතු ගුණයක්.

මේ සාසනයේ පැවිද්දෙකුට දියුණුව ලබන්න පුළුවන් වෙන්නෙ ගුරුවරුන්ට කීකරුව හිටපු තරමට. අහංකාර වෙච්ච අය අවවාද අනුසාසනා පිළිගන්න කැමති නෑ. සමහර අයට වරදක් පෙන්වා දුන්නම අමනාපකම් ඇතිකර ගන්නවා. ඒ අය මේ සාසනයේ දියුණුවට පත් වෙන්නෙ නෑ. ගුරුවරුන් වර්ජනය කරල තමන්ට කැමති විදිහට කටයුතු කරන්න ගිහින් අවසානයේ සාසනයේ පිහිටක් නොලබා චීවරයත් අත්හැරල යනවා. ඒ අය දෙලොවින්ම පරිහානියට පත් වෙනවා.

බුද්ධ සාසනයේ පිහිටක් ලැබීමට බලාපොරොත්තු වෙන අය ගුරුවරුන්ට කීකරුව වරදක් පෙන්වා දෙන කොට, ඒක සතුරන් වගේ හිරිහැර කරන විදිහට හිතන්නෙ නැතිව කටයුතු කරන්න පුරුදු වෙන්න ඕන. වරදක් පෙන්වා දෙන්නා කළණ මිතුරෙක්. ඒ බව ධම්ම පදයේ පණ්ඩිත වග්ගයේ එන ගාථාවක මේ විදිහට සඳහන් වෙනවා.

> නිධීනංව පවත්තාරං
> යං පස්සේ වජ්ජ දස්සිනං
> නිග්ගයිහවාදිං මේධාවිං
> තාදිසං පණ්ඩිතං භජේ
> තාදිසං භජමානස්ස
> සෙයියෝ හෝති න පාපියෝ

ශිෂ්‍යයන්ගේ දියුණුව පතා වරදක් දැක්කම ඒකට නිග්‍රහ කරල අවවාද කරන ගුරුවරයා දුගියෙකුට මහා නිධානයක් පෙන්වන්නෙක්. දියුණුව බලාපොරොත්තු වන සියල්ලෝ වරදට නිග්‍රහ කරන ඒ වගේ පණ්ඩිතයන් ඇසුරු කළ යුතුයි. ඒ අයට දියුණුවක් මිස පරාජයක් සිද්ධ වෙන්නෙ නෑ. ඒ වගේ අය තමයි ලෝකයේ ශ්‍රේෂ්ඨයන් වෙන්නෙ.

දියුණුව පතන පැවිද්දන් රාහුල හිමි, චත්තබ්බ නිග්‍රෝධ සාමණේරයන් වගේ ගුරුවරුන්ට කීකරු වෙන්න ඕන. සිදුහත් කුමාරයගෙ දරුවෙක් වෙච්ච රාහුල හිමියන්ට උඩඟු වෙන්න බොහෝ හේතු තිබුණත් එහෙම වුනේ නෑ.

# කෘෂි උවදුරුවල හේතු-ඵල සම්බන්ධය...

ලෝකයේ තියෙන සියලු ප්‍රශ්නවලට බුදු දහමින් විසඳුම් දෙන්න පුළුවන් කියල කිව්වට, දුක දෙන දේ යමකින් හටගන්නව නම්, ඒ දුක නිරෝධ කරන මාර්ගයේ යන කොට යන්න වෙන්නෙ දුක් විපාක මැද්දෙන්. ඒක තමයි විපාක දුක කියන්නෙ. අවසන් ප්‍රතිඵලය විදිහට පටිච්ච සමුප්පන්නව ගොඩනැගෙන දුක නිරෝධ වුනාට, එතැනට යන්න වෙන්නෙ සමහර විපාක දුක් කරදර විඳගෙන. උදාහරණ විදිහට කෙනෙක් ගොවිතැන් බත් කරනවා. කිසිම සතෙකුට හිංසාවක් පීඩාවක් නැතිව, කිසිම කෙනෙක්ගෙන් කරදරයක් නැතිව ගොවිතැන් කරගෙන යන්නෙ කොහොමද කියල ප්‍රශ්නයක් එන්න පුළුවන්. ඒ ප්‍රශ්නයට පිළිතුරු හොයන්න ගියොත් තමන්ට තනියෙන් බෑ. හේතු-ඵල සම්බන්ධයක් නැති දෙයක් ලෝකයේ නැති නිසා, යම් කිසි විදිහකින් ගහකට හෝ මනුස්සයෙකුට හෝ රෝගාබාධයක් එනවනම් ඒකටත් හේතුවක් තියෙනවා. එතකොට ස්වභාවික ජරා, මරණ කියන ඒවා ගස් වැල්වලටත් සත්වයින්ටත් තියෙනවා. ඒ එක පැත්තක්.

ඒ වගේම මනුස්සයින්ගෙ උපක්‍රම නිසා ප්‍රයෝග විපත්තියෙන් හටගත් ජරා, මරණ දුක් කරදර ගොඩකුත් තියෙනවා. ඒක ලෝක සත්වයින් සසරෙ එනකොට පොදුවේ කරගත්තු දෙයක්. එහෙම දෙයක් කරගත්තම, ඒ සත්වයින්ට අනාගතයේ එන දුක් කරදරවලින් බේරෙන්න බැරිව යනවා. ඒවා පටිච්ච සමුප්පාද ධර්මයෙන් සියුම් විදිහට විග්‍රහ කරල ගත්තනම්, ඒකෙ ඇත්ත තත්වය තමන්ට බලපාන හැටි, ලෝකයට බලපාන හැටි, දුක් කරදර දෙන ජාතියක් හැදෙන්න හේතු වෙන හැටි, බාහිර ලෝකයේ තියෙන ජාති අතර ගස් වැල්



ජාතිවල පවා වෙනසක් ඇතිවෙන්න හේතුව... මේ ආදී සියල්ලම දැනගන්න පුළුවන්. එහෙම දැන ගන්න පුළුවන් පටිච්ච සමුප්පාද ධර්මය තමයි අද වෙනකොට වැහිල ගිහින් තියෙන්නෙ. ඉතින් ඒ වැහිච්ච එක නැවත හෙළි කරන කොට ඒක පොත්පත්වල නැති නිසා, මොන බණක්ද මේ කියන්නෙ?... ගස් වැල් අරගෙන නවීන විද්‍යාවට ගළපල පටිච්ච සමුප්පාදයට ගැට ගහන්න යනවා... ඕක මහ මුලාවක්... ඔය ආදී වශයෙන් කෙනෙක් දොස් කියන්න පුළුවන්. හැබැයි ඒ අයගෙන් ඇහුවත්, මේ ලෝකයේ සියල්ලම පටිච්ච සමුප්පන්නයි, සංඛතයි කියල වචන වලින් නම් කියනවා. නමුත් ගස් වැල් පටිච්ච සමුප්පන්න වෙන්නෙ කොහොමද කියල ඇහුවම ඒකට උත්තර නෑ. හැබැයි ඒ හැම එකකටම උත්තර බුදු දහමෙ පෙන්වා තියෙනවා. ඒවා එකින් එකට වෙනම විග්‍රහ කරල නැති වුනාට ඒ හැම එකකටම මූලධර්මයන් පෙන්වා තියෙනවා. ඒක තෝරගන්න නැණ නුවණ මදිකමයි ගැටළුව වෙලා තියෙන්නෙ.

උදාහරණ විදිහට යම් කිසි ගණිතමය චක්‍රයක් දැන ගත්ත කෙනාට ඒ අනුසාරයෙන් ඒ ජාතියේ ඕනෑම ගණිත ගැටළුවක් විසඳගන්න පුළුවන්. හැබැයි ඉගෙන ගත්තෙ මූලධර්මය විතරයි. ඒ හැම ගණිත ගැටළුවක්ම වෙන වෙනම ඉගෙන ගත්තෙ නෑ. ගුරුවරයා උදාහරණ කිහිපයක් එක්ක මූලධර්මය කියා දුන්නම තමන්ගෙ නැණ නුවණින් ඒ ජාතියේ ඕනෑම ගැටළුවක් විසඳන්න ඒ පුද්ගලයට හැකියාව ලැබෙනවා. නමුත් නැණ නුවණ මදි කෙනාට ගුරුවරයා කියා දුන්න උදාහරණ ගැටළු හැර වෙනත් ☞

---

උන්වහන්සේ ඉතාම නිහතමානී සාමණේර නමක්. දිනපතා උදෑසන වැලි දෝතක් අරගෙන, මේ වැලි කැට ගානට අද මට අවවාද අනුසාසනා ලැබේවා කියල ප්‍රාර්ථනා කරනවා.

ඇතැම් භික්ෂූන් වහන්සේලා රාහුල හිමියන්ගෙ ඇතුලාන්තය විමසන්න, තැන්පත් කරල තියෙන කොසු, ඉදල්, කුඩ ආදිය මිදුලට දමල රාහුල හිමියන් එනකොට මේවා කාගෙ වැඩද කියල අහනවා. එතකොට උන්වහන්සේ කිසිම කතාවක් නැතිව ඒ බඩු මුට්ටු තැන්පත් කරල වැඩිමහල් භික්ෂූන්ගෙන් සමාවත් ගන්නවා. කිසිම වෙලාවක තමන් සුද්ධ වෙන්න, වාද විවාද කරන්න ගියේ නෑ.

වර්තමානයේ වරදකට අවවාදයක් දෙන්න ගියාම, තමන්ගෙ වැඩක් බලා ගන්න, අනුන්ගෙ වැඩවලට ඇඟිලි ගහන්න ඕන නෑ, අපි වැඩේ කරගන්න හැටි දන්නවා... ආදී ප්‍රතිචාර තමයි එන්නෙ.

එක අවස්ථාවක සැරියුත් මහ රහතන් වහන්සේ ඇඳගෙන හිටපු අඳනයේ කොනක් පහළට එල්ලෙමින් තිබෙනව දැකපු හත් හැවිරිදි සාමණේර හිමි නමක් ස්වාමීනි, ඔබ වහන්සේගෙ අඳනයේ කොනක් එල්ලෙමින් තියෙන බව පැවසුවා. සැරියුත් හාමුදුරුවො කිසි කතාවක් නැතිව පරිමණ්ඩල සික පදය අනුව අඳනය ඇඳගෙන ඒ කුඩා නම ළඟට ගිහින්, දැන් හොඳද කියල අහල උක්කුටිකව වාඩි වෙලා බුදුන් වහන්සේ වැඩ හිටපු දිසාවට වැඳල මේ විදිහට කිව්වා.

තදහු පබ්බජිතෝ සන්තෝ
ජාතියා සත්ත වස්සිකෝ
සෝපිමං අනුසාසෙය්‍ය
සම්පටිච්ඡාමි මුද්ධනා

එදවස පැවිදි වූ සත් අවුරුදු සාමණේර නමක් නමුත් මට වරදක් පෙන්වා දෙයි නම් අවවාදයක් කරයි නම් එය මම හිස් මුදුනින් පිළි ගනිමි.

මහ මෙරක් වගේ ගුණ ඇති ඒ වගේ මහ රහතන් වහන්සේලා පවා සුළු දෙයක් වුනත් පිළිගෙන තියෙන්නෙ කොච්චර නම් ගෞරවයකින්ද? ඒක මහත් සංවේග දනවන ශ්‍රේෂ්ඨ ක්‍රියාවක් වගේම සියළු පැවිද්දන් ආදර්ශයට ගත යුතු කරුණක්.

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නීග්‍රෝධාරාම සේනාසනය, පොල්පිටිය,**
**මැටිකුඹුර, පොල්ගහවෙල**

ගැටළු ඒ චක්‍රානුසාරයෙන් විසඳන්න බැරිව යනවා. ඒ වගේ දෙයක් නිසා තමයි අද පටිච්ච සමුප්පාදය විග්‍රහ කරගන්න බැරි වෙලා තියෙන්නෙ. ඉතින් මනුස්සයින්ට වගේම ගස් වැල්වලටත් නොයෙක් ආකාරයෙන් හට ගන්නා වූ රෝග තියෙනවා. ඒවා පටිච්ච සමුප්පන්නව හටගන්න හැටි පද නිරුක්ති නැතිව තෝරන්න බෑ. පද නිරුක්තිය ගත්තම ඒකෙ පටිච්ච සමුප්පාද ස්වභාවය ගොඩනැගෙන හැටි හෙළි වෙනවා. ඒකට තමයි නිරුක්ති පටිසම්භිදා ඤාණය අවශ්‍ය වෙන්නෙ.

අද වෙන කොට කෘමි උවදුරු කියල දෙයක් බහුල වශයෙන්ම තියෙනවා. විශේෂයෙන් නොයෙක් වගාවන්ට කෘමි වසංගත තියෙනවා. හැබැයි හරියට හොයල බැලුවොත් මේ අවුරුදු 100 කටත් මෙහා දන්න කියන කාලයක තමයි මේ කෘමි උවදුරු වසංගතයක් විදිහට ඇවිත් තියෙන්නෙ. මොකද කෲර විදිහට මනින්න ගත්ත නිසා, මිනුම් අඬු කෲර විදිහට ක්‍රියාත්මක කරන්න පටන් ගත්තු නිසා තමයි කෘමීන් ඇති වුණේ. ඒවා වහගෙන හැංගිලා කරන්න ගත්ත නිසා, ඒ විදිහට වසන් කරගෙන කරපු වැඩ පිළිවෙල තමයි වසංගතයක් වුනේ. කෲර විදිහට වසං කරගෙන තමන්ගෙ බලාපොරොත්තු ඉටුකර ගත්තු නිසා කෘමි වසංගත ඇතිවීමේ මූලධර්මය ක්‍රියාත්මක වුනා. ඔය මූලධර්මය පොදුවේ සමාජයේ මනුස්සයො අතර තියෙනකල් ඒ සමාජයට කෘමි වසංගතවලින් බේරෙන්න බෑ, කෘමි උවදුරු එනවා. නමුත් කෘමීන් කියන සත්තු ලෝකයේ කාලයක පටන් ඉන්නවා. සත්තු විදිහට නැත්නම් ගන්ධබ්බ අවස්ථාවෙන් හරි ඉන්නවා. මොකද ඒ සංඛාර ගොඩනගල ඒ හේතුවෙන් කෘමීන් බවට චුති පටිසන්ධි ලබපු පිරිස් ලෝකයේ ඉන්න නිසා. හැබැයි ඒක වසංගතයක් බවට පත් වෙන්නෙ මනුස්සයා අතර කෲර විදිහට කරන්නා වූ මැනීම් වැඩි වෙන කොට. එතකල් කෘමීන් හිටියට වසංගතයක් බවට පත් වෙන්නෙ නෑ. කෲර විදිහට මිම්මක් තමන්ගෙ වාසියට හදා ගත්තම, කොටසක් රවට්ටල, වනසල තව කොටසක් ජය ගන්නවා. ධර්මානුකූල නොවන මහා කෲර විදිහෙ නීති රීති දාල ඒවා තමන්ගෙ වාසියට ක්‍රියාත්මක කරන කොට කෘමීන් හට ගැනීමට අවශ්‍ය කරන පසුතලය හැදෙනවා.

දැන් මේ කාලෙ බොහෝ කොටම තියෙන ප්‍රශ්නයක් තමයි පොල් ගස්වලට එන කෘමි උවදුරු නැති කරගන්න ක්‍රමයක් නැත්ද කියල. දැන් ඉතින් ඒකට නොයෙක් කෘමි නාශක යොදල සත්තු මරනවා. අන්තිමට ඒකෙන් මනුස්සයින්ටත් ලෙඩ රෝග හැදිල පාප කර්මත් සිද්ධ කරගෙන අකාලයේ මැරෙන්න සිද්ධ වෙනවා. නමුත් දහම ගැන යමක් දන්න කියන උදවිය බලන්නෙ, එහෙම සත්තු මරන්නෙ නැති ක්‍රමයක් අනුගමනය කරන්න බැරිද කියල. ඒකටත් උපක්‍රම තියෙනවා, ප්‍රතිකර්ම තියෙනවා. හැබැයි දැන් මේ පොදුවේ මුළු සමාජය විසින්ම ඇති කරගත්තු ප්‍රයෝග විපත්තියක ප්‍රතිඵල නිසා ඒවාට ප්‍රතිකර්ම කරල බේරෙන්න හරි අමාරුයි. එහෙම ප්‍රතිකර්ම කරනව නම්, මේ සමාජයම කෲර විදිහට යට කරගන්න නීති රීති හදන, ඒ කාරණය වසං කරගෙන වෙනත් දෙයක් පෙන්වල අයුතු අසාධාරණ විදිහට අනෙක් එවුන් විනාස කරල ගන්න, අනිකගෙ ශ්‍රමය හූරගෙන කන එබඳු මුළු වැඩපිළිවෙලම සංසිඳුව ගන්න හැකියාවක් තියෙන්න ඕන. එහෙම කරගත්තොත් ඔය කෘමි නාශක මොකුත් නැතිව කෘමි වසංගත දුරු වෙලා යනවා. මොකද කෘමි වසංගත ඇති වීමේ හේතුව දැනගෙන ඒක නැති කළාම කෘමි වසංගත කියන ඵලය එන්නෙත් නෑ.

එතකොට මේ කෘමීන්ගෙන් වසංගතයක් විදිහට කෘමි උවදුරු හට ගන්න නම්, කවද හරි කෲර විදිහට මැනගෙන වසං කරගෙන සමාජය පාලනය කරන්න පටන් ගත්තු කාලයක් තියෙන්න ඕන. හරියට හොයල බැලුවොත්, අවුරුදු 100 කටත් මෙහා මෑත කාල සීමාවල තමයි කෘමි උවදුරු වැඩි වෙලා තියෙන්නෙ. මොකද කෲර විදිහට වසං කරල තමයි මේ නීති රීති පැනෙව්වෙ. හැබැයි මේ රජයක් විවේචනය කරනව නෙවෙයි. නමුත් එක දෙයක් සිද්ධ වෙනවා. බොහෝ දුක් විඳල ජීවත් වෙන්න ඉන්න මනුස්සයා, දාඩිය මහන්සියෙන් කීයක් හරි හම්බකරගෙන ජීවත් වෙන්න මගක් හදා ගත්ත නම්, අන්තිමට ඒ මනුස්සයගෙ ශ්‍රමය, දාඩිය මහන්සිය හූරගෙන කන, යමක් වසන් කරන කෲර වැඩ පිළිවෙලක් නම් රජයෙන් හෝ කාගෙන් හෝ ඇති වුනේ, එතකොට ඒ මනුස්සයා අනේ අපොයි කියන තත්වයට පත් වෙනවා. උදේ ඉඳන් රෑ වෙනකල් වෙහෙස මහන්සි වෙලා කීයක් හරි හම්බකර ගත්තත්, යන්තම් බඩගින්න නිවා ගන්න හැර කීයක්වත් ඉතිරියක් නෑ. සමහර වෙලාවට හාල් සේරුවක්වත් ගන්න බෑ. ලුණු මිරිස් තුන පහ ගන්නත් මදි. අඳින්න රෙද්දක් ගන්නවත් මුදලක් නෑ.

මොකද වෙලා තියෙන්නෙ කියල බලනකොට, පිරිසක් සතුටු කරන්න විවිධාකාර වැඩ පිළිවෙලවල්, විවිධ ව්‍යාපෘති සකස් කරන්න ආධාර අවශ්‍ය නිසා, හූරගෙන ගන්න තියෙන ලේසිම තැන තමයි මොන දුක්පතත් ඒකාන්තයෙන්ම ගන්න හාල්, තුනපහ ලුණු ටික. ඉතින් පහසු නිසා ඒ වගේ අත්‍යවශ්‍ය භාණ්ඩවලින් බදු අය කරගෙන අල්ල ගන්නවා. මොකද වෙනත් දේකින් ඇල්ලුවොත් ඒකට ආදේශකයක් හොයාගෙන ඒ දේ නොගෙන ඉන්න මිනිස්සු පෙළඹෙනවා. නමුත් ආදේශකයක් ගන්න බැරි හාල්, ලුණු, මිරිස් වගේ මූල ආහාරවලින් ගාණක් ඇල්ලුවම, අනේ අපොයි කරන්න දෙයක් නෑ කියල කොහොම හරි වෙහෙස මහන්සි වෙවී දුක් විඳ විඳ ඒකට ගෝචර වෙන්න සිද්ධ වෙනවා. මේ අයුතු අසාධාරණය මුල් කරගෙන කෲර විදිහට හදා ගත්තු නීති මාලාවකින් පාලනය වෙනකොට ඇතිවන මානසිකත්වය මේ ලෝකයට විසක් විදිහට පැතිරෙන්න ගන්නවා. ඒකෙ ප්‍රතිඵලය විනාසයෙන් විනාසය නිසා කෘමි වසංගත ඇති වෙන්න හේතු වෙනවා. ලෝකෙ කොහේ තිබුණත් කෘමි හානිවල ස්වභාවය ඒකයි. ඒ වගේ දෙයක් වලක්වන්න එහෙම ලේසියෙන් ක්‍රම නෑ. මොනවහරි කරන තාවකාලික උපක්‍රම තමයි තියෙන්නෙ. මේ සම්බන්ධයෙන් වහරක අභයරතනාලංකාර හිමියන් ගිහි කාලෙ ලබපු සත්‍ය අත්දැකීමක් මේ විදිහට හෙළිදරව් කළා.

"ඒ කාලෙ අපේ වත්තෙ හොඳ පොල් ගහක් තිබුණා. ඒ ගහේ පොල් අතු හැමදාම කුරුම්ණියො කනවා. ගහේ වැඩීම බොහොම වේගවත්ව සිද්ධ වුණත්, පොල් ගෙඩි 30 ක් හැදුනොත් 15 ක් විතර කුරුම්ණියො කාල බාගෙට හැලිච්ච ඒවා. හරියට හැදෙන්නෙ නෑ. නමුත් මුලින් මහ ලොකුවට සරුසාරව තිබිච්ච ගහක්. ඒ කාලෙ අපිත් මොකද කරන්නෙ, ගුවන් විදුලි යන්ත්‍රවලට ඒරියල් අදිනව කියල, කම්බියක් අරගෙන එක ගහක ඉඳන් තවත් ගහක බැඳල, ඒ කම්බියට තවත් කම්බියක් ගැට ගහල ඒකෙ අනෙක් කෙළවර ගුවන් විදුලි යන්ත්‍රයට සම්බන්ධ කරනවා. ඔක අවුරුද්දක් විතර තිබිල දවසක් මම ගහ දිහා බලනකොට එක ගෙඩියක්වත් කුරුම්ණියො කාල නෑ. පස්සෙ මම කුරුම්ණියො කාපු තවත් පොල් ගස් දෙකක ඔය විදිහට කම්බියක් බැඳල බැලුවා. මොකක්ද මෙතනදී සිද්ධ වෙන්නෙ කියල බලන කොට, මේකෙන් හුළඟට "කීං" කියල ශබ්දයක් එනවා. ඒක අපේ කනට සාමාන්‍යයෙන් ඇහෙන තරමෙ ශබ්දයක් නෙවෙයි. නමුත් ඔය ශබ්දය ගහේ හැම තැනම රැව්දෙනවා. අර කෘමීන්ට මේ ශබ්දය රුස්සන්නෙ නෑ. උන් ගහ අතහැරල යන්න යනවා. ඒ ශබ්ද කම්පනවල කෘමීන්ට රුස්සන්නෙ නැති දෙයක් නිපදවෙනව නම්, ඒක

අපටත් විසක් නැත්නම්, කිසිම වස විසක් ගහන්නෙ නැතිව උන් එතනින් යවන්න පුළුවන්.

මේක අහම්බෙන් ලැබිච්ච අත්දැකීමක්. ඕක ඉතින් ඕන කෙනෙකුට කරල බලන්න පුළුවන්. මේ වගේ දේවල් කරල බලන්න වියදමක් යන්නෙ නෑ. සාමාන්‍යයෙන් ඔතන්න ගන්න කම්බියක් අරගෙන ගස් දෙකේ කඳේ ටිකක් උඩට වෙන්න හොඳට ඇදල ගැට ගහන්න පුළුවන්. කිසිම වසක් විසක් නෑ. සත්තු මැරෙන්නෙත් නෑ. ඒ වගේම සමහරු, කැසට් පටිවල පටි තවත් ගස්වල බැඳල දිලිසි දිලිසි හුලං වැදි වැදි නිකං හෙල්ලෙන්න තියල තියනවා. ඒකත් ඔය අඹ, කජු වාරවලට ගිරව් වගේ බාහිරින් සත්තු එනවට කරන උපක්‍රමයක්. එතනදිත් වායු කම්පනයත් එක්ක ඒ පටිත් කම්පනය වෙනකොට සත්තු බයයි. එතකොට ගිරව්, ලේන්නු වගේ සත්තු එන්නෙ නෑ කියල ඉස්සර හිටපු ගොවියො අත්දැකීමෙන් දැනගෙන හිටියා.

ඉතිං අර කම්බිය හුළං එන සැරයක් පාසා "කීං" කියන ශබ්දය එනකොට ඒ කම්බිය බැඳපු ගස් දෙකේ පොල් කුරුම්ණියෙකුටවත් ඉන්න බෑ. උන්ට ඒක වදයක් වෙලා ඉවත් වෙලා යනවා. මේක කෘමි උවදුරු තියෙන අනිත් ගස් වැල්වලටත් අත්හදා බලන්න පුළුවන්. සමහරවිට හුඟක් සාර්ථක වෙන්නත් ඉඩ තියෙනවා. නමුත් මේ වගේ කෘමි වසංගතවලින් මුළු සමාජයම අහක් වෙන විදිහ තමයි, අර කලින් කියපු විදිහට කෲර නීති රීති දාල ඇත්ත වසං කරල මේ සමාජය ගසාගෙන කන වැඩපිළිවෙලක් ඇත්නම්, ඊට සම්බන්ධ රජය හෝ වෙනත් පාලක මඩුල්ලක් ඇත්නම්, ඒ සියල්ල නතර කරල දැහැමින් පාලනය කිරීම. එහෙම කාලයක් ආවොත් කෘමි උවදුරත් නතර වෙනවා. ඒක පටිච්ච සමුප්පාදය තුළින් දැනගන්න පුළුවන් ක්‍රමයක්."

සටහන:
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 55 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය** - ♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ♦ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ♦ දර්ශන පෙරේරා මහතා - පිළියන්දල ♦ දුමින්ද බන්දුරත්න මහතා - යක්කල ♦ ඩී.සී.ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය -පිටකෝට්ටේ ♦ පර්ෆෙක්ට් ඩිසයින් කම්පියුටර් ආයතනයේ කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය♦ නන් අයුරින් දායක වූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය** -

♦ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ♦ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ♦ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු.10,000/- ♦ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දුව - ගල්කිස්ස- රු. 10,000/- ♦ කමණී වසන්තා රණවීර මෙනවිය - බැද්දගාන, පිටකෝට්ටේ - රු. 10,000/- ♦ අමිල සල්ගාදු මහතා, ජයන්ත සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 8,000/- ♦ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ♦ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු.5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු.5,000/-♦ අමරසිංහ මහත්මිය ඇතුළු පවුලේ සැම - කුරුණෑගල - රු. 5,000/- ♦ වෛද්‍ය තාරක බස්නායක මහතා - නුගේගොඩ - රු. 5,000/- ♦ Mr. Patrick Kelly - Australia & Mr. Amila Salgadu - Bomiriya - 5,000/- ♦ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ♦ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ♦ කේ.එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ♦ ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/- ♦ විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු.2,500/- ♦ ලලිත් වසන්ත මහතා ඇතුළු පිරිස - ටොරින්ටන් - රු.2,500/- ♦ ඩී. ඩී. විතාරණ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2500/- ♦ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/-♦ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ♦ ඩබ්. උපුල් පරාක්‍රම ද සිල්වා මහතා - මාරවිල - රු.2,000/- ♦ සංජය රණවීර මහතා - මහරගම - රු.2,000/- ♦නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු.2,000/- ♦ කෝසල ජයතිලක මහතා - අකරවිට, ගම්පහ - රු.2,000/- ♦ දිනේෂ් ගමගේ මහතා ඇතුළු පවුලේ සැම - කිරිල්ලවල - රු.2,000/- ♦ සකුන්තලා ඒකනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - බත්තරමුල්ල - රු. 2000/- ♦ කේ. ඒ. ජයරත්න මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගස්ඕවිට - රු. 2000/- ♦ නම සඳහන් නොකළ පිංවතෙක් - මාතර - රු. 2000/- ♦ ස්වර්ණා රණතුංග මහත්මිය - තල්පාවිල, මාතර - රු. 2000/- ♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ♦ තිලානි ද සිල්වා මහත්මිය සහ හේමාල් ද සිල්වා මහතා - මොරටුව - රු.1,500/- ♦ ජේ.කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු.1,340/- ♦ ඕෂිනී පෙරේරා මහත්මිය සහ නමින්ද ලියනගේ මහතා - මිරිහාන - රු.1,000/- ♦ කුමාරි විජේකෝන් මහත්මිය - මීනුවන්ගොඩ - රු. 1000/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ♦ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු.1,000/- ♦ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු.1,000/- ♦ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ශ්‍රේරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/-♦ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු.1,000/-♦ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර - රු. 1,000/-♦ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ♦ සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ♦ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු.1,000/- ♦ ඒ. විල්සන් පෙරේරා සහ එම්. කල්‍යාණි පෙරේරා යන දෙපළට පිං පිණිස ජයරාණි නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - - රු. 1,000/- ♦ ජී.ඩී.ඩබ්. සෝමරත්න මහතා - පයාගල - රු. 1,000/- ♦ සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු.1,000/- ♦ ඒ. ධර්මපාල මහතා - එල්ලක්කල - රු.1,000/- ♦ සුජාන් කරස්නාගොඩ මහතා ඇතුළු පවුලේ සැම - ගම්පහ - රු. 1000/- ♦ ඒ. ඒ ගීතානි මහත්මිය - මහරගම - රු. 1000/- ♦ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1000/- ♦ අසංග සෙනරත් අඹගල මහතා - රදාවාන - රු. 1000/- ♦ කෝසල මධුරංග මහතා - රදාවාන - රු. 1000/- ♦ ජී. කේ. ඒ. ආර්. ඩී කොඩිකාර මහතා - රදාවාන - රු. 1000/- ♦ සාවිත්‍රි මුණසිංහ මහත්මිය - මීනුවන්ගොඩ - රු. 1000/- ♦ අමරා විතාරණ මහත්මිය - ඇඹිලිපිටිය - රු. 1000/- ♦ ඒ. ඒ. එන් අමරසිංහ මහතා - අවුලේගම - රු. 1000/- ♦ එම්. එස්. ගලප්පත්ති මහත්මිය - මාලබේ - රු. 1,000/- ♦ වයලට් වික්‍රමාරච්චි මහත්මිය - කටුබැද්ද - රු. 1,000/- ♦ ආර්. ඒ. ගිහාන් චතුරංග මහතා - නිකපේ - රු. 1,000/- ♦ පී. රුවිනා දීපානි මහත්මිය ඇතුළු ☞

පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 1,000/- ♦ විමල් ගුණතිලක මහතා ඇතුළු පවුලේ සැම - පිරිපන - රු. 1,000/- ♦ එම්. ජී. දුමින්ද බණ්ඩාර මහතා - යක්කල, තිස්ස බී අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජා ඇල, එම්.ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, පසන් සිරිවර්ධන මහතා - රත්මලාන, අසෝකා මෙන්ඩිස් මහත්මිය - තිඹිරිගස්යාය, මෙවන්කා සුජානි මෙනවිය - මීගොඩ, දයා එදිරිසිංහ මහත්මිය - වලස්නාගල, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුහාෂිනී දිසානායක මහත්මිය, කුසුමාවතී ගුණතිලක මහත්මිය, ජී.එම් ගමගේ මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, චන්දිම ගුණදාස මහතා - මොරටුව, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය, - කුරුණෑගල, යමුනා උඩුමලගල මහත්මිය - පිළියන්දල, රසික තුශාන්ත මහතා - හෝමාගම, චතුර මල්වාන මහතා - කෑගල්ල, අමලා මධුරි ගුණවර්ධන මෙනවිය - පින්නවල, ගයාන් අගලවත්ත මහතා - හේමාස් ආයතනය, පී. ඩී සචින්ත දේශප්‍රිය මහතා - දොඩන්ගොඩ - එකතුව - රු. 7,150/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු.184,490/- ♦ පළමු පිටපත් 10000 සඳහා මුද්‍රණ වියදම රු. 243,500/- ♦ අනෙකුත් වියදම් - 15,150/- ♦ සම්පූර්ණ වියදම - රු. 258,650/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

## සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන ත්‍රෛකාල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net www.aaryadharma.org

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895 / 036-2267111 / 072 7076688

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සැම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

(1) ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ (2) නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ. (0714220558 / 0112744308) (3) නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023 (4) පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම - 0112895132 (5) සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව. (6) පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369 (7) ස ර ස වි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081 (8) හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041-3021878 (9) පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 0718149714 (10) යාපා ටෙක්ස් (සීබ්‍රා ඇපරල්ස්) - 150, නව ආර්ථික මධ්‍යස්ථානය, කෑගල්ල. - 0714569500, 035-3222220 (11) නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (0773742023) (12) දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට) සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0718059784, 0772055098 (13) තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 0112857572 (14) තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 0766114237 (15) ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල. - 091-2242610 (16) නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041-2225118 (17) සහන ෆාමසි - මුණගම, හොරණ - 0712608776 (18) මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල. (19) දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 0719856555

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***



# මාර පරාජය







සිදුහත් කුමරු අභිනික්මන් කරන කල
වසවත් මරු කියයි කුමරුනි කිමද එල
අතපත් සැපත සක්විති රජ කිරුළ බල
පැණවත් පිනැතියෙකු කිසි කල නොයුතු හළ

නේරංජනා ගං තෙර වැලි තලා වේ
බෝසත් තුමා වැඩ හිඳ හුද කලා වේ
වෑයම් කළා තතු දනු බව මුලා වේ
වාදන් කියා එයි මරු එම වෙලා වේ

බවුන් වඩනු ලෙස ඇයි වෙහෙසෙනු කුමට
නිතින් දුකකි එය රජ කුමරුනි ඔබට
කයින් දුබල වනු මිස විඳ ගෙන ගැහැට
ඉතින් කිම එලය යනු මෙහෙසිය වෙතට

එම් බල මරුව දනු මස් ලේ විය ලුනද
සවි බල සිතද නුවණද දැඩි වෙයි තවද
කම් එල නොදත් තොප පැන විමසනු කුමද
නිස් එල බව සිතව යව නොකරව වරද

සේසත් කොඩි රැගත් දෙව් බඹ පිරිස මැද
බෝසත් සමණ බෝ රුක යට පළඟ බැඳ
පෑ මෙත් සිතින් දැහැනට සම වැදුන සඳ
රුමත් මරඟනෝ එති සිල් බිඳින ලෙද

ගිරි මෙවුලා ඇතා පිට නැගි තෙද බලැති
පිරි සද සමග මරු තෙම සටනට වදිති
සිරි කොට පිරුව පාරමි බල ගෙන පිනැති
සිරි මත් මහ සමණ මරු තෙද බල බිඳිති

පබැඳුම - කාව්‍ය ශිරෝමණී එස්. ඒ. එස්. පෙරේරා, පානදුර

අනන්ත ගුණයන් රන් කහවනු සහලින් පුදන

# කිරිපිඬු ලක්ෂයේ

## අති උත්තම බුද්ධ පූජා උපහාරය



**රහතුන් වහන්සේලා ලක්ෂ ගණනින් මේ මහා පින් බිම තුළ පහළ වේවා**
**සියලු ලෝ වැසියන්ගේ නිවන පෙරටු කොටගත් මෙලොව, පරලොව යහපත සැළසේවා**
**යන පරම පිවිතුරු අදිටනින් යුතුව**

යථා දහම ලොවට හෙළි කළ අසමසම මහා ගුණයෙන් යුතු බුදුරජාණන් වහන්සේලා උදෙසා තෝරා බේරා ගන්නා ලද කඩතොළු නොවූ රන් කහවනු සහල් ඇට ලක්ෂයක් දිය මුසු නොකොට නෙළුම් මලක හැඩයට හා සුවඳින් යුතු කිරිපිඬු පූජාවක් කරවා, පුරාණ හෙළ බොදුනුවන් ගරු පූජා උපහාර කළ ආකාරයට ඇත්, අස්, ගව, දෝළා, කද, පන් පෙට්ටි ආදියෙන්ද කස, හේවිසි, හොරණෑ ආදී උඩරට පහතරට හෙළ අංගයන්ගෙන්ද පිරුණු හරවත් පෙරහරකින් වැඩමවාලීමටද,

අගසව් සැරියුත්, මුගලන් මහරහතන් වහන්සේලා මුල් කොට මහා සඟ පරපුර සිහි කරමින් අතීත, වත්මන්, අනාගත තුන් කල් වැඩ වසනා අනත අපමණ අරිය මහා සඟ රුවන උදෙසා නෙළුම් මලක හැඩයෙන් යුත් දිය මුසු වූ කිරිපිඬු ලක්ෂයක් එම පෙරහරේම වැඩමවාලීමටද නියමිතය.

පින් කැමැති ඔබත් මෙම අති උතුම් දුලබ පූජා උපහාරය සඳහා වෙහෙස මහන්සියෙන්, ධනයෙන්, සිතිවිලි මාත්‍රයකින් හෝ සහසම්බන්ධ වෙමින් නිවන පෙරටු කොටගත් මෙලොව, පරලොව යහපත පිණිස හේතු වාසනා උදාකර ගනිත්වා !

පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් වහන්සේගේ
ආශිර්වාදයෙන් හා අනුශාසකත්වයෙන් යුතුව

## වර්ෂ 2016 ක් වූ වෙසක් මස පුන් පොහෝ දින
## වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේදී


වැඩි විස්තර සඳහා අමතන්න

සම්පත් මහතා : 0777 193 907
දේවප්‍රිය මහතා : 0770 735 572
අසේල මහතා : 0714 455 332
චන්ද්‍රසේකර මහතා : 0771 620 072



නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී.